# ප්‍රායෝගික
# හා
# තාක්ෂණික කුසලතා

## 9 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරි නැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

පුණ්‍යා කුමාරි ප්‍රියංගිකා — සහකාර අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

මහාචාර්ය ඒ. එම්. තමරා පී. අතාවුද — කෘෂි ව්‍යාපාර කළමනාකරණ අධ්‍යයන අංශය,
ශ්‍රී ලංකා වයඹ විශ්වවිද්‍යාලය

ආචාර්ය ජුලියන් නානායක්කාර — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
කර්මාන්ත පරිපාලන අධ්‍යයන අංශය,
විද්‍යා පීඨය,
කැලණිය විශ්වවිද්‍යාලය

ආචාර්ය පී.ඩබ්.පී. ප්‍රසන්න — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
සත්ත්ව හා ආහාර විද්‍යා දෙපාර්තමේන්තුව,
කෘෂි විද්‍යා පීඨය,
රජරට විශ්වවිද්‍යාලය

කේ. එම්. ජී. එන්. ටී. ඩයස් — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
තාක්ෂණ අධ්‍යාපන දෙපාර්තමේන්තුව,
විද්‍යා හා තාක්ෂණ පීඨය,
ජාතික අධ්‍යාපන ආයතනය

එල්. එස්. කේ. වික්‍රමසිංහ — සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ (තාක්ෂණ),
අධ්‍යාපන අමාත්‍යංශය

පුණ්‍යා කුමාරි ප්‍රියංගිකා — සහකාර අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

ටී. මදිවදනන් — ගුරු උපදේශක,
කලාප අධ්‍යාපන කාර්යාලය,
පිළියන්දල

## ලේඛක මණ්ඩලය

| | |
|---|---|
| ඉසුරි අචින්තා ජයවර්ධන | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>සත්ත්ව හා ආහාර විද්‍යා දෙපාර්තමේන්තුව,<br>කෘෂි විද්‍යා පීඨය,<br>රජරට විශ්වවිද්‍යාලය |
| බී. ඩී. ආරියවංශ | ගුරු සේවය,<br>වැලිගම සිද්ධාර්ථ විද්‍යාලය |
| ජේ.ආර්. ලංකාපුර | ගුරු සේවය,<br>කු/ගිරි වික්‍රමශීලා ජාතික පාසල |
| කේ. ඩබ්. කේ. ඩී. කරවිට | ගුරු සේවය,<br>බප/හෝ/හංවැල්ල රාජසිංහ මධ්‍ය විද්‍යාලය |
| පී. වී. එස්. ඩී සිරිවර්ධන | අධ්‍යාපන අධ්‍යක්ෂ (විශ්‍රාමික) |
| බී. එන්. සමරසිංහ | ගුරු උපදේශක (විශ්‍රාමික) |
| එම්. එච්. එම්. යාකුත් | ජ්‍යෙෂ්ඨ ව්‍යාපෘති නිලධාරි (විශ්‍රාමික) |
| එම්.එච්.එම්. බුහාරි | ගුරු උපදේශක (විශ්‍රාමික) |
| පී. සෙල්වකුමාරන් | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>කොළඹ |

## භාෂා සංස්කරණය හා සෝදුපත් කියවීම

| | |
|---|---|
| ප්‍රීති විමලසිරි | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>ශ්‍රී ජයවර්ධනපුර |

## පිටකවර නිර්මාණය

| | |
|---|---|
| ඩබ්. සංගීතා නෙළුම් කුමාරි | පරිගණක තාක්ෂණික සහායක,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පරිගණක අක්ෂර සංයෝජනය

| | |
|---|---|
| ඩබ්. සංගීතා නෙළුම් කුමාරි | පරිගණක තාක්ෂණික සහායක,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## හැඳින්වීම

9 ශ්‍රේණියේ දී, ඔබ අධ්‍යයනය කරනු ලබන ප්‍රායෝගික හා තාක්ෂණික කුසලතා විෂයය සමස්තයක් ලෙස ව්‍යාපෘති පාදකව ක්‍රියාත්මක වීම ඔබ ලැබූ භාග්‍යයක් ලෙස දැක්විය හැකි ය. එසේ වන්නේ විවිධ ඉගෙනුම ක්‍රම අතරින් ව්‍යාපෘති පාදක ඉගෙනුම් ක්‍රමය මුළුමනින් ම ප්‍රායෝගික, පර්යේෂණාත්මක හා ගවේෂණාත්මක ක්‍රියාකාරකම් හා බැඳුණු අත්දැකීම් මගින් ස්වකීය දැනුම, කුසලතා හා ආකල්ප සංවර්ධනය කරගත හැකි, ඵලදායී ඉගෙනුම් ක්‍රමයක් වන බැවිනි.

8 ශ්‍රේණියේ දී, මෙම විෂයට අදාළ එක් එක් තාක්ෂණික විෂය ක්ෂේත්‍රය (ආහාර, කෘෂිකර්මය, ආරම්භක තාක්ෂණවේදය හා ව්‍යාපාර) සඳහා එක් ව්‍යාපෘතිය බැගින් සිදු කළ බව ඔබට මතක ඇත. 8 ශ්‍රේණියේ විෂය නිර්දේශයෙහි දිගුවක් ලෙසින් 9 ශ්‍රේණියේ දී පුළුල් ව හා සැලසුම් සහගතව ව්‍යාපෘති කාර්යයන්හි නියැලීමට ඔබට අවස්ථාව ලැබී ඇත. තව ද, උචිත ව්‍යාපෘති තේමාවක් තෝරා ගැනීමට ඔබට නිදහසක් ලැබී ඇත.

එක් එක් විෂයය ක්ෂේත්‍රයට අදාළව ඔබ හෝ ඔබගේ කණ්ඩායම විසින් ක්‍රියාත්මක කරනු ලබන ව්‍යාපෘතියේ දී ඔබ ඉගෙනුම ලබා ඇති අනෙකුත් විෂයයන් හා බැඳුණු දැනුම හා කුසලතා ද, ප්‍රායෝගිකව යොදා ගැනීම මගින් හඳුනා ගන්නා ගැටලුවකට සාර්ථක විසඳුමක් ලබා දීමේ හැකියාව ලැබේ. එසේ ම තම කණ්ඩායම සමඟ මෙන් ම, බාහිර පුද්ගලයන් සමග ද කටයුතු කිරීම මගින් තම දැනුම පෝෂණය කර ගැනීමට මෙන් ම සමාජානුයෝගී බව සංවර්ධනය කර ගැනීමට ද හැකි වේ. සෑම ව්‍යාපෘති කාර්යයක ම එක් අවසන් ඉලක්කයක් වන්නේ ඔබ තුළ සාර්ථක ව්‍යවසායකයෙකු සතුව පැවතිය යුතු ගුණාංග ගොඩ නැංවීමයි. එනම් ඔබ නවෝත්පාදකයෙකු ලෙසින් සමාජගත කිරීමට අවශ්‍ය මූලික අඩිතාලම දැමීමයි.

6, 7, 8 හා 9 ශ්‍රේණිවල දී ප්‍රායෝගික තාක්ෂණික කුසලතා විෂයයට අදාළ ව ඔබ ඉගෙනුම ලබන විවිධ තාක්ෂණික ක්ෂේත්‍ර පිළිබඳ අවබෝධය මෙන්ම එම විෂය කෙරෙහි ඇති ඇල්ම තාක්ෂණික කාර්යයකට යොමු වීමට ඇති කෙරෙන පෙළඹවීමට පිටිවහලක් වනු ඇත. ඔබ අනාගතයේ කුමන වෘත්තීය ක්ෂේත්‍රයකට යොමු වුව ද, එමගින් අනාගත අභියෝග ජය ගැනීමට හැකි පුද්ගලයෙකු බවට පත් කරවයි.

ඔබගේ ව්‍යාපෘති කාර්යය කුමක් වුව ද, එහි සංවර්ධනයට හා එය පහසු කර ගැනීමට නූතන තාක්ෂණය යොදා ගැනීමට යොමු වීමට ඔබට අවකාශය ලැබී ඇත. විශේෂයෙන්, පරිගණක සහාය කර ගනිමින් තම ව්‍යාපෘතියේ විවිධ අංග සිදු කළ හැකි වේ. වදන් සැකසුම් මෘදුකාංග හා දත්ත සැකසීමේ මෘදුකාංග මෙන්ම වෙනත් උචිත පරිගණක මෘදුකාංග භාවිතයට යොමු වීමට මෙම ව්‍යාපෘති හේතුවක් කරගත හැකි වේ.

**ව්‍යාපෘති ස්වභාවය**

ව්‍යාපෘතියක් යනු පන්ති කාමර ඉගෙනුම් පරිසරයෙන් බැහැර ව, විවිධ විෂය සංකල්ප ප්‍රායෝගික ව ක්‍රියාවට නංවන්නක් බවත්, ඵලදායී නිමැවුමක් බිහි කරන්නක් බවත් ඔබ මේ වන විට හඳුනාගෙන ඇත. මෙහි දී නිමැවුමක් ලෙස, භෞතික හෙවත් අතින් ඇල්ලීමට හැකි දෙයක් බිහි කිරීම අත්‍යවශ්‍ය යයි අදහස් නොවේ. එය භෞතික නොවන, අතින් ඇල්ලිය හැකි නොවන දෙයක් වුව ද විය හැකි යි. සාර්ථක ව්‍යවසායකයෙකු ලෙසින් ගනු දෙනුකරුවන් වර්ධනය කර ගැනීම ද නිමැවුමක් වෙයි.

ව්‍යාපෘතියක් සැලසුම් සහගතව සිදු කරන්නකි. එය නිශ්චිත කාල පරාසයක් තුළ සිදු කළ යුත්තකි. පාසලේ දී එක් ව්‍යාපෘතියක් සඳහා ඔබට ලැබෙන මුළු කාලය සති 3කි. ඔබගේ ව්‍යාපෘතිය ඒ අනුව සැලසුම් කළ යුතු අතර, එය ක්‍රියාවට නැංවිය යුත්තේ ක්‍රියාකාරී සැලසුමට අදාළ කාල රාමුවට අනුවයි.

ව්‍යාපෘතියක විවිධ කාර්ය සමූහයක් පවතී. ඒවා වෙන් වෙන් ව මෙන් ම, සමස්තයක් ලෙසින් පහත ක්‍රියාවලට යටත් වේ.

- **සැලසුම් කිරීම** (planing)

සෑම ක්‍රියාකාරකමක් ම මෙන් ම සමස්ත ව්‍යාපෘතිය ද, සැලසුම් කිරීම වැදගත් වේ. එහි දී, කාලය, සම්පත් ( ද්‍රව්‍ය, උපකරණ, ශ්‍රමය, දැනුම) යනාදිය යොදවා ගැනීම පිළිබඳ ව මෙන් ම එක් එක් කාර්ය ක්‍රියාවට නැංවීම සැලසුමට අයත් වේ.

- **තීරණ ගැනීම** (Decision Making)

සැලසුම් කිරීමේ දී මෙන් ම ක්‍රියාවට නැංවීමේ දී විශේෂයෙන් නිවැරදි තීරණ ගැනීම ව්‍යාපෘතිය සාර්ථක කර ගැනීමට හේතු වේ. මෙහි දී කාලය, සම්පත් හා ඵලදායී බව පිළිබඳ ව සැලකිල්ලට ගැනීම ඉතා වැදගත් ය.

- **ක්‍රියාත්මක කිරීම** (Implementation)

ව්‍යාපෘතියට අයත් සෑම ක්‍රියාකාරකමක් ම සැලසුම් කර ඇති පරිදි ක්‍රියාත්මක කිරීමෙන් ව්‍යපෘතියෙහි සාර්ථක නිමාවක් දැකිය හැකි වේ. මෙහි දී ක්‍රියාකාරී සැලැස්මෙහි (Action plan) එන කාල රාමුව ඉතා වැදගත් වේ. කාල රාමුව යනු සැලසුම් කළ කාර්යය පිළිවෙළ හා එක් එක් කාර්යයේ ආරම්භය හා නිමාව දැක්වෙන සටහනයි.

- **පසු විපරම** (Post Evaluation)

සෑම ව්‍යාපෘති පියවරක දී ම (ව්‍යාපෘතියට අයත් සෑම කාර්යයක දී ම) එහි සාර්ථකත්වය පිළිබඳව විමසීම කළ යුතු වේ. එයින් සෑම පියවරක ම පැවතිය හැකි අඩු ලුහුඩුකම් හඳුනා ගනිමින් හා නිවැරදි කරමින් තම ව්‍යාපෘතිය නිසි මග ඔස්සේ ක්‍රියාත්මක කළ හැකි වෙයි.

**ස්වනිර්මාණ සංග්‍රහය**

ව්‍යාපෘතිය පිළිබඳ හා එයට අදාළ, ලිපි, ලේඛන හා තොරතුරු ඇතුළත් ගොනුව **ස්වනිර්මාණ සංග්‍රහය** නම් වේ. ව්‍යාපෘතිය ආරම්භය වන, ගැටලුව හඳුනා ගැනීම මෙන් ම ව්‍යාපෘතියට අදාළ තේමාව තෝරා ගැනීමේ පටන් නිමැවුම එළි දැක්වීම දක්වා වූ සියලු පියවරවල දී ලිපි, ලේඛන, තොරතුරු හා වෙනත් දෛනික වාර්තා තබා ගැනීම හා රැස් කර ගැනීම ව්‍යාපෘතිය ඇගයීමට මූලික කරගන්නා ප්‍රධාන සාධකයක් වෙයි.

ඔබගේ ව්‍යාපෘතියේ ස්වභාවය විෂය ක්ෂේත්‍රය අනුව විවිධ වෙයි. එක් එක් තාක්ෂණික විෂය ක්ෂේත්‍රය තුළ නම්‍යශීලි ව තම ව්‍යාපෘති කාර්යය සාර්ථකව කර ගැනීම මගින් උසස් පෙළ හා ඉන් ඔබ්බට, ඔබ කළ යුතු වන ව්‍යාපෘතිවල ඇති විවිධත්වය හඳුනා ගනිමින් එය වඩාත් සාර්ථකව කර ගැනීමට ඔබ සතු හැකියාව ඔප් නැංවනු ඇත.

# පටුන

තාක්ෂණික ක්ෂේත්‍රය

# 1 කෘෂිකර්මය

## 1.1 කෘෂි ව්‍යවසායකත්වය වෙත යොමු වෙමු

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- ආර්ථික වශයෙන් ලාභ ලැබිය හැකි සුළු පරිමාණයේ ගෙවතු ව්‍යාපාර හඳුනා ගැනීමටත්,
- අවශ්‍ය නිමැවුම ලබා ගැනීම සඳහා සුදුසු යෙදවුම් තෝරා ගැනීමටත්,
- කෘෂි නිෂ්පාදන හා සේවා සැපයීමේ ක්‍රියාවලිය සැලසුම් කිරීමටත්,
- කෘෂි නිෂ්පාදන හා සේවා සැපයීමටත්,
- අන්තර්ජාලයේ පවතින කෘෂිකර්මය සම්බන්ධ වෙබ් අඩවි පරීක්ෂා කර තොරතුරු ලබා ගැනීමටත්,

හැකියාව ලැබෙනු ඇත.



මනා සැලැස්මක් සහිතව විධිමත් ගෙවත්තක් සැකසීම පිළිබඳව හා ඉන් ලබාගත හැකි විවිධ ප්‍රතිලාභ පිළිබඳව ඔබ අධ්‍යයනය කර ඇත. නිසි පරිදි කළමනාකරණය කරනු ලබන ගෙවත්තක් පවුලේ ආහාර ආර්ථිකයට (Food Economy) මහඟු පිටිවහලකි. ගුණාත්මක බවෙන් ඉහළ කාබනික කෘෂි නිෂ්පාදන මගින් පවුලේ සාමාජිකයින්ට සමබල පෝෂණයක් ලබා ගත හැකි බව අපි දනිමු. මෙම සියලු ප්‍රතිලාභවලට අමතරව ගෙවත්තෙන් ලැබෙන අතිරික්තය යොදා ගනිමින් එය ආර්ථික වශයෙන් ලාභ ඉපයිය හැකි ව්‍යාපාරයක් දක්වා සංවර්ධනය කළ හැකි ආකාරය පිළිබඳ ව අපගේ අවධානය යොමු කරමු.



සැලසුම් කර පිහිටුවන ලද ගෙවත්තක්

## ගෙවතු වගාවෙන් ආදායම් උපදවන කෘෂි ව්‍යවසායකත්වය වෙත යොමු වෙමු

නිවැසියන්ට සෞඛ්‍යාරක්ෂිත ව ගුණාත්මක ආහාර සපයා ගැනීමේ මූලික පියවර වනුයේ තිරසාර ගෙවත්තක් නිර්මාණය කිරීමයි. තිරසාර ගෙවත්තකින් ලැබෙන නිෂ්පාදන අතිරික්තය අලෙවි කිරීම සහ වෙනත් විවිධ අගය එකතු කළ කෘෂි නිෂ්පාදන සහ කෘෂිකර්මය හා සම්බන්ධ සේවා පාරිභෝගිකයන් වෙත සැපයීම මඟින් ගෙවත්ත ව්‍යාපාරයක් දක්වා සංවර්ධනය කර ගත හැකි වේ.

මේ සඳහා පාසලේ දී ඔබට අත්දැකීම් ලබා දිය හැකි ව්‍යාපෘති කරා යොමු කිරීම මෙම පරිච්ඡේදයේ දී සිදු කෙරේ. ඒ අනුව පාසලේ අලෙවි ඒකකයක් ස්ථාපනය කර පාසල තුළ කෘෂි නිෂ්පාදන සහ කෘෂි සේවා ලබා දීමට කටයුතු කිරීමෙන් ඔබටත් කෘෂි ව්‍යවසායකත්වය කරා යොමු වීමට ඇති හැකියාව පිළිබඳ ස්වයං අවබෝධයක් ලබා ගත හැකි වනු ඇත.

ගෙවතු වගාවට අදාළ ව්‍යාපාරික අවස්ථා හඳුනා ගැනීමෙන් පසුව එවැනි ව්‍යාපාරයකට යොමු වීම සඳහා අවසාන දැක්මක් ඇති කර ගත යුතු වේ. මෙහි දී පළමුව වෙළෙඳ පොළ ඉල්ලුම පිරික්සීමට ඔබට සිදු වේ. ඒ අනුව ආදායම් ඉපදවිය හැකි කෘෂි නිෂ්පාදන හා සේවා හඳුනා ගත හැකි වනු ඇත. එලෙස ම මූලික යෙදවුම්, නඩත්තු වියදම් හා ආදායම් අනුව පිරිවැය ප්‍රතිලාභ සැසඳීමට ද ඔබට හැකියාව ලැබෙනු ඇත.

කෘෂි නිෂ්පාදන යනු සෘජුව ම භාවිත කළ හැකි පරිදි බෝග වගාව හා සත්ත්ව පාලනය මඟින් ලබා ගන්නා විවිධ නිෂ්පාදන යි. කෘෂි නිෂ්පාදනයක් ලබා ගැනීම උදෙසා කරනු ලබන සැපයුමක් කෘෂි සේවාවක් ලෙස සැලකේ. මෙහි දී කෘෂිකර්මයේ නිරත වන්නන්ට ඇති වන අවශ්‍යතා සපුරාලීම හෝ එහි දී ඔවුන්ට මුහුණ පෑමට සිදු වන ගැටලුවලට විසඳුම් ලබා දීම සිදු කළ හැකි ය.



පාසලක කෘෂි නිෂ්පාදන අලෙවි සැලක්

## කෘෂි නිෂ්පාදන හා කෘෂි සේවා සැපයිය හැකි වන පරිදි ගෙවත්තක් සංවර්ධනය කිරීමේ දී අවධානය යොමු කළ යුතු කරුණු

- **ප්‍රාදේශීය ව පවතින ඉල්ලුම**

ප්‍රාදේශීය සම්පත් සහ පවතින සමාජ ආර්ථික තත්ත්වය අනුව කෘෂි නිෂ්පාදන හා කෘෂි සේවාවලට පවතින ඉල්ලුම වෙනස් වේ.

උදහරණ:

- වගාව සඳහා සුදුසු භූමිය බහුල ප්‍රදේශවල බීජ සහ තවාන් පැළ සඳහා වැඩි ඉල්ලුමක් පැවතීම
- කුඩා ඉඩකඩක් සහිත බිම් කොටස්වල නව නිවාස ඉදි කෙරෙමින් පවතින අවස්ථාවල දී භූමි අලංකරණ කටයුතු සඳහා බද්ධ පලතුරු පැළ, බඳුන්ගත පලතුරු පැළ සහ විසිතුරු මල් පැළ සඳහා ඉල්ලුම වැඩි වීම
- ඉහළ ක්‍රය ශක්තියක් සහිත පුද්ගලයන් වාසය කරන ප්‍රදේශවල බඳුන්ගත කරන ලද, වැඩුණු, පල දරන, වැඩි මිලකින් යුත් පලතුරු ශාක සහ විසිතුරු පැළ සඳහා ඉල්ලුම වැඩි වීම

- **සම්පත්වල සුලබතාව**

සම්පත් යනු වගා කටයුතු සඳහා අවශ්‍ය භූමිය, ජලය, හිරුඑළිය, පස, තාක්ෂණික දැනුම, ප්‍රාග්ධනය, වැය කළ හැකි කාලය සහ ශ්‍රමය ආදිය යි.

උදහරණ:

- හොඳින් හිරු එළිය ලැබෙන ස්ථානවල ආලෝකය ප්‍රිය කරන එළවළු, පලතුරු ආදිය ද, සෙවණ සහිත ස්ථානවල සෙවණ ප්‍රිය කරන විසිතුරු පැළ ද නිපදවීම
- අන්තර්ජාල පහසුකම් සහිත අවස්ථාවල දී නව තාක්ෂණික දැනුම ලබා ගෙන බෝග වගාවේ නව ප්‍රවණතා කරා යා හැකි වීම

- **අලෙවි පහසුකම්**

ගෙවත්ත ප්‍රධාන මාර්ගයක් ආසන්නයේ පිහිටියේ නම් ගනුදෙනුකරුවන්ට පහසුවෙන් ළඟා විය හැකි බැවින් වැඩි ආදයමක් ලබාගත හැකි ය.

- **වගා පාලන වාර්තා හා මූල්‍ය වාර්තා පවත්වාගෙන යාම**

ආදයම් හා වියදම් සසඳා බලා ලාභ අලාභ ගණනය කිරීම සඳහා වගා පාලන වාර්තා හා මූල්‍ය වාර්තා තබා ගත යුතු ය.

## ආදායම් ලැබිය හැකි කෘෂි නිෂ්පාදන

- **බෝග අස්වනු**

එළවළු, පලතුරු, අල හා පලා ආදි බෝගවල අස්වනු තම පරිභෝජනය සඳහා අවශ්‍ය ප්‍රමාණය තබා අතිරික්තය නෙළා ගත් අයුරින් ම අලෙවි කළ හැකි ය.

උදාහරණ:

- බණ්ඩක්කා, මිරිස්, බතල ආදි බෝග අස්වනු
- පිරිසිදු කර, නැවුම් බව සුරැකෙන පරිදි අසුරන ලද පලා වර්ග



**අලෙවි කිරීම සඳහා සූදානම් කරන ලද එළවළු හා පලා**

**ක්‍රියාකාරකම් 1.1**



**පලා දලු අස්වනු මිටක්**




මේ සඳහා නිෂ්පාදන ක්‍රමවේදය පහත දක්වා ඇත. රූපයේ පරිදි මුගුණුවැන්න ඉත්තකින් දඬු වර්ග 3ක් සකස් කර ගත හැකි ය. එනම් මේරූ දඬු (දළ දඬු), අඩ දළ දඬු සහ ළා දඬු වශයෙනි.

- සිටුවීමට සුදුසු පරිදි මුකුණුවැන්න දඬු සකස් කර ගන්න.
- සකස් කර ගත් දඬු වර්ග 3 වෙන් වෙන්ව සිටුවා ගන්න. මේ ආකාරයට පලා බෝගය සිටු වීමෙන් පලදාව අඛණ්ඩ ව ලබා ගත හැකි වේ.
- ළා දඬු පළමුව ඉක්මණින් ද, අඩ දළ දඬු, දෙවනුව ද දළ දඬු සෙමෙන් ද පැළවන ආකාරය නිරීක්ෂණය කරන්න.
- පළමුව ළා දඬුවලින් ලැබෙන දලු නෙළා ගන්න.
- නෙළා ගත් අස්වැන්න පිරිසිදු ජලයෙන් සෝදන්න.
- ජලය හොඳින් ඉවත් වූ පසු සුදුසු අසුරනයක අසුරන්න.

දින කිහිපයකට පසු දෙවනු ව අඩ දළ දඬුවලින් ලැබෙන දලු ද තුන්වනු ව තවත් දින කිහිපයකට පසු දළ දඬුවලින් ලැබෙන දලු නෙළා ගත හැකි ය.

● එක ම බඳුනක පැළ වර්ග කිහිපයක් සිටුවා කට්ටල ලෙස සකස් කිරීම

මුළුතැන්ගෙයි ඉවුම් පිහුම් කටයුතු සඳහා අවශ්‍ය කරපිංචා, රම්පේ, සේර, බැසිල්, මිංචි, වැනි බෝග වර්ග එක ම බඳුනක සිටුවා සිඟිති උයනක් ලෙස සකස් කළ හැකි ය. මේ සඳහා රෙරෙසෝම සහිත ඉඟුරු සහ කහ පැළ ද එකතු කළ හැකි ය. මෙවැනි බෝග කට්ටලයක් සඳහා වෙළෙඳපොළ හොඳ ඉල්ලුමක් පවතී.

මේ සඳහා බඳුන් ලෙස භාවිතයෙන් ඉවත ලන වේවැල් කූඩ, ලිපි ගොනු බන්දේසි හෝ වළං යනාදිය යොදා ගත හැකි ය.




බෝග කිහිපයක් සිටුවා නිර්මාණය කරන ලද බෝග කට්ටල

● බෝග අස්වනු ආශ්‍රිත කෘෂි නිෂ්පාදන

පරිභෝජනයට පහසු වන පරිදි බෝග අස්වනු තව දුරටත් සකස් කර වෙළෙඳපොළට ඉදිරිපත් කළ හැකි ය. එමගින් වැඩි ලාභයක් ද උපයා ගත හැකි වේ.

උදාහරණ :

- කැබලිවලට කපා සකස් කර අසුරන ලද පොළොස්
- අංකුර අද්දවා ඇසුරුම් කරන ලද මුං, කව්පි ආදී බීජ (Seed Sprouts)
- කැබලිවලට කපා අවම ලෙස සැකසූ පලතුරු හා එළවළු
- කැබලිවලට කපා වියළා ඇසුරුම් කළ එළවළු
- සුප් හෝ කැඳ ලෙස ක්ෂණික ව සකස් කර ගත හැකි පරිදි වියළා කුඩු කරගත් සහල්, මාශබෝග, එළවළු ආදිය



අවම ලෙස සකසන ලද පලතුරු



අංකුර අදින ලද මුං බීජ

ක්‍රියාකාරකම් 1.2



## අංකුර අදින ලද බීජ සකස් කරමු

**අවශ්‍ය ද්‍රව්‍ය**

මුං හෝ කව්පි බීජ 100 g පමණ
පියන සහිත වීදුරු හෝ ප්ලාස්ටික් බඳුනක් (යොදා ගන්නා බීජ ප්‍රමාණය මෙන් 5 ගුණයක් පමණ ධාරිතාව සහිත කට පළල් බෝතලයක් වඩාත් සුදුසු ය.)
සැහැල්ලු, පිරිසිදු රෙදි කඩක් (මස්ලින්)
ජලය
රබර් පටි හෝ රෙදි පටියක්

**ක්‍රමය**

- බඳුන හොඳින් පිරිසිදු කර ඒ තුළට බීජ දමන්න.
- බීජ හොඳින් වැසෙන පරිදි වැඩිපුර ජලය යොදන්න.
- බඳුනේ කට රෙදි කැබැල්ලෙන් ආවරණය කර පියනෙන් වසන්න.
- පැය 6 - 12 පමණ කාලයක් වසා තබන්න.
- රෙදි කැබැල්ල තුළින් බඳුනෙහි ඇති ජලය පෙරා ඉවත් කරන්න.
- එය සෘජු හිරු එළිය නොලැබෙන පරිදි හොඳින් වාතාශ්‍රය ලැබෙන ස්ථානයක පැය 24 - 48 ක් තබන්න.
- මෙම කාලය තුළ දිනකට 2 වරක් පමණ බෝතලයට ජලය පුරවා, කලතා, ජලය පෙරා ඉවත් කරන්න.
- අංකුර අදින ලද බීජ බෝතලයෙන් ඉවතට ගෙන සුදුසු පරිදි ඇසුරුම් කරන්න.

අංකුර අදින ලද බීජ දින 3 -5 අතර කාලයක දී පරිභෝජනය කළ යුතු ය. දින ගණන වැඩිවන විට රසය අඩු වේ. මෙවැනි බීජ පරීක්ෂාවකට යොමු කොට පාරිභෝගික රුචිකත්වය පිළිබඳ තීරණය කළ හැකි ය.

වසරක් තුළ එක් වරක් පමණක් පල දරන බොහෝ බෝග වර්ගවල අස්වනු එම වාරයේ දී අතිරික්තව පවතී. එවැනි අවස්ථාවල දී ඒවා සුදුසු ක්‍රමයකට පරිරක්ෂණය කර, තබා අවාරයේ වෙළෙඳපොළට ඉදිරිපත් කළ හැකි ය. ඒ සඳහා ආකර්ෂණීය ඇසුරුම් භාවිත කර වැඩි මිලකට අලෙවි කිරීමේ හැකියාව ද පවතී.

උදාහරණ:
- කැබලි කර වියළන ලද කොස් හා දෙල්
- සීනි සිරප්වල දැමූ පලතුරු (අඹ, රඹුටන්)
- වියළන ලද හතු
- අච්චාරු හා චට්නි වර්ග



සීනි සිරප්වල දැමූ රඹුටන්



වියළා ගැඹුරු තෙලෙහි බදින ලද කොස්

## ආදායම් ලැබිය හැකි කෘෂි සේවා

තම ගෙවත්තෙහි බෝග අස්වනු ආදියට අමතරව පාරිභෝගිකයින්ට ඔවුන්ගේ වගා කටයුතුවල නිරත වීමට අවශ්‍ය ද්‍රව්‍ය අලෙවිය හා ඒ සමග ඊට අවශ්‍ය තොරතුරු ලබා දීම මෙහි දී සිදු වේ. වගා ආදර්ශන ප්‍රදර්ශනය කිරීම මෙන් ම එවැනි නිෂ්පාදන අලෙවි කිරීම ද කළ හැකි වේ. තව ද බීජ පැළ ආදිය අලෙවි කිරීමේ දී නඩත්තුව සඳහා උපදෙස් ලබා දීම ද, පාරිභෝගිකයා වෙත ගොස් තාක්ෂණික සේවා සැපයීම ද කළ හැකි ය. මේ අයුරින් ලබා දිය හැකි කෘෂි සේවා කිහිපයක් පහත විස්තර කර ඇත.

- **ආකර්ෂණීය හා විසිතුරු ලෙස පැළ වගා කිරීම**

ජනාකීර්ණ නාගරික ප්‍රදේශවල මෙන් ම තට්ටු නිවාස සංකීර්ණවල ජීවත් වන පුද්ගලයන්ට වගාවක් සඳහා පවතින ඉඩකඩ ඉතා සීමා සහිත ය. එමෙන් ම ඇතැම් අවස්ථාවල දී පවතින සීමිත ඉඩකඩෙහි වුව ද පාංශු තත්ත්වය බෝග වගාවකට උචිත නොවේ. බෝග වගා කළ ද ඒවායේ අස්වනු පරිභෝජනය කිරීමට නොහැකි අවස්ථා ද පවතී. එවැනි තත්ත්ව යටතේ අවකාශය ප්‍රයෝජනයට ගනිමින් පිරිසිදු ව බෝග අස්වනු ලබා ගත හැකි විවිධ ක්‍රම පවතී. මේ අයුරින් සකස් කර ගන්නා ලද වගා ඒවා අවශ්‍ය වන පුද්ගලයන්ට අලෙවි කළ හැකි ය.

ඔබගේ පාසලට හෝ ගෙවත්තට පැමිණෙන පුද්ගලයන්ට විසිතුරු ලෙස සකසන ලද පැළ දර්ශනය වීමට සැලැස්විය හැකි ය. එවිට ඔවුන් එම නිර්මාණ මිල දී ගැනීමට ද, තමන්ගේ ගෙවතුවල එවැනි නිර්මාණ සකස් කර ගැනීමට ද උනන්දු වේ. එබැවින් විසිතුරු ලෙස සකස් කරන ලද පැළ අලෙවියට තැබීම ද ඒවා සකස් කර ගැනීමට අවශ්‍ය විවිධ සේවා සැපයීම ද සිදු කළ හැකි ය. ඒ සඳහා උදාහරණ කිහිපයක් පහත දක්වා ඇත.

- **බඳුන්වල වගා කර එල්වා තැබිය හැකි ගුවනේ වගා සැකසීම**

බඳුන්ගත කොළ එළවළු වගා, එල්ලා තැබිය හැකි පරිදි සකස් කිරීම කළ හැකි ය. සෘජුව ම භූමියෙහි පස සමග නොගැටෙන බැවින් මෙවැනි වගාවලින් ලබා ගන්නා කොළ එළවළු හා පලතුරු පිරිසිදු හා සෞඛ්‍යාරක්ෂිත වේ.


ගොටුකොළ


ස්ට්‍රෝබෙරි


තක්කාලි සහ සලාද වර්ග

## ● මල් සහ පල දරන, වැඩුණු, බඳුන්ගත කරන ලද එළවළු හා පලතුරු ශාක වගා කිරීම

නාගරික සහ අවිවේකී ජීවන රටාවක් ගත කරන පුද්ගලයන්ට මෙන් ම අලුතින් ඉදි කරන ලද ගොඩනැගිලි සහ නිවාස ආශ්‍රිතව ජීවත්වන පුද්ගලයන්ට ගෘහ අලංකරණ කටයුතු සඳහා ඉක්මන් වගා පිහිටුවීම සඳහා මල් කැකුළු හා පල දරන එළවළු හා පලතුරු බඳුන් සකස් කර අලෙවි කළ හැකි ය.



කොච්චි



කාමරංගා



දෙහි

## ● එළවළු, පලතුරු, මල් සහ විචිත්‍ර පත්‍රික ශාක කොහුබත් කුට්ටිවල සංස්ථාපනය කිරීම



කොහුබත්වලින් සකස් කරන ලද තවාන් බන්දේසි



පැළ සහිත කොහුබත් කුට්ටි



පෙති (Pellets) ලෙස සකස් කළ කොහුබත්

තෙරපා සකස් කර ගත් කොහුබත් කුට්ටි (coir bricks) යොදා ගනිමින් මිරිස්, තක්කාලි, බටු ආදි එළවළු වර්ග, මල් වර්ග සහ විචිත්‍ර පත්‍රික ශාකවල පැළ නිපදවා ගත හැකි ය. එම පැළ ක්ෂේත්‍රයේ පහසුවෙන් සංස්ථාපනය කළ හැකි ය. මෙහි දී වැය වන ශ්‍රමය, කාලය, යෙදවුම් සහ නඩත්තු වියදම් අවම වේ.

- **විසිතුරු පැළ ප්‍රදර්ශනාත්මකව, විවිධ හැඩතල අනුව සකස් කිරීම**

මල් හා විචිත්‍ර පත්‍රික විසිතුරු පැළ තනි ව හෝ එකතුවක් ලෙස විවිධ හැඩතල අනුව සකස් කිරීමට හැකි ය. ගෘහ ආශ්‍රිත අලංකරණය සඳහා බඳුන්වල සැකසූ එවැනි ප්‍රදර්ශනාත්මක ශාක එකතුවක් සැලසුම් කර වෙළෙඳපොළට ඉදිරිපත් කළ හැකි ය. මේ සඳහා ඉදිරිපත් කළ හැකි වගා නිර්මාණ කිහිපයක් පහත දක්වා ඇත.

- එක් මවු ශාකයකට වෙනත් ශාකවල කොටස් බද්ධ කර සකසන ලද පැළ



බඳුන්ගත දේශීය වද ශාකයකට විවිධ වර්ණයේ මල් හටගන්නා වද අතු බද්ධ කර ඇති අයුරු

- අලංකාර වියමන් සහිත ව නිර්මාණය කළ විසිතුරු පැළ





වියමන් සහිතව සකස් කරන ලද ශාක

• බොන්සායි (Bonsai) කරන ලද පැළ

ඇතැම් බහු වාර්ෂික ශාකවල අතු සහ මුල් දීර්ඝ කාලයක් තිස්සේ කප්පාදු කරමින් නඩත්තු කිරීමෙන් අලංකාර කුඩා ශාක ලබා ගත හැකි වේ.





බොන්සායි ක්‍රමයට නිර්මාණය කරන ලද ශාක

• කොකිඩාමා වගා (Kokedama)

විසිතුරු පැළවල මූල මණ්ඩලය මැදිවන සේ, වගා මාධ්‍ය බෝලයක් ලෙස සකස්කර එල්ලීමට හෝ මේසයක් මත තැබිය හැකි පරිදි සැරසිල්ලක් ලෙස සිදු කරන වගා ක්‍රමයකි.



එල්ලීම සඳහා සකස් කළ කොකිඩාමා වගා



මේසයක් මත තැබිය හැකි පරිදි සකස් කළ කොකිඩාමා වගා

ක්‍රියාකාරකම් 1.3



## කොකිඩාමා වගාවක් ආරම්භ කරමු

අවශ්‍ය ද්‍රව්‍ය :-

තෝරාගත් පැළයක් ( තක්කාලි, මිරිස්, ඇන්තූරියම්, රෝස)

120 cm පමණ දිග තෙල්ගාර නූල් (Twine) කැබලි 2ක්

වගා මාධ්‍ය (කොම්පෝස්ට් : මතුපිට පස් හෝ කොහුබත් 1 : 1 මිශ්‍රණයක්)

පාසි සහිත පිඩැල්ලක් (Sheet Moss) හෝ ගෝනි කැබැල්ලක් (25 cm x 25 cm)

**ක්‍රමය**

- වගා මාධ්‍ය හොඳින් තෙත් කරන්න.
- පැළය ගලවා වැඩිපුර පස් ඉවත් කරන්න.
- රූප සටහනේ දක්වා ඇති පරිදි තෙත් කරන ලද වගා මාධ්‍ය පැළයේ මුල් වටා දවටමින් බෝලයක් ලෙස සාදන්න. අවශ්‍යතාව පරිදි වගා මාධ්‍යයේ ඇති වැඩි ජලය මිරිකා හරින්න.



පැළය ගලවා වැඩිපුර පස් ඉවත් කිරීම



මුල් වටා වගා මාධ්‍ය බෝලයක් ගැනීම



පාසි සහිත පස් පිඩැල්ලෙන් ආවරණය කිරීම

- පාසි සහිත පස් පිඩැල්ල (Sheet moss) ගෙන සාදන ලද පස් බෝලය වටා එය හොඳින් ඔතන්න.
  ඔබට පාසි සහිත පස් පිඩැල්ලක් සොයා ගත නොහැකි නම් සාදන ලද පැළය සහිත පස් බෝලය ගෝනි කැබැල්ලකින් ආවරණය කරන්න.
- කතිර හැඩයට තබන ලද තෙල්ගාර නූල් (Twine) කැබලි දෙක මත පැළය ඉහළට සිටින සේ සකස් කරන ලද පස් සහිත බෝලය තබන්න.
- තෙල්ගාර නූල් එම බෝලය වටා හොඳින් ඔතන්න.
- ඉතිරිවන තෙල්ගාර නූල්වල කෙළවර පැළය එල්ලා තැබිය හැකිවන පරිදි ලූපයක් ලෙස සාදා හොඳින් ආලෝකය ලැබෙන ස්ථානයක එල්ලා තබන්න. එසේ නැතහොත් මේසයක් මත සැරසිල්ලක් මෙන් තබන්න.



වැඩිපුර කොටස් ඉවත් කිරීම



නූල් වලින් එතීම



එල්ලීම

අවශ්‍යතාව පරිදි සති 2කට වරක් පමණ ජලය යෙදිය යුතු ය. මෙහි දී වගා මාධ්‍ය සහිත බෝලය ජලය සහිත බඳුනක මිනිත්තු 10ක් පමණ ගිල්වා අනතුරුව පිටතට ගෙන වැඩිපුර ජලය මිරිකා ඉවත් කිරීම සුදුසු වේ.
වගා මාධ්‍ය ලෙස පර්ලයිට් (Perlight) සහ පීට් මොස් (Peat Moss) ද භාවිත කළ හැකි ය.

- ක්ෂුද්‍ර රූපී උද්‍යාන(Terrariums)

විනිවිද පෙනෙන හිස් බෝතල්, විදුලි බුබුළු, පාත්‍ර, මාළු ටැංකි හෝ විසිතුරු වීදුරු බඳුන් තුළ කරනු ලබන මෙම වගාව නිවස තුළ මේසයක් මත තැබිය හැකි පරිද්දෙන් හෝ එල්ලා තැබිය හැකි පරිදි නිර්මාණය කළ හැකි ය. බොහෝ විට යොදා ගනු ලබන්නේ නිවසේ අභ්‍යන්තර අලංකරණය පිණිස ය. මෙහි දී බඳුන් තුළට වගා මාධ්‍ය දමා එහි විවිධ හැඩතල හා වර්ණ රටා මැවෙන පරිදි තෝරා ගත් පැළ සංස්ථාපනය කරනු ලැබේ.




වීදුරු බඳුන් තුළ නිර්මාණය කරන ලද ක්ෂුද්‍රරූපී උද්‍යාන

- සිඟිති උද්‍යාන (Fairy garden)

නිවස අභ්‍යන්තර මෙන් ම බාහිර අලංකරණය සඳහා ද යොදා ගත හැකි පරිදි විවිධ වර්ණවලින් යුත් මල් සහ විචිත්‍ර පත්‍රික ශාක යොදා ගනිමින් බඳුන් තුළ සිඟිති උද්‍යාන නිර්මාණය කළ හැකි ය. මෙවැනි නිර්මාණ සඳහා ම යොදා ගත හැකි විවිධ දෘඪ උපාංග වෙළෙඳපොළෙන් මිල දී ගත හැකි ය.



ගෘහ අභ්‍යන්තරයේ තබා ඇති සිඟිති උද්‍යානයක්



ගෙවත්තේ තබා ඇති සිඟිති උද්‍යානයක්

## ● විවිධ භූමි අලංකරණ සැලසුම් හා නිමැවුම් ප්‍රදර්ශනය කිරීම

ගෙවත්තෙහි හෝ පාසලේ පවතින සීමිත ඉඩකඩ සහ අවකාශය ප්‍රයෝජනයට ගනිමින් භූමි අලංකරණය කිරීම සඳහා සැලසුම් සකස් කිරීමට සහ සකස් කරන ලද එම සැලසුම් අනුව භූමි අලංකරණ කටයුතු සිදු කිරීමට හැකි ය. මේ සඳහා යොදා ගත හැකි උපක්‍රම කිහිපයක් පහත දැක්වේ.

### ● ශාක ඇසුරෙන් කරන ලද හැඩතල නිර්මාණය (Topiary)

හොඳින් අතු බෙදෙන, කුඩා පත්‍ර සහිත බහු වාර්ෂික ශාක කප්පාදු කරමින් විවිධ හැඩතල නිර්මාණය කළ හැකි ය. මෙහි දී සැකසීමට අවශ්‍ය හැඩතලය කම්බි දැල්වලින් නිර්මාණය කර, එය ශාකය වටා පිහිටන ලෙස තබා ශාකය වැඩෙන විට කම්බි දැලෙන් පිටතට එන අතු ඉති කප්පාදු කර හැඩතල සකස් කරනු ලැබේ. මෙවැනි නිර්මාණ සඳහා වර්ෂ කිහිපයක් ගත විය හැකි ය.


කම්බිවලින් හැඩතලය සැකසීම


හැඩතලය අනුව කප්පාදු කිරීම


නිම කරන ලද හැඩතලයක්

### ● සජීවි කලා නිර්මාණ (Live Art Gardening)

මෙහි දී නිවස අභ්‍යන්තරයේ හෝ බාහිරව බිත්තිවල එල්ලා තැබිය හැකි පරිදි විවිධ වර්ණයේ විසිතුරු පැළ, රටාවකට සංයෝජනය කර අලංකාර හැඩතල ලැබෙන අයුරින් වගා කරනු ලැබේ.


සජීවි බිත්ති සැරසිල්ලක්

ක්‍රියාකාරකම් 1.4





**සජීවී කලා නිර්මාණයක් සකස් කරමු**

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :**

- 12.5 mm පමණ ඝනකම් සැහැල්ලු ලෑලි කැබලි කිහිපයක්
- 12.5 mm සිදුරු සහිත 30 x 45 cm ප්‍රමාණයේ ප්ලාස්ටික් ආවරිත කම්බි දැලක්
- යකඩ ඇණ සහ ටින්ටැස් ඇණ
- අඩු මිටියක්
- අත් කියතක්
- 30 x 45 cm ප්‍රමාණයේ ගෝනි කැබැල්ලක්
- එල්ල තැබීමට කොකු 2ක්
- වගා මාධ්‍ය (කාබනික පොහොර : කොහුබත් දහයියා අඟුරු 4 : 4 : 1 මිශ්‍රණයක්)
- විවිධ වර්ණයේ කුඩා විසිතුරු පැළෑටි
- එනමල් තීන්ත 0.5 $\ell$ ක් පමණ
- ඝනකම් පොලිතීන් කැබැල්ලක් (45 x 60 cm)
- විසිතුරු ලී පටි අඩි 6ක් පමණ (ඡායා රූප රාමු කිරීමට ගන්නා ලී පටි හෝ සීලිම දර නිම කිරීමට ගන්නා ලී පටි සුදුසු ය).

**ක්‍රමය :**

- ලෑලි යොදා ගනිමින් පිට පැත්තෙහි දිග 45 cm , පළල 30 cm සහ ගැඹුර 6 cm පමණ වූ ලී රාමුවක් සාදගන්න. ලී රාමුව වඩාත් ශක්තිමත් කිරීම සහ අලංකාර කිරීම සඳහා සුදුසු පරිදි ලී වලින් තවත් රාමුවක් තනා මුල් රාමුව එය තුළට ඇතුළු කළ හැකි ය.
- මෙහි පතුල පොලිතීනයෙන් ආස්තරණය කරන්න.
- පොලිතීනය මතට ගෝනි කැබැල්ලක් එලා ටින්ටැස් ඇණ කිහිපයක් ගසා ගෝනි කැබැල්ල හා පොලිතීනය ස්ථාවර කරන්න.
- බඳුනේ ඉහළ දාරය මත කම්බි දැල තබා ඇණ කිහිපයක් ගසා රඳවා ගන්න.
- රූපයේ දැක්වෙන අයුරින් අලංකාර නිමාවක් ලැබෙන පරිදි බඳුනෙහි ඉහළ දාරය මත විසිතුරු ලී පටි කැබලි තබා ඇණ ගසා ගන්න.
- දිරා යාම වැළැක්වීම සඳහා රාමුවේ තීන්ත ආලේප කරන්න.



ලී රාමුව පිළියෙල කිරීම



දැල ගැසීම



රාමුවේ තීන්ත ආලේප කිරීම

- බඳුන පතුලෙහි පිට පැත්තේ එක් දාරයක දෙපසින් සමමිතිකව, එල්ලන කොකු දෙක සවි කරන්න.
- වගා මාධ්‍ය මදක් තෙත් කර දැලෙහි සිදුරු අතරින් ඇතුළු කරමින් බඳුන පුරවන්න.
- අලංකාර රටාවකට සිටින සේ දැලෙහි සිදුරු අතරින් ඇතුළු කරමින් වගා මාධ්‍ය මත වර්ණවත් පැළ සිටුවන්න.



වගා මාධ්‍යය පිරවීම



පැළ සංස්ථාපනය කිරීම

- සති 3ක් පමණ තිරස්ව තබා පැළ වැඩෙන්නට ඉඩ හරින්න.
- අවශ්‍ය විට ඉසින බෝතලයකින් ජලය ඉසින්න.
- පැළ වර්ධනය වී මුල් එකිනෙක බැඳුණු පසු ආලෝකය ලැබෙන ස්ථානයක (තාප්ප, බිත්ති) එල්ලා තබන්න.

මෙම බඳුන සඳහා භාවිතයෙන් ඉවත් කළ කාර්යාල ලිපිගොනු දමන බන්දේසියක් වුව ද යොදාගත හැකි ය.

- **වර්ණවත් පැළෑටි ඇසුරෙන් විසිතුරු රූප රටා නිර්මාණය කිරීම**

වර්ණවත් පැළෑටි ඇසුරෙන් භූමියෙහි අලංකාර රූප රටා නිර්මාණය කළ හැකි ය. පාසලේ හෝ ගෙවත්තේ එබඳු නිර්මාණ කිරීම මඟින් ඒවා කෙරෙහි ආකර්ශණයක් සහ උනන්දුවක් පුද්ගලයන් තුළ ඇති වේ. ඒ සඳහා අවශ්‍ය පැළ වර්ග ද විස්තර අඩංගු පත්‍රිකා ද ලබා දිය හැකි ය.



වර්ණවත් එළවළු පැළවලින් රූප රටා නිර්මාණය කිරීම



විසිතුරු පැළවලින් රූප රටා නිර්මාණය කිරීම

ඉහත දක්වා ඇති භූමි අලංකරණ ක්‍රමවලට අමතරව කොකිඩාමා වගා, ක්ෂුද්‍ර රූපී උයන්, සිඟිති උයන් සහ බොන්සායි වගා ද භූමි අලංකරණ සැලසුම් සහ නිමැවුම් සඳහා යොදා ගත හැකි ය.

- **බීජ සහ බද්ධගත බෝගවල අගය වැඩි කර අලෙවි කිරීම**

ඕනෑ ම බෝගයක බීජ සහ පැළ ඉහළ ඉල්ලුමක් පවතින කෘෂි නිෂ්පාදන වේ. උසස් ගුණාත්මක තත්ත්වයකින් යුතු මව් ශාක තෝරා ගෙන ඒවා මනාව නඩත්තු කර ගනිමින් ඉන් ලබා ගන්නා බීජ ද, එම බීජ තවාන් දැමීමෙන් ලැබෙන පැළ ද, දඬු කැබලි භූගත කඳ කැබලි ආදියෙන් ලබා ගන්නා වර්ධක පැළ ද, ගෙවත්තක නිපදවිය හැකි ය.


වැරණිය මිරිස් වගාවක්



අසුරන ලද බීජ


බීජ පැළ තවානක්

බොහෝ විට මෙවැනි පැළ අලෙවි කිරීමේ දී එම බෝගය පිළිබඳ තොරතුරු අඩංගු කර නිර්මාණය කරන ලද මුද්‍රිත විස්තර පත්‍රිකාවක් ද ඒ සමග සැපයිය හැකි ය. විස්තර පත්‍රිකාවකට උදාහරණයක් පහත දක්වා ඇත.

| | | | |
|---|---|---|---|
| **වර්ගය** | : | **දේශීය වැරණිය මිරිස්** |  |
| වයස | : | මාස 4 - 4 1/2 | |
| අස්වැන්න | : | පැළයකින් කරල් 80-100 | |
| කරලක දිග | : | සෙ.මී. 18-20 | |
| ගුණාත්මය | : | සැර අඩු, මෘදු රසැති | |
| නඩත්තුව | : | පැය 6-8 ආලෝක තත්ත්ව ,<br>දින 2-3 ට වරක් ජල සම්පාදනය | |

අසුරන ලද එළවළු, පලතුරු ආදි බෝගවල බීජ සහ බද්ධගත පැළ වර්ග විකිණීමේ දී එම බෝගවලට අදාළ වගා පිළිවෙත් අඩංගු පත්‍රිකාවක් හෝ ලේබලයක් මුද්‍රණය කර ලබා දිය හැකි ය. පහත දැක්වෙන ආකාරයේ පත්‍රිකාවක් සැපයීම මගින් විශේෂයෙන් බීජ සහ බද්ධගත බෝගවල අගය වැඩි කර ගත හැකි ය.

| වර්ගය | නඩත්තු තත්ත්වය | | අලෝකය | | ජල අවශ්‍යතාව | | පරිසර තත්ත්වය | |
|---|---|---|---|---|---|---|---|---|
| වැරණි මිරිස් | කහ | පහසුවෙන් වගා කළ හැකි ය | | සෘජු එළිය | | වගා මාධ්‍ය හොඳින් තෙමන්න | තෙත් කාලගුණයක දී දින 2 - 3 කට වරක් ජලය යොදන්න ✓ | වියළි කාලගුණයක දී දිනපතා ජලය යොදන්න ✓ |
| | නිල් ✓ | තරමක අවධානයක් අවශ්‍යයි | | අඩ සෙවණ | | තරමක තෙත් තත්ත්වයක තබන්න | | |
| | රතු | වැඩි අවධානයක් අවශ්‍ය යි | | සෙවණ | | තරමක වියළි තත්ත්වයක තබන්න | | |

- **වගා කටයුතු සාර්ථක ව ඉටු කිරීම සඳහා අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ සැපයීම**

පාසලේ කෘෂි නිෂ්පාදන අලෙවි ඒකකයේ හෝ ගෙවත්තට බීජ හා පැළ ආදිය මිල දී ගැනීමට පැමිණෙන පුද්ගලයන් සඳහා පහත දැක්වෙන දේ අලෙවියට තැබීමෙන් ආදායම් වැඩි කර ගත හැකි වේ.

උදාහරණ:
- කොම්පෝස්ට් පොහොර සහ කාබනික දියර පොහොර (ගැඩවිල් දියර)
- ශාකසාර පළිබෝධ නාශක සහ පළිබෝධ උගුල්
- අත් මුල්ලු, අත් ඉස්කෝප්ප ආදි උපකරණ හෝ අනුයෝගී උපකරණ
- ඉවතලන ප්ලාස්ටික් බෝතල්වලින් සකසන ලද බිංදු ජල සම්පාදන කට්ටල



ඉවත ලන ප්ලාස්ටික් බෝතලයකින් සකසන ලද බිංදු ජල සම්පාදනය උපකරණයක්



පෙරමෝන උගුලක්

● සිරස් වගා ක්‍රම ආදර්ශනය

වගාව සඳහා භූමිය සීමිත අවස්ථාවල දී ඉදි කළ හැකි විවිධ සිරස් වගා ක්‍රම ආදර්ශනය කිරීම මගින් දැනුම ලබා දීම වර්තමානයේ දී බොහෝ ප්‍රයෝජනවත් වේ.

**සීමිත ඉඩකඩක් සඳහා සුදුසු වගා ක්‍රම**

- වගා කුලුණු
- වගා කුඩ
- වගා ඉනිමං
- වගා පිරමිඩ
- වගා රාක්ක



වගා කුඩයක්



වගා ඉනිමඟක්



වගා රාක්කයක්

මෙවැනි නිර්මාණ සඳහා භාවිත වන ද්‍රව්‍ය ද ආදායම් ලබා ගත හැකි පරිදි ඉදිරිපත් කළ හැකි ය.

උදාහරණ:

- වගා කුලුණු සඳහා අවශ්‍ය pvc බට
- වගා කුඩ, ඉනිමං, පිරමිඩ සඳහා අවශ්‍ය යකඩ රාමු
- වගා රාක්ක සඳහා අවශ්‍ය වන වැහි පීලි
- වගා නඩත්තු උපකරණ හා මෙවලම්

● තාක්ෂණික ශිල්පීය සේවා සැපයීම

කෘෂිකර්මයේ දී විවිධ තාක්ෂණික ශිල්පීය ක්‍රම යොදා ගැනේ. එම ශිල්පීය ක්‍රම නොදන්නා හෝ බොහෝ විට කාර්ය බහුල පුද්ගලයන්ට ගෙවත්තේ සිටුවා ඇති බෝග නඩත්තුව සඳහා මෙවැනි ක්‍රම යොදා ගැනීමේ දුෂ්කරතා ඇත. එවැනි අවස්ථාවල දී තමා සතු තාක්ෂණික දැනුම හා කුසලතා යොදා ගනිමින් සහය අවශ්‍ය වන පුද්ගලයන්ට සේවා ලබා දීමෙන් ආදායම් උපයා ගත හැකි ය.

- ගෙවතු වගාව සහ එහි දී ඇති වන ගැටලු නිරාකරණය කර ගැනීමට උපදෙස් ලබා දීම

ගෙවත්ත වගාවට සුදුසු පරිදි පැළ තෝරා ගැනීමට සහ සිටුවීමට අවශ්‍ය උපදෙස් ද, වගාවේ දී ඇති විය හැකි ගැටලු වන පෝෂණ ඌනතා, රෝග, කෘමි හානි ආදියට පිළියම් යෙදීම සඳහා උපදෙස් ලබා දිය හැකි ය.

- සිටුවා ඇති පලතුරු ශාකවල පල නොදරන අතු කප්පාදු කිරීම



අතු කප්පාදු කිරීම

- විසිතුරු ශාක වැටි හා විවිධ හැඩතල ඇතිවන පරිදි ශාක කප්පාදු කිරීම



ශාක කප්පාදු කර සකස් කරන ලද ගෙවත්තක්



වැටි කප්පාදු කිරීම

- ස්වාභාවිකව පරාගණය නොවන පුෂ්ප සහිත ශාක සඳහා කෘත්‍රිම පරාගණ ක්‍රම යෙදීම



වැනිලා පුෂ්ප පරාගණය කිරීම



බටු පුෂ්ප පරාගණය කිරීම

• පල නොදරන පලතුරු ශාකවලට පල දරන ශාකවල අතු බද්ධ කර ශාක පුනරුත්පාපනය කිරීම

**ක්‍රියාකාරකම් 1.5**



## චතුර්පියන් බද්ධයක් සිදු කරමු

අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-

පල නොදරන පලතුරු ශාකය (ග්‍රාහකය)
පල දරන එම කුලයේම පලතුරු ශාකය (අනුජය)
බද්ධ පිහිය සහ සෙකටියරය
රබර් පටි සහ වෙළුම් පටි

**ක්‍රමය**

- පල නොදරන පලතුරු ශාකයේ බද්ධ කිරීම සඳහා තෝරාගත් අත්තෙහි, ශාකයේ කඳට ආසන්නයේ අඟල් 5 - 6 දුරින් රබර් පටියක් හිර කර යොදන්න.
- එතැන් සිට අඟල් 3 - 4 ඉහළින් අතු මුදුන ඉවත් කරන්න.
- රබර් පටියට ඉහළින් අඟල් 2 - 3 කොටසෙහි හතර පැත්තෙන් පොත්ත ඉවත් කරන්න (1 රූපය).
- පොතු ඉවත් කළ පසු, පොතු හතර ඉතිරිවන පරිදි, එහි කඳ කැබැල්ල කපා ඉවත් කරන්න.
- තෝරා ගත් අනුජයේ පහළින් හතර පැත්තෙන් පොත්ත (අඟල් 2 -3 ක්) ඉවත් කරන්න.
- ග්‍රාහකයේ කඳ ඉවත් කළ පොතු හතර තුළට එම අනුජය ඇතුළු කර එහි පහළ ඇති රබර් පටිය ඉහළට ඇද බද්ධය සවිමත් කරන්න (2 රූපය).
- වෙළුම් පටිවලින් බද්ධයේ ඉහළ සිට පහළට වෙළන්න (3 රූපය).



රබර් පටිය යොදා අඟල් 2 - 3 පොත්තක් 4 පැත්තෙන් රබර් පටිය දක්වා විවෘත කිරීම



අනුජය පොතු අතරට ඇතුල් කිරීම



රබර් පටිය ඉහළට ඇද වෙළුම් පටිවලින් වෙළීම

සාර්ථක බද්ධයක් සති 2 - 3 ක දී නව දළු ලෑම මගින් හඳුනා ගත හැකි ය.

## ව්‍යාපෘතියක් අසුරෙන් පාසල් ගෙවත්තෙන් ආදයම් උපයමු

පාසල් ගෙවත්ත මනාව සැලසුම් කර එය පරිසර හිතකාමීව පවත්වා ගැනීම පිළිබඳව ඔබ අධ්‍යයනය කර තිබේ. ගෙවත්තක් ආදායම් උපයන ව්‍යාපාරයක් දක්වා තව දුරටත් සංවර්ධනය කිරීම පිළිබඳ ව බොහෝ කරුණු ද මෙම පරිච්ඡේදයේ දී සාකච්ඡා කළෙමු. මෙහි දී වඩාත් වැදගත් වනුයේ ප්‍රාදේශීය අවශ්‍යතා හඳුනා ගනිමින් ඊට ගැළපෙන නිෂ්පාදන හා සේවා සැපයීම යි. ව්‍යාපෘතියක ප්‍රධාන අංග වන සැලසුම් කිරීම, තීරණ ගැනීම, ක්‍රියාත්මක කිරීම හා පසු විපරම යන මාතෘකා ඔස්සේ පාසල් ගෙවත්ත ව්‍යාපාරයක් දක්වා ව්‍යාපෘතියක් මගින් සංවර්ධනය කරන අයුරු විමසා බලමු.

**සැලසුම් කිරීම**

මෙහි දී පාසල් ගෙවත්තේ සිදු කළ හැකි කෘෂි නිෂ්පාදන හෝ ගෙවත්තෙන් ලබා දිය හැකි කෘෂි සේවා අතරින් වඩාත් ම සුදුසු කෘෂි නිෂ්පාදන හෝ කෘෂි සේවා මොනවාදැයි විමසා බැලිය යුතුයි. එම එක් එක් කෘෂි නිෂ්පාදන හා කෘෂි සේවා සැපයීමේ දී අවශ්‍ය වන අමුද්‍රව්‍ය, එයට අවශ්‍ය පිරිවැය හා අපේක්ෂා කරන ආදායම් පිළිබඳව ඇස්තමේන්තු සකස් කළ යුතු අතර අවසානයේ තෝරා ගන්නා ව්‍යාපෘතියට අදාළ ක්‍රියාකාරි සැලැස්මක් සකසා ගත යුතුයි.

| | කාර්යය | කාල රාමුව | | | | | | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සතිය (1) | | | | | | | සතිය (2) | | | | | | | සතිය (3) | | | | | | |
| | | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 |
| 1 | කෘෂි ව්‍යාපාරයක් කරා යාමේ අවසාන දැක්ම සටහන් කිරීම | ■ | ■ | | | | | | | | | | | | | | | | | | | |
| 2 | ආර්ථික වාසි සපයන වෙළෙඳපොළ ඉල්ලුමක් පවතින වෙළෙඳ බෝග හා සේවා හඳුනා ගැනීම | | ■ | ■ | ■ | ■ | | | | | | | | | | | | | | | | |
| 3 | අදාළ ව්‍යාපෘති කාල සීමාව තුළ ඵලදායී ව සිදු කළ හැකි කෘෂි කාර්මික නිෂ්පාදන ක්‍රියාවලියක් නිර්මාණ කර පිහිටුවීම | | | | | ■ | ■ | ■ | ■ | | | | | | | | | | | | | |
| 4 | කෘෂි නිෂ්පාදන හා සේවා සැපයීමට සුදුසු කෘෂිකාර්මික නිෂ්පාදන ක්‍රියාවලිය ක්‍රියාත්මක කිරීම | | | | | | | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | | | | | |
| ..... | ........................................................ | | | | | | | | | | | | | | | | | | | | | |
| ..... | ........................................................ | | | | | | | | | | | | | | | | | | | | | |
| ..... | ස්ථිර ආදයම් උපයන ගෙවතු ව්‍යාපාර උපාය මාර්ගවලට අදළ යෝජනා ඉදිරිපත් කිරීම ව්‍යාපෘති කාර්යය නිමාව | | | | | | | | | | | | | | | | | | | | ■ | ■ |

**තීරණ ගැනීම**

පාසල් ගෙවත්තෙන් හඳුනා ගත හැකි විවිධ ව්‍යාපෘති අතරින් ක්‍රියාත්මක කළ හැකි ව්‍යාපෘති මොනවාදැයි මෙහි දී තීරණය කළ යුතුයි. මෙහි දී සලකා බැලිය යුතු කරුණු කිහිපයකි.

- ඔබට පාසල් ගෙවත්තේ කටයුතු කිරීමට ඇති කාලය සීමිත වීම
- සති 03ක කාලයක් තුළ ව්‍යාපෘතිය අවසන් කළ යුතු වීම
- ඔබ සතු විෂය දැනුම, කුසලතා හා වයස් මට්ටමට කාර්ය ඉටු කළ හැකි වීම
- අඩු පිරිවැයකින් කළ හැකි ව්‍යාපෘතියක් වීම
- කාලීනව ඉහළ ඉල්ලුමක් පවතින කෘෂි නිෂ්පාදනයක් හෝ කෘෂි සේවාවක් ඉදිරිපත් කිරීම
- වෙළෙඳ පොළ තරගකාරිත්වය අඩු හෝ තරගකාරිත්වයක් නොමැති නිපැයුමක් වීම

මෙහි දී පාරිභෝගික රුචිකත්වය, නිෂ්පාදනයේ සෞඛ්‍යාරක්ෂිත බව සහ විශ්වාසනීය බව අනුව ඉල්ලුම රඳා පවතියි. අගය වැඩිකර නව්‍යතාවයකින් යුතු ව ඉදිරිපත් කරන නිෂ්පාදනවලට වැඩි ඉල්ලුමක් පවතියි.

පාසල් ගෙවත්ත ඇසුරෙන් ඔබට කළ හැකි ව්‍යාපෘති සඳහා උදාහරණ කිහිපයක් පහත දැක්වේ.

- ගෙවතු වගාව සඳහා අවශ්‍ය බීජ වර්ග පැකට් කර වගා උපදෙස් පත්‍රිකා සහිතව අලෙවි කිරීම

  මෙහි දී කෘෂිකර්ම දෙපාර්තමේන්තුවේ අවසරය මත ලබා ගන්නා බීජ, කොටස් කිහිපයකට වෙන් කර, ගෙවතු වගා කට්ටල ලෙස නැවත පැකට් කර වගා උපදෙස් සමග අලෙවි කළ හැකි ය. දේශීය බෝගවලට අදාළ බීජ සඳහා වර්තමානයේ දී ඉහළ වෙළෙඳ පොළ ඉල්ලුමක් පවතී.

- ගෙවතු වගාව සඳහා අවශ්‍ය පැළ අලෙවි කිරීම

  එළවළු තවාන් පැළ උදුරා සිටුවීම සඳහා බීජ සිටුවා සති 03ක් පමණ ගත වන බැවින් තවාන් පාත්තිවල සිටුවන බීජ මගින් පැළ ලබා ගැනීමේ ව්‍යාපෘති සුදුසු නොවේ. එබැවින් පැළ කිහිපයක් සහිත සමූහ තවාන් බඳුන් අලෙවි කළ හැකි ය. තව ද ගොටුකොළ ආදි පලා වර්ගවල පැළ ද බඳුන්ගත කර අලෙවි කළ හැකි ය.



බඳුන්ගත පැළ තවාන්

- බිංදු ජල සම්පාදනය සඳහා සුදුසු වන පරිදි සිදුරු කරන ලද ඉවත ලන ප්ලාස්ටික් බෝතල් අලෙවි කිරීම
- ප්ලාස්ටික් බෝතල් ඇසුරෙන් සකස් කරනු ලබන පෙරමෝන උගුල් අලෙවි කිරීම
- ශාකසාර පළිබෝධ නාශක සහ කාබනික දියර පොහොර සකසා බෝතල් කර අලෙවි කිරීම
- කොම්පෝස්ට් පොහොර පැකට් කර අලෙවි කිරීම
  ගෙවත්ත තුළ අඛණ්ඩව කොම්පෝස්ට් නිපදවන්නේ නම් මෙය ක්‍රියාත්මක කළ හැකි ය.

**ක්‍රියාත්මක කිරීම**

ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේ දී සුදුසු පරිදි සිසුන් කණ්ඩායම්වලට බෙදී කටයුතු කළ හැකි ය. පන්තියක සිසුන් විශාල පිරිසක් සිටියි නම් කණ්ඩායම්වලට බෙදී ව්‍යාපෘති කිහිපයක් වුව ද ක්‍රියාත්මක කළ හැකි ය.

මෙහි දී අදාළ ව්‍යාපෘති කාල සීමාව තුළ කෘෂි නිෂ්පාදන හා කෘෂි සේවා සැපයීමට අවශ්‍ය ක්‍රියාවලියට අදාළ සැලසුම්, රූප සටහන් ආකෘති ආදිය සකස් කර ගත යුතු වේ. ඉන් පසු අවශ්‍ය යෙදවුම් සපයා ගෙන නිෂ්පාදන හෝ සේවා සැපයීමේ ක්‍රියාවලියෙහි නිරත විය යුතු යි.

මෙහි දී පාසලේ නිෂ්පාදන හා සේවා අලෙවි කිරීමේ ක්‍රමවේදයක් ද සකසා ගත යුතු වේ. පාරිභෝගිකයින් ආකර්ෂණය කර ගැනීම පිණිස උපාය මාර්ග යෙදීම හා පාසල තුළ ප්‍රචාරක ක්‍රමවේද ක්‍රියාත්මක කිරීම සිදු කළ හැකි ය. තව ද වගා පාලන වාර්තා ඇතුළු සියලු ම ක්‍රියාකාරකම් පිළිබඳ වාර්තා ද, මූල්‍ය පාලන වාර්තා ද පවත්වා ගැනීම අත්‍යවශ්‍ය වේ.

ඔබගේ ව්‍යාපෘති ක්‍රියාත්මක කිරීමේ දී ප්‍රයෝජනවත් වන සරල වාර්තා කිහිපයක ආකෘති පහත දැක්වේ.

- එදිනෙදා කරනු ලබන කටයුතු පිළිබඳ වාර්තාව

| දිනය | කාර්යය | සහභාගි වු සිසුන් ගණන | කාලය (සිට - දක්වා) | වැය වු ශ්‍රමය (මිනිස් පැය) |
|---|---|---|---|---|
| | | | | |

මෙම වාර්තාවෙන් එදිනෙදා කරන ලද කටයුතු පිළිබඳව ද ඒ සඳහා වැය වූ ශ්‍රමය ද සොයා ගත හැකි වේ.

- වියදම් වාර්තා

| දිනය | කාරණය | මිල දී ගත් ද්‍රව්‍ය හා ප්‍රමාණය | වැය වූ මුදල රු. ශත |
|---|---|---|---|
| | | | |

- ආදායම් වාර්තා

| දිනය | අලෙවි කළ නිෂ්පාදනය/ ඉටු කළ සේවාව | අලෙවි කළ ප්‍රමාණය/ සංඛ්‍යාව/සේවය කළ පැය ගණන | ආදායම |
|---|---|---|---|
| | | | |

ව්‍යාපෘතිය අවසානයේ ආදායම් හා වියදම් සංසන්දනය කිරීම මගින් ව්‍යාපෘතියේ සාර්ථක අසාර්ථක බව පිළිබඳ විමසා බැලීමට අවස්ථාව ලැබේ.

**පසු විපරම**

ව්‍යාපෘතිය ආරම්භයේ සිට අවසානය දක්වා වූ ක්‍රියාකාරකම් විශ්ලේෂණය කරමින් ඒවායෙහි ප්‍රබලතා හා දුබලතා හඳුනාගත යුතු වේ. මෙහි දී,

- මූල්‍ය වාර්තා විශ්ලේෂණය කර ලාභ හෝ අලාභ පරීක්ෂා කිරීම
- ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේ දී මුහුණ දීමට සිදු වූ අභියෝග ජයගත් ආකාරය සෙසු කණ්ඩායමවලට ඉදිරිපත් කිරීම
- ඔබේ නිෂ්පාදනවලට හෝ සේවාවලට තිබූ ඉල්ලුම විශ්ලේෂණ කිරීම

ඔබ විසින් යොදා ගන්නා ලද වෙළෙඳ උපාය මාර්ග, මූල්‍ය හා වගා වාර්තාවල ප්‍රයෝජන ආදිය පිළිබඳව ඔබ ලද අත්දැකීම් සාකච්ඡා කිරීම හා ස්වනිර්මාණ සංග්‍රහයක් මගින් පන්තියට ඉදිරිපත් කිරීම වැදගත් වේ.

# අන්තර්ජාලය ඇසුරෙන් තොරතුරු ලබා ගනිමු

කෘෂි ව්‍යවසායකත්වය සාර්ථකව පවත්වා ගැනීම හා ප්‍රවර්ධනය සඳහා දිනපතා අලුත් තොරතුරු ලබා ගැනීම අනිවාර්යය වේ. මේ සඳහා පුවත් පත්, ගුවන් විදුලිය, රූපවාහිනිය හා සඟරා ආශ්‍රිතව සිදු කෙරෙන කෘෂිකර්මය පිළිබඳ සාකච්ඡා වැඩසටහන් ඉතා වැදගත් වේ. එමෙන් ම අන්තර්ජාලය භාවිතයෙන් තොරතුරු ලබා ගැනීම ද ඉතා පහසු හා කාර්යක්ෂම ක්‍රමවේදයකි. මෙහි දී වෙළෙඳ පොළ තොරතුරු, බෝගවල මිල ගණන් මෙන් ම ඒ ඒ බෝග සඳහා ඇති වන උවදුරු පිළිබඳව දැනුවත් වීම මඟින් ප්‍රතිකර්ම කාර්යක්ෂම ව යෙදිය හැකි ය. මේ හේතුව නිසා වර්තමානයේ දී අන්තර්ජාලය භාවිතයෙන් සාර්ථක ව්‍යාපාරයක් පවත්වා ගත හැකි වේ. නැතහොත් ව්‍යාපාරයේ සාර්ථකත්වය සඳහා අන්තර්ජාලය බෙහෙවින් උපකාරී වේ.

පාසලේ පරිගණක විද්‍යාගාරය භාර ගුරුතුමාගේ සහාය ලබා ගනිමින් අන්තර්ජාල පහසුකම් සහිත වේලාවක් තුළ දී ඔබ ද අන්තර්ජාලයේ සැරිසැරීමට අවස්ථාව ලබා ගන්න. ගුරුතුමාගේ සහාය ලබා ගනිමින් විවෘත කර ගන්නා පරිගණකයෙන් ඔබට අන්තර්ජාලයේ බහුල ව භාවිත වන Google Chrome, Internet Explorer හෝ Mozilla Firefox වැනි වෙබ් ගවේෂක (Web Browser) තුළට පිවිසිය හැකි ය. ඔබ කැමති ඕනෑ ම වෙබ් ගවේෂකයක් භාවිත කිරීමට ඔබට පුළුවන. Google Chrome වෙබ් ගවේෂකය භාවිතයේ දී සිංහල භාෂාවෙන් අන්තර්ජාලය ගවේෂණය කිරීමේ හැකියාව පවතී. මේ සඳහා යුනිකේත (Unicode) භාවිත කළ යුතු ය.

Google Chrome මඟින් අන්තර්ජාලය ගවේෂණය කිරීමේදී සඳහා පහත පියවර අනුගමනය කරන්න.

Start ⟶ Program ⟶ Google Chrome ⟶ Enter

එසේ නැතහොත් 

කෙටි මං සලකුණ මත ක්ලික් කිරීමෙන් ද ඔබට Google Chrome වෙබ් ගවේෂකයට පිවිසිය හැකි ය.

විවෘත වන Google Chrome හි අතුරු මුහුණත දිස්වන ආකාරය පහත දැක්වේ.



විවෘත වූ අතුරු මුහුණත භාවිත කරමින් ඔබට තොරතුරු ගවේෂණය කිරීම පහසුවෙන් කළ හැකි ය. ඒ සඳහා අදාළ මූලික වදන් සෙවුම් තීරය මත ඇතුළත් කරන්න. එවිට පහත ආකාරයේ අතුරු මුහුණතක් ලැබෙනු ඇත.




**ක්‍රියාකාරකම් 1.6**



පහත දැක්වෙන අන්තර්ජාල ලිපිනයන් නිවැරදිව පරිගණකයට ඇතුළත් කර අදාළ වෙබ් පිටුවට පිවිස තොරතුරු ලබා ගැනීමට ඔබටත් හැකි දැයි බලන්න.

www.vikaspedia.in/agriculture
www.agridept.gov.lk
www.doa.gov.mv
www.rupavahini.lk/rividina arunella
www.agrimin.gov.lk
www.omafra.gov.on.ca
www.neda.lk
www.mytopbusinessideas.com
www.nerdc.lk
www.99businessideas.com.india

# 1.2 කෘෂිකාර්මික ගැටලු සඳහා හරිත කෘෂි තාක්ෂණික විසඳුම් යොදා ගනිමු

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- කෘෂි කාර්මික කටයුතු නිසා පරිසරයට හානි සිදුවිය හැකි අවස්ථා හඳුනා ගැනීමටත්,
- පාරිසරික ගැටලු අවම කිරීම සහ ඒවාට අනුවර්තනය වීම සඳහා ක්‍රියාමාර්ග යෝජනා කිරීමටත්,
- පාසල තුළ හරිත කෘෂි තාක්ෂණික විසඳුම් ක්‍රියාත්මක කිරීම මගින් හිතකර පරිසරයක් නිර්මාණය කිරීමටත්

හැකියාව ලැබෙනු ඇත.



ලෝක ජනගහනය වැඩි වීමත් සමග ඊට සමගාමීව ආහාර නිෂ්පාදනය ද වැඩි කිරීමට සිදු වූ බැවින් කෘෂි කාර්මික ක්ෂේත්‍රය ද ක්‍රමයෙන් පුළුල් විය. මෙහි දී ඉහළ අස්වනු අපේක්ෂාවෙන් විවිධ උපාය මාර්ග යොදා ගන්නා ලදි. ඉහළ අස්වනු ලබාදෙන නව බෝග ප්‍රභේද අභිජනනය කිරීම, අධික ලෙස රසායනික පොහොර භාවිතය, අධික ලෙස පළිබෝධනාශක භාවිතය, කෘෂි යන්ත්‍රෝපකරණ භාවිතයෙන් කාර්ය පහසු කරගැනීම ආදිය ඉන් සමහරකි. මෙවැනි උපාය මාර්ග දීර්ඝ කාලීනව යොදා ගැනීම මගින් පරිසරයට සිදු වූ හානිය සුළු පටු නොවේ.



**සෝදාපාළුවට ලක් වූ තේ වගා භූමියක්**

ආහාර අවශ්‍යතාව සපුරා ගැනීමට පමණක් නොව මිනිසා තමාගේ සුඛ විහරණය පිණිස සීමිතව ඇති ස්වාභාවික සම්පත් අසීමිත ලෙස ප්‍රයෝජනයට ගැනීමට යොමු වීමෙන් ද අතිවිශාල පරිසර හානියක් සිදු වී ඇත. විවිධ ක්ෂේත්‍ර ඔස්සේ සිදුවන මෙම ව්‍යසනය පිළිබඳව වටහා ගත් පරිසර හිතකාමීන් විසින් පරිසරය රැක ගනු පිණිස විවිධ තාක්ෂණික ක්‍රමවේද යෝජනා කර ඇත.

මෙහි දී පාරිසරික අර්බුද (Environmental crisis) අවම කර ගැනීමට ස්වාභාවධර්මයට පටහැනි නොවන සරල හරිත කෘෂි තාක්ෂණික විසඳුම් (Green intiatives) යොදු ගැනේ. මෙම පරිච්ඡේදයේ දී කෘෂිකාර්මික කටයුතු නිසා පරිසරයට සිදු විය හැකි හානි පිළිබඳවත් එම හානි අවම කරගැනීම පිණිස යොදා ගත හැකි හිතකර හරිත කෘෂි තාක්ෂණික විසඳුම් පිළිබඳවත් අවධානය යොමු කර ඇත.

## පරිසරයට හානි සිදු වන කෘෂිකාර්මික ක්‍රියාකාරකම්

- **වන ආවරණය ඉවත් කිරීම**

බෝග වගාව පිණිස වනාන්තර හෙළි කිරීම නිසා වන ආවරණය හීන වී යයි. මේ මගින් සිදුවන අහිතකර පාරිසරික බලපෑම් රාශියකි. ඒවා පහත දැක්වේ.

- **ජෛව විවිධත්වය විනාශ වීම**
  මෙහි දී ශාක ගහණය පමණක් නොව සත්ත්ව ගහණය ද විනාශ වේ. රටකට ආවේණික ශාක හා සත්ත්වයින් විනාශ වීම ඛේදජනක තත්ත්වයකි.
- **ජල මූලාශ්‍ර සිඳී යාම හා වර්ෂාපතනය අඩු වීම**
  ජල චක්‍රයේ පැවැත්ම සඳහා වනාන්තර අත්‍යවශ්‍ය සාධකයකි. ශාක ගහනය අඩු වීමෙන් ජල මූලාශ්‍ර සිඳී යයි. වර්ෂාපතනය අඩු වේ.
- **පරිසර උෂ්ණත්වය වැඩි වීම**
  ශාක මගින් පිට වන ජල වාෂ්ප පරිසරය සිසිල් කරයි. වනාන්තර අඩු වන විට පරිසර උෂ්ණත්වය වැඩි වේ.
- **පාංශු ඛාදනය සිදුවීම**
  වන ආවරණය ඉවත්වන විට වර්ෂා ජලය කෙලින් ම භූමිය මත පතිත වන නිසා පාංශු ඛාදනය සිදු වේ. මේ අයුරින් පස වගා කළ නොහැකි තත්ත්වයට පත් වේ.



ශාක ගහණය ඉවත් කර ඇති ස්ථානයක්

- **එක ම භූමියක නොකඩවා බෝග වගා කිරීම**

මෙහි දී පාංශු ගුණාංග වන පාංශු පෝෂණය, පාංශු ජල අවශෝෂණ ධාරිතාව, පාංශු ජල වහනය ආදිය පිරිහීමට ලක් වේ. එමෙන් ම බිම් සැකසීමේ දී පස නිතර බුරුල් කිරීම නිසා පස ඛාදනයට ලක් වේ. මෙසේ පස ඛාදනය වීම ඇතුළුව බෝග වගාවට සුදුසු පාංශු ගුණාංග පිරිහීම පාංශු හායනය (Soil degradation) ලෙස හැඳින්වේ.

- **රසායනික පොහොර සහ පළිබෝධ නාශක භාවිත කිරීම**

වර්තමානයේ දී බෝග වගා සඳහා නිර්දේශිත ප්‍රමාණය ඉක්මවා අධික ලෙස කෘෂි රසායනික ද්‍රව්‍ය යෙදීමට වගාකරුවන් පෙළඹී ඇත. බෝග අස්වනුවල පළිබෝධ නාශක සහ ඒවායේ අවශේෂ (Residues) අඩංගු විය හැකි අතර ඒවා මිනිසාට ශරීරගත වීමෙන් ඔවුන් විවිධ රෝගවලට පාත්‍ර වේ. තව ද පළිබෝධනාශක යෙදීමේ දී පළිබෝධ සතුන් පමණක් නොව හිතකර ජීවීන් ද විනාශ වේ. පළිබෝධ කෘමීන් මත යැපෙන විලෝපී සතුන් ද විනාශ වීම නිසා පළිබෝධ කෘමි ගහණය වැඩි වීමේ අවදානමක් පවතී. රසායනික පොහොර අධික ලෙස නොකඩවා පසට යෙදීමෙන් බෝග වගාවට හිතකර පාංශු ගුණාංග පිරිහේ. රසායනික පොහොර සහ පළිබෝධනාශක ජලාශවලට එකතු වීමෙන් විවිධ පාරිසරික ගැටලු ඇතිවන අතර එම ජලය පරිභෝජනය කරන සතුන්ට මෙන් ම මිනිසුන්ට ද සෞඛ්‍ය ගැටලු ඇති වේ.



**පළිබෝධ නාශක නිසා ජලජ ජීවීන් මිය යාම**



**නයිට්‍රජන් අඩංගු රසායනික පොහොර එක්රැස් වීමෙන් ජලාශ සුපෝෂණය වීම**

- **ජල සම්පාදනයේ දී ජලය අපතේ යාම**

ජීවයේ පැවැත්මට අත්‍යවශ්‍ය සාධකයක් වන ජලය වර්තමානය වන විට අර්බුදයකට ලක් වී ඇත. බෝග වගාව සඳහා අතිවිශාල ජලස්කන්ධයක් යොදා ගැනීමට සිදු වේ. පාත්ති මතු පිටින් හෝ වගා බිම්වල කානු ඔස්සේ බෝග වෙත ජලය සැපයීමේ දී විශාල ජල ප්‍රමාණයක් බෝග රහිත ස්ථානවල පසට උරා ගැනීමෙන් ද, වාෂ්පීකරණය වීමෙන් ද අපතේ යයි.



ජල සම්පාදනය සිදු කරන විට
ජලය අපතේ යාම

- ජෛව ස්කන්ධ (Bio Mass) එක් රැස් වීම නිසා සිදුවන පරිසර හානිය

ජෛව ස්කන්ධ යනු ශාක හා සත්ත්ව දේහ කොටස් මගින් ඇතිවන කාබනික ද්‍රව්‍ය වේ. කෘෂිකාර්මික කටයුතුවල දී ඇතිවන ජෛව ස්කන්ධ ලෙස, බෝග ඉපනැලි, කුණු වී ඉවත දැමීමට සිදුවන එළවළු, පලතුරු, ගොවිපොළ සත්ත්ව මළ අපද්‍රව්‍ය හා සත්ත්ව ආහාර නිෂ්පාදනයේ දී ඉවතලන සත්ත්ව කොටස් ආදිය හැඳින්විය හැකි ය.

ජෛව ස්කන්ධ අධික ලෙස පරිසරයේ එක්රැස් වීම හානිකර වේ. එළවළු, පලතුරු ආදී මාංශල අස්වනු ගොවිපොළේ සිට වෙළෙඳපොළ හරහා පාරිභෝගිකයා වෙත අලෙවි කිරීම දක්වා සිදුවන ක්‍රියාදාමයේ ගැටලු නිසා ඒවා තැලීම් හා පොඩිවීම්වලට ලක් වී නරක් වේ. ඒවා බොහෝ විට සතිපොළ ඇතුළු වෙනත් වෙළෙඳපොළවල් අසල ඉවත ලා ඇතිවිට අධික දුර්ගන්ධයක් ඇති කරමින් පරිසර දූෂණය සිදු වේ. නිවෙස් තුළ ද එදිනෙදා කටයුතුවල දී ජෛව ස්කන්ධ එක් රැස් වේ.

- ශ්‍රී ලංකාවේ පැරණි දේශීය බෝග ප්‍රභේද විනාශ වීමේ තර්ජනයට ලක් වීම

අප රටේ පැරණි දේශීය බෝග ප්‍රභේද පරිසරයේ වෙනස්කම්වලට ඔරොත්තු දෙන, පළිබෝධ හානිවලට අඩුවෙන් ලක් වන ඒවා වේ.

වර්තමානයේ වෙළෙඳපොළට හඳුන්වා දෙන ලද වැඩි අස්වැන්නක් සහිත ඇතැම් ආනයනික බෝග ප්‍රභේද ඇතත් ඒවායේ බීජ ප්‍රරෝහණය නොවන ඒවා වේ. එසේ වන්නේ ජාන තාක්ෂණය මගින් එම බීජ ප්‍රරෝහණය වීම වළක්වා තිබීම යි. මෙවැනි ප්‍රභේදවල මල්වලින් නිපදවන පරාග මගින් දේශීය ප්‍රභේද පරාගණය වුවහොත් එම දේශීය ප්‍රභේදවලින් හටගන්නා බීජ ද ප්‍රරෝහණ ශක්තියෙන් තොර වීමට ඉඩ ඇත. එවිට දේශීය ප්‍රභේද වඳ වී යාමට ඉඩ ඇත. මෙම තත්ත්වය පරිසරයේ ජෛව විවිධත්වය අඩු වීමට හේතු වේ.

## කෘෂිකාර්මික ක්‍රියාකාරකම් හේතුවෙන් පරිසරයට සිදුවන හානිය අවම කර ගැනීමට යොදා ගත හැකි හරිත කෘෂි තාක්ෂණික විසඳුම්

ඉහත දක්වන ලද පරිසරයට හානිකර විය හැකි කෘෂිකාර්මික පිළිවෙත් සඳහා විකල්ප ක්‍රම අනුගමනය කිරීම හෝ අවම පරිසර හානියක් සිදු විය හැකි වන පරිදි සුදුසු කෘෂිකාර්මික පිළිවෙත් අනුගමනය කිරීම අපගේ යුතුකමකි. ගෙවත්තේ හෝ පාසලේ දී භාවිත වන කෘෂිකාර්මික පිළිවෙත් නිසා සිදු විය හැකි පරිසර හානිය අවම කර ගත හැකි පරිදි අනුගමනය කළ හැකි හරිත තාක්ෂණික විසඳුම් කිහිපයක් පිළිබඳ මෙතැන් සිට සාකච්ඡා කෙරේ.

- වන වගාව

ස්වාභාවික වනාන්තරයක පවතින ස්වාභාවික සම්පත් වන ශාක, වන ජීවීන්, ජලාශ ආදිය නැවත ඇති කිරීමේ අරමුණ ඇති ව භූමිවල ශාක වගා කිරීම වන වගාව ලෙස හැඳින්වේ. උදාහරණ :- බඩගමුව රක්ෂිත වනය (කුරුණෑගල දිස්ත්‍රික්කය)



බඩගමුව රක්ෂිතයේ දර්ශනයක්

- කෘෂි වන වගාව

එක ම භූමියක කෙටිකාලීන බෝග සමග බහු වාර්ෂික බෝග සිටුවීම කෘෂි වන වගාවේ දී සිදු වේ. බහු ස්තර බෝග වගාව සහිත උඩරට ගෙවත්ත (Kandyan Home Garden) මෙයට කදිම නිදසුනකි. මේ මගින් භූමියක එක් බෝගයක් වගා කිරීමෙන් සිදු වන අහිතකර බලපෑම් අඩුකර ගත හැකි ය.



උඩරට ගෙවතු වගාවක්

- **බෑවුම් වගා භූමිවල සමෝච්ඡ කානු යෙදීම**

මෙහි දී ඉහළින් සෝදා ගෙන එන පස් සහ ජලය කානුවල එක්රැස් වී අඩු වේගයකින් පහළට ගලා යන බැවින් පස සේදීයාම අඩු වේ.



සමෝච්ඡ ක්‍රමයට කානු සැකසීම

- **බෑවුම් වගා භූමි හෙල්මලු ක්‍රමයට සකස් කිරීම**





හෙල්මලු ක්‍රමයට සකසන ලද බෑවුම් වගා බිමක්

රූප සටහනේ දක්වෙන පරිදි කැපුම් සහ පිරවුම් මගින් හෙල්මලු සකස් කර ඒ මත බෝග සිටුවනු ලැබේ. එමගින් පස සෝදා යාම වැළකේ. හෙල්මලුවේ පහළ පැත්තේ දරය මත තෘණ වැටියක් සිටුවීම හෝ වසුන් කිරීම මගින් පාංශු ඛාදනය අඩු කරගත හැකි වේ. තව ද හෙල්මලු දෙකක් අතර බෑවුමෙහි පොල් ලෙලි අතුරා ගොටුකොළ, මුගුණුවැන්න ආදි පලා වර්ග සිටුවීමෙන් ඛාදනය තවදුරටත් පාලනය වේ.

- **සමෝච්ඡ රේඛා මත රනිල ශාක දෙවැටි යෙදීම**

බෑවුම් භූමියක සමෝච්ඡ රේඛාව මත රූපයේ දැක්වෙන පරිදි ග්ලිරිසීඩියා හෝ වෙනත් රනිල ශාක දෙවැටියක් සිටුවා එම වැටි අතරට භූමියේ ඇති අනෙකුත් අපද්‍රව්‍ය වන ඉපනැලි ලී කැබලි ආදිය දමනු ලැබේ. එමගින් ජලය පහළට ගලා යාමට බාධා කරන බැවින් ඛාදනය අඩු වේ. ග්ලිරිසීඩියා ආදි රනිල ශාකවලින් කොළ පොහොර ලබාගත හැකි වීම ද අමතර වාසියකි.



රනිල ශාක දෙවැටියක් යොදන ලද බෑවුමක්

- **පාංශු පුනරුත්ථාපන ශාක සිටුවීම**

අඛණ්ඩව වගා කිරීමෙන් වගාවට හිතකර පාංශු ගුණාංග පිරිහෙන විට එම භූමියෙහි බෝග වගා කිරීම අත්හැර පුනරුත්ථාපන බෝගයක් සිටුවනු ලැබේ. පුනරුත්ථාපන බෝග මගින් පාංශු ලක්ෂණ නැවත හිතකර තත්ත්වයට පත් කරගත හැකි ය.

උදාහරණ :- ගෝතමාලා ආදි තෘණ ශාක සිටු වීම
අඬන හිරියා වැනි රනිල ශාක සිටුවීම



අඬනහිරියා



ගෝතමාලා

- **බෑවුම් සහිත භූමියේ පස ආවරණය වන ශාක වගා කිරීම**

පස ආවරණය වන ලෙස පියුරේරියා වැල් සිටුවීමෙන් සෝදා පාළුව වළක්වා ගත හැකි ය. පාසල් ගොවිපොළක බෑවුම් භූමිවල පස ආවරණය කරමින් වැඩෙන වට්ටක්කා, පිපිඤ්ඤා ආදී වැල් වර්ග ද, ගොටුකොළ සාරණ ආදි පලා වර්ග ද වගා කළ හැකි ය.



භූමිය ආවරණය කරන ලද පියුරේරියා



භූමිය ආවරණය කරන ලද ගොටුකොළ

- **බෝග වර්ධනය සඳහා හිතකර කාබනික පාංශු පරිසරයක් නිර්මාණ කිරීම මගින් රසායනික පොහොර භාවිතය අවම කිරීම**

පාංශු පරිසරික තත්ත්ව දියුණු කිරීම සඳහා හරිත තාක්ෂණික ක්‍රම කිහිපයක් පහත දැක්වේ.

- **බෝග වගාවේ දී කොම්පෝස්ට්, කොළ පොහොර, ගොම ඇතුළු සත්ත්ව අපද්‍රව්‍ය ආදි කාබනික පොහොර පමණක් යෙදීම**

- **කාබනික ශාක පෝෂක ඒකක වගා භූමියෙහි පිහිටුවීම**
  පෝෂණීය කාබනික අපද්‍රව්‍ය ගැඩවිලුන් මගින් කොම්පෝස්ට් කර බෝග සඳහා සාරවත් පාංශු පරිසරයක් නිර්මාණ කිරීම සඳහා මෙවැනි ඒකකයක් වැදගත් වේ.

- **කාබනික දියර පොහොර යෙදීම**

උදාහරණ :-
- ගැඩවිල් දියර පොහොර
- ගොම සහ ග්ලිරිසීඩියා, කැප්පෙටියා ආදි පත්‍ර ජලයේ පල් වීමට හැර ලබා ගන්නා දියර පොහොර
- කොම්පෝස්ට් දියර පොහොර (කොම්පෝස්ට් තේ)

**ක්‍රියාකාරකම් 1.7**



**කොම්පෝස්ට් දියර පොහොර සාදමු**

1. හොඳින් දිරූ කොම්පෝස්ට් කොටස් 1කට ජලය කොටස් 10 - 15 ක් පමණ දමා දින 03ක් පමණ පල් වීමට තබන්න.
2. වරින් වර මෙය කලවම් කර වාතනය දියුණු කරන්න.
   ඒ සඳහා මාළු ටැංකි වාතනයට යොදා ගන්නා කුඩා වායු පොම්පයක් භාවිත කළ හැකි ය.
3. ක්ෂුද්‍ර ජීවී ගහනය වැඩි කිරීම සඳහා මිශ්‍රණයට රතු සීනි කොටස් එකක් ද පෝෂණ සංයුතිය ඉහළ නැංවීම සඳහා මිශ්‍රණයට ටින් මාළු කොටස් 1/2 ක් ද අමතරව එකතු කරන්න.
4. දින 4කට පමණ පසු දියරය පෙරා ජලය කොටස් 10 - 15 පමණ ඊට එකතු කර දියර පොහොර ලෙස බෝගවලට යොදන්න.

- **වල් පැළෑටි, කෘමි පළිබෝධ සහ රෝග පාලනය සඳහා රසායනික නොවන පළිබෝධ පාලන ක්‍රම භාවිත කිරීම සහ ඒකාබද්ධ පළිබෝධ පාලනය**

මෙහි දී යොදා ගත හැකි සරල ක්‍රම කිහිපයක් පහත දැක්වේ.

- පළිබෝධ කෘමීන් මත යැපෙන වෙනත් විලෝපී සතුන්ට හිතකර පරිසරයක් නිර්මාණය කිරීම

උදාහරණ :-
- කුරුල්ලන්ට ලැග සිටීමට ඉපල්, පොල්පිති ආදිය සිටුවීම මගින් ඔවුන්ට කෘමි සතුන් ආහාරයට ගැනීම පහසු වේ.
- දිමි ගොටු සහිත ශාකවල සිට බෝග ශාක දක්වා ලණු ඇදීමෙන් දිමියන්ට පළිබෝධ කෘමීන් ආහාරයට ගැනීමට අවකාශය ලැබේ.

- පළිබෝධ කෘමීන් පලවා හරින ජෛව මර්දන ශාක වර්ග, බෝග සමග මිශ්‍ර කර වගා කිරීම.

උදාහරණ :- දාස්පෙතියා, ආඩතෝඩා, රාබු, අබ ආදි ශාකවල ඇති විශේෂ ගන්ධය නිසා ඇතැම් කෘමීන් වගා බිම් කරා නොපැමිණේ.



ගෝවා වගාවක් අතර දාස් පෙතියා වගා කර ඇති ආකාරය

- පළිබෝධ හානිවලට බහුල ව පාත්‍රවන බෝග ප්‍රභේද වෙනුවට ප්‍රවේණික උරුමයක් සහිත ප්‍රතිරෝධී දේශීය බෝග ප්‍රභේද වගා කිරීම

මෙහි දී කෘමි ප්‍රතිරෝධී, රෝග ප්‍රතිරෝධී දේශීය බෝග ප්‍රභේද වගා කරනු ලැබේ. මෙය ජෛව විවිධත්වය සංරක්ෂණය කිරීමට ද උපකාරී වන අතර දේශීය ප්‍රභේද වඳ වී යාමේ ගැටලුවට ද පිළියමක් වේ.

- බාධක යෙදීම

වගා බිමෙහි මායිම් පොල් අතු, තල් අතු ආදියෙන් ආවරණය කිරීමෙන් කෘමීන් ඇතුළු වෙනත් පළිබෝධයින් වගා බිම්වලට ඇතුළුවීම පාලනය වේ. තව ද ඵල ආවරණය කිරීමෙන් පලතුරු මැස්සන්, පක්ෂීන්, ලේනුන්, වවුලන් ආදි සතුන්ගෙන් සිදුවන හානිය අවම කර ගත හැකි ය.





පොල් අතු මගින් වගා බිම ආවරණය කර ඇති ආකාරය කඩදාසිවලින් පල ආවරණය කර ඇති ආකාරය

- **ජල සංරක්ෂණය සඳහා යෝග්‍ය ක්‍රම අනුගමනය කිරීම**

බෝග වගාවේ දී ජල හානිය අවම කළ හැකි කෘෂි කාර්මික පිළිවෙත් කිහිපයක් පහත දැක්වේ.

- **වර්ෂාපතන රටාවට ගැළපෙන පරිදි බෝග වගා කිරීම**

මෙහි දී බෝගවලට වැඩි ජල ප්‍රමාණයක් අවශ්‍ය වන කාලයට වර්ෂා ජලයෙන් ප්‍රයෝජන ගත හැකි පරිදි වගාව සැලසුම් කරගත යුතු වේ.

- **ජල අවශ්‍යතාව වැඩි අවධියේ දී බෝගවලට ප්‍රමාණවත් ජල සම්පාදනයක් සිදු කිරීම**

බෝගවලට වැඩි ජල අවශ්‍යතාවක් පවතින්නේ වර්ධනය වන කාලයේ දී ය. එබැවින් එම කාලයේ දී ප්‍රමාණවත් පරිදි ජල සම්පාදනය සිදු කර අඩු ජල අවශ්‍යතාවක් සහිත අවස්ථාවල ජල සැපයුම අඩු කළ හැකි ය.

- **ජල අවශ්‍යතාව අඩු නියං ප්‍රතිරෝධී දේශීය බෝග ප්‍රභේද වගා කිරීම**
- **පසට කාබනික ද්‍රව්‍ය එකතු කිරීම**

මෙමගින් බෝග වගා කරන පසෙහි ජල අවශෝෂණ ධාරිතාව වැඩි කළ හැකි ය. පස වසුන් කිරීමෙන් එසේ අවශෝෂණය වූ ජලය වාෂ්ප වී අපතේ යාම අඩු කළ හැකි ය.

- **ජලය සම්පාදනය කිරීමේ දී උදෑසන හෝ සවස් කාලයේ දී සිදු කිරීම**
- **ජල අවශ්‍යතාව හා ජල හානිය මෙන් ම ජලය වැය වීම ද ඉතා අඩු, කාර්යක්ෂම ජල සම්පාදන ක්‍රම යොදා ගැනීම**

උදාහරණ :- බිංදු ජල සම්පාදන ක්‍රමය

- **වැසි ජලය එක් රැස් කර භාවිතයට ගැනීම**

ශ්‍රී ලංකාවේ වැසි ජලය එක්රැස් කිරීමේ ප්‍රධානතම ව්‍යුහය වැව් ය. මේවාට අමතර ව නිවාස ඇතුළු අනෙකුත් ගොඩනැගිලිවල වහල මතට වැටෙන ජලය පීලි හා නළ මගින් ටැංකිවලට එකතු කර භාවිත කළ හැකි ය.

- **ගෘහස්ථ භාවිත අපජලය වර්ග කර වගාවලට සුදුසු පරිදි පවිත්‍ර කර භාවිත කිරීම**

ස්නානය කිරීම, රෙදි සේදීම ආදි ගෘහස්ථ කටයුතු සඳහා ජලය යොදා ගැනීමෙන් පසු එම අප ජලය වගා කටයුතුවලට යොදගත හැකි ය. ගෘහස්ථ අපජලය පිරිසිදු කර ගැනීම සඳහා සරල පෙරහන් ඇටවුම් යොදා ගැනීම ද උචිත වේ.



සරල පෙරහනක ආකෘතියක්

- **වගා පිළිවෙත් උචිත පරිදි වෙනස් කිරීම**

උදහරණයක් ලෙස බෝග වගාවේ දී උණුසුම් නියං තත්ත්ව මග හැරීම පිණිස බීජ වැපිරීම හෝ පැළ සිටුවීම කළමනාකරණය කිරීම

- **ජෛව ස්කන්ධ එක් රැස් වීමෙන් පරිසරයට සිදු වන හානිය අවම කර ගැනීමට සුදුසු ක්‍රම යොදා ගැනීම**

අපද්‍රව්‍ය බැහැර කිරීමේ දී ඔබ අධ්‍යයනය කර ඇති 3R සංකල්පය (Reduce, Reuse, Recycle Concept) සහ 2T සංකල්පය (Treatment & Trash Concept) සිහියට නගා ගන්න. ජෛව ස්කන්ධ එක් රැස් වීමෙන් පරිසරයට සිදුවන හානිය වළක්වා ගැනීම පිණිස යොද ගත හැකි ක්‍රියාමාර්ග කිහිපයක් පහත දක්වා ඇත.

- **කෘෂිකාර්මික අපද්‍රව්‍ය කොම්පෝස්ට් පොහොර නිපදවීමේ අමුද්‍රව්‍ය ලෙස යොදා ගැනීම**

කොම්පෝස්ට් තැනීම සඳහා බෝග ඉපනැලි, කුණු වී ඉවත දමන එළවළු හා පලතුරු ආදිය හා සත්ත්ව මලමුත්‍ර යොදා ගත හැකි ය. ඒ සඳහා වළ ක්‍රමය, ගොඩ ක්‍රමය, බැරල් ක්‍රමය, කූඩා ක්‍රමය ආදි විවිධ ක්‍රම අනුගමනය කළ හැකි වේ.

- **වගා බිමෙහි බෝග අතර සකසනු ලබන කාබනික ශාක පෝෂක ඒකකවල අමුද්‍රව්‍ය ලෙස ජෛව ස්කන්ධ යොදා ගැනීම**

මෙහි දී වගා බිමෙහි බෝග අතර තැනින් තැන සකසන ලද ඇටවුම්වල කාබනික ද්‍රව්‍ය දිරා යාමට සලස්වනු ලැබේ.

උදාහරණ :- කොම්පෝස්ට් කූඩා

රූපයේ දැක්වෙන පරිදි ලී කෝටු යොදා ගෙන පොළොව මත සකසා ගත් කූඩයට කාබනික ද්‍රව්‍ය දමා ඒවා දිරාපත් වූ විට පස සමග මිශ්‍ර කරනු ලැබේ.


කොම්පෝස්ට් කූඩයක්

- **ගැඩවිල් පණුවන් මගින් මාංශල ස්කන්ධ ජීර්ණය කරවීම**

ගැඩවිල් පණුවන් මගින් මාංශල ජෛව ස්කන්ධ ජීරණය කරවා ගැනීමෙන් පසු එම දිරාපත් වූ ද්‍රව්‍ය බෝග සඳහා පොහොර ලෙස යොදාගත හැකි ය.

**ක්‍රියාකාරකම 1.8**



**ගැඩවිල් පණුවන් යොදා ගනිමින් කාබනික ශාක පෝෂක ඒකකයක් ස්ථාපනය කරමු**

- 8 - 10 cm පමණ විෂ්කම්භයක් ඇති 40 - 50 cm පමණ දිග PVC නළ කැබැල්ලක් ගෙන සිදුරු සකසන්න.
- එය 1 රූපයේ දැක්වෙන පරිදි පාත්තිය තුළ සිටුවා ගන්න.
- ඒ තුළට මාංශල ජෛව ස්කන්ධ දමන්න.
- ඒ මතට මතු පිට පස් දමා එයට ගැඩවිලුන් කිහිප දෙනෙකු ඇතුළු කරන්න (2 රූපය).


1


2

ජෛව ස්කන්ධ ජීර්ණයෙන් ලැබෙන ශාක පෝෂක නළයේ සිදුරු අතරින් පසට එකතු වන අතර ඒවා ශාකවලට අවශෝෂණය කර ගත හැකි වේ.

- **ජීව වායු නිපදවීමේ අමුද්‍රව්‍යයක් ලෙස මාංශල ජෛව ස්කන්ධ යොදා ගැනීම**

මෙහි දී ඒවා නිර්වායු තත්ත්ව යටතේ ජීර්ණය වීමට සලසනු ලැබේ. එවිට නිකුත් වන වායුව ඉන්ධනයක් ලෙස යොදා ගත හැකි බැවින් එය බල ශක්ති අර්බුදයට පිළියමක් වේ. ඉතිරි වූ ඝන කොටස කාබනික පොහොරක් ලෙස බෝගවලට යෙදිය හැකි ය.

**ක්‍රියාකාරකම් 1.9**



ඇතැම් කෘෂිකාර්මික කටයුතු පරිසරයට හානි දායක බව ඉහත කරුණු අධ්‍යයනය කිරීමේදී ඔබට පෙනී යන්නට ඇත. පරිසරයට සිදු වන එක් හානියක් තවත් පරිසර හානියකට හේතුවක් වනු ඇත. මේ අයුරින් පරිසර හානි එකිනෙකට බද්ධ වී ඇති අයුරු දැක්වෙන සටහනක් සකස් කර පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.

**ක්‍රියාකාරකම 1.10**



**මුළුතැන්ගෙයි අපද්‍රව්‍ය යොදා ගෙන ජීව වායුව නිපදවමු**



**අවශ්‍ය ද්‍රව්‍ය**

කට කුඩා බෝතල් කිහිපයක්
බැලුන් කිහිපයක්
මුළුතැන්ගෙයි අපද්‍රව්‍ය

**ක්‍රමය**

- මුළුතැන්ගෙයි අපද්‍රව්‍ය ජලය සමග අඹරා තලපයක් ලෙස සකසා ගන්න.
- එම තලපය බෝතල්වලට පුරවන්න. මෙහි දී බෝතල්වල කට දක්වා ම පිරවීම කළ යුතු ය.
  එසේ කිරීමෙන් බෝතල් තුළ නිර්වායු තත්ත්වයක් ඇති වේ.
- රබර් පටි යොදා බෝතලයේ කටට බැලුනයක් හොඳින් සවිකර පසෙකින් තබන්න.
- බැලුනය තුළට ජීව වායුව පිරීමට කොපමණ කාලයක් ගත වේ දැයි නිරීක්ෂණය කරන්න.

අපද්‍රව්‍ය වර්ග වෙන් කර වෙන වෙන ම තලප ලෙස සාදා බෝතල්වලට දැමීමෙන් වඩා ඉක්මනින් ජීව වායුව නිපදවන්නේ කුමන අපද්‍රව්‍යයක් මගින් දැයි පරීක්ෂා කළ හැකි ය.




බහු වාර්ෂික බෝගවලින් ඉවත් කරනු ලබන මිය ගිය හා කප්පාදු කරන අතු කොටස් ශක්තිය නිපදවා ගැනීමේ ඉන්ධන හෙවත් දර ලෙස භාවිත කළ හැකි බැවින් පොසිල ඉන්ධන භාවිතය අවම කර ගත හැකි ය.

## ව්‍යාපෘතියක් ඇසුරෙන් හරිත තාක්ෂණ විසඳුම් ක්‍රියාවට නංවමු

**සැලසුම් කිරීම**

ඔබේ ගුරුතුමා හෝ ගුරුතුමිය සමග පාසල් වත්තෙහි නිරීක්ෂණ චාරිකාවක නිරත වන්න. පරිසරය හොඳින් නිරීක්ෂණය කරමින් එහි පවතින ගැටලු සහගත තත්ත්ව හඳුනාගන්න.

උදාහරණ :-

- ශාක ආවරණය හීන වීම නිසා පස සෝදා පාළුවට ලක් වූ ස්ථාන
- පාසල් ගොවිපොළේ බෝගවල දක්නට ලැබෙන පළිබෝධ හානි
- පාසල් ගොවිපොළේ යොදා ඇති ජල සම්පාදන ක්‍රම නිසා ජලය අපතේ යාම
- පාසල් භූමියේ අපද්‍රව්‍ය එක් රැස් වී තිබීම

ඔබ විසින් නිරීක්ෂණය කරන ලද ගැටලුවලට ලබා දිය හැකි විවිධ විසඳුම් පිළිබඳව සාකච්ඡා කරන්න.

**තීරණ ගැනීම**

ගැටලුවට අදාළ ව ඉදිරිපත් වූ විවිධ විසඳුම් අතරින් සුදුසු ම විසඳුම තීරණය කිරීමේ දී ඒ සඳහා වෙන් කර ඇති කාලය සහ විසඳුම් ක්‍රියාත්මක කිරීමට අවශ්‍ය සම්පත් සපයා ගැනීම පිළිබඳව සැලකිල්ලට ගන්න.

පාසලේ ක්‍රියාත්මක කිරීමට සුදුසු ව්‍යාපෘතිවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- සෝදා පාළුවට ලක්වී ඇති භූමියක ග්ලිරිසීඩියා දෙවැටියක් සැකසීම
- ගෙවත්තේ පළිබෝධ පාලනය සඳහා ස්වාභාවික ශාකසාර පළිබෝධනාශක පිළියෙල කිරීම
- ගෙවත්තේ වගා කර ඇති බෝග අතර කාබනික ශාක පෝෂක ඒකක සැකසීම
- ජලය හිඟ ප්‍රදේශවල බෝග සඳහා බිංදු ජල සම්පාදනය ක්‍රමයක් නිර්මාණය කිරීම (ඉවත දමන ප්ලාස්ටික් බෝතල් ඇසුරෙන්)

**ක්‍රියාත්මක කිරීම**

ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීම සඳහා සිදු කළ යුතු කාර්යයන් හඳුනා ගෙන ඒවා අනුපිළිවෙළින් පෙළගස්වා ගත යුතුයි. තව ද ඒ සඳහා අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ සපයා ගත යුතුයි. ව්‍යාපෘතියේ සාර්ථකත්වය පරීක්ෂා කිරීම පිණිස අදාළ ක්‍රියාමාර්ග ගැනීම ද අවශ්‍ය වේ.

**පසු විපරම**

- විසඳුම් ලෙස යොදා ගන්නා තාක්ෂණික ක්‍රමවේදවල ප්‍රායෝගික බව විමසා බැලිය යුතු ය.
- සැලසුම් කිරීම, තීරණ ගැනීම හා ක්‍රියාත්මක කිරීම යන කරුණුවල සාර්ථක අසාර්ථක බව පිළිබඳව ස්වයං ඇගයීමක් කළ යුතු ය.
- ව්‍යාපෘතිය තව දුරටත් සංවර්ධනය කළ හැකි ආකාර යෝජනා කළ යුතු ය.

ව්‍යාපෘතිය අවසානයේ තමා ලබා ගත් දත්ත හා නිරීක්ෂණ පදනම් කර ගනිමින් ස්වනිර්මාණ සංග්‍රහයක් පන්තියට ඉදිරිපත් කිරීමට කටයුතු කරන්න.

ඔබ ඇතුළු පන්තියේ යහළුවන් විසින් සිදු කළ ව්‍යාපෘති මගින් කෘෂිකාර්මික කටයුතු හේතුවෙන් සිදුවන පරිසර හානිය අවම කිරීමට හැකි වුණේ දැයි විමසා බලන්න.

තාක්ෂණික ක්ෂේත්‍රය

# 2 ආහාර

## 2.1 ආහාර මූලික කරගත් කර්මාන්ත හඳුනා ගනිමු.

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- ආහාර හා සබැඳි කර්මාන්තවල පැවැත්ම කෙරෙහි බලපාන සාධක හඳුනා ගැනීමටත්,
- සැපයුම්දාමය පිළිබඳ සැලකිලිමත් වෙමින් නිෂ්පාදන ක්‍රියාවලිය සැලසුම් කිරීමටත්,
- ආහාර මූලික කර ගත් කර්මාන්තයෙහි යෙදීම සඳහා සූදනම ප්‍රදර්ශනය කිරීමටත්,
- ව්‍යාපෘති සැලසුම් සකස් කිරීම සඳහා සුදුසු මෘදුකාංගයක් යොදා ගැනීමටත්

හැකියාව ලැබෙනු ඇත.



ලෝකයේ ජීවත් වන විවිධ පුද්ගලයන්ගේ අවශ්‍යතාව අනුව ඔවුන්ගේ රුචිකත්වයට ගැළපෙන පරිදි නව ආහාර ආශ්‍රිත නිෂ්පාදන නිරන්තරයෙන් වෙළෙඳපොළට හඳුන්වා දීම සිදු වේ. එමෙන් ම පවතින නිෂ්පාදන වැඩි දියුණු කර ආහාර කර්මාන්තයෙහි නියැලෙන අනෙකුත් ආයතනවල නිෂ්පාදන හා තරගකාරී මිල ගණන්වලට ඉදිරිපත් කිරීමට ද ආහාර නිෂ්පාදකයන් විසින් කටයුතු කරනු ලැබේ. ඒ අනුව ආහාර නිෂ්පාදකයින් අතර තියුණු තරගයක් ද දක්නට ලැබේ. මෙම තරගයට මුහුණ දීම සඳහා ආහාර නිෂ්පාදන ආයතන විවිධ උපක්‍රම යොදා ගනියි.



ආහාර කර්මාන්තය කෙරෙහි බලපාන සාධක හඳුනා ගනිමින් පාරිභෝගික අවශ්‍යතාවට ගැළපෙන, ගුණාත්මක ආහාර, සෞඛ්‍යාරක්ෂිතව හා නිර්මාණශීලීව ඉදිරිපත් කරන ආකාරය පිළිබඳ මෙම පරිච්ඡේදයේ දී සාකච්ඡා කරනු ලැබේ.

## ආහාර ආශ්‍රිත කර්මාන්තවල පැවැත්ම කෙරෙහි බලපාන සාධක

ආහාර නිෂ්පාදනය කරන ආයතනවල නිෂ්පාදන ධාරිතාව, ලාභය සහ පැවැත්ම කෙරෙහි ප්‍රධාන වශයෙන් බලපාන කරුණු කිහිපයක් පහත දක්වා ඇත.

- **ජනගහන වර්ධනය**

  ආහාර සඳහා ඇති ඉල්ලුම දිනෙන් දින වර්ධනය කරයි.

- **ගෝලීයකරණය**

  ආහාර නිෂ්පාදනය සඳහා දේශීය (Local) සහ විදේශීය (Foreign) වෙළෙඳපොළ අවස්ථා නිර්මාණය කරයි.

- **වෙළෙඳ ගිවිසුම්**

  රටවල් අතර ඇති කර ගනු ලබන වෙළෙඳ ගිවිසුම් නිසා පහසුවෙන් විදේශීය වෙළෙඳපොළට නව නිෂ්පාදන අඩු වියදමකින් (කුඩා බදු ප්‍රතිශත සහිත ව) හඳුන්වා දීමේ අවස්ථා ආහාර නිෂ්පාදන ආයතනවලට හිමි වේ.

- **සුපිරි වෙළෙඳසැල් ප්‍රචලිත වීම** (Supermarkets)

  ආහාර නිෂ්පාදකයින් මෙම වෙළඳසැල්වල අවශ්‍යතාව පරිදි උසස් ගුණාත්මක බවින් සහ ප්‍රමිතියෙන් යුතු සන්නාම සහිත (Branded) නිෂ්පාදන, තරගකාරීව නිපදවිය යුතු ය.



සුපිරි වෙළෙඳසැලක අභ්‍යන්තර දර්ශනයක්

- **ආහාර සෞඛ්‍යාරක්ෂිත බව** (Food safety)

  මේ පිළිබඳ පාරිභෝගික අවධානය වැඩි වීම නිසා නිෂ්පාදකයෝ තම නිෂ්පාදන රජයේ අනුමත නීතිරීතිවලට අනුකූලව සිදු කිරීමට උත්සුක වෙති.

- **සෞඛ්‍ය සම්පන්න ආහාර (Healthy Food) සඳහා පාරිභෝගික අවධානය වැඩි වීම**

  මේ නිසා දේශිය ආහාර, කෘත්‍රිම රසකාරක නොමැති ආහාර, පිෂ්ටය අඩු ආහාර සහ මේදය අඩු ආහාර ආදිය සඳහා ඉල්ලුම වැඩි වී ඇත.

- **ආහාර හා සබැඳි සේවා ලබා ගැනීම**

  සංකීර්ණ ජීවන රටාව නිසා අර්ධ වශයෙන් හෝ අවම වශයෙන් සැකසූ හෝ ක්ෂණික ආහාරවලට පාරිභෝගික ඉල්ලුම වැඩි ය.

## ආහාර පරිභෝජනය සඳහා පාරිභෝගිකයා තුළ ඇති අපේක්ෂා

ආහාර සම්බන්ධයෙන් පාරිභෝගිකයාගේ අපේක්ෂා විවිධ වන අතර එම අපේක්ෂා, පුද්ගල සාධක මත වෙනස් විය හැකි ය. එම නිසා ආහාර නිෂ්පාදන කාර්යයේ දී පාරිභෝගික අපේක්ෂා උපරිම වශයෙන් මුදුන්පත් කිරීම සඳහා ක්‍රියා මාර්ග අනුගමනය කිරීම අත්‍යවශ්‍ය වේ. විශේෂයෙන් යම් ආහාරයක් එම ස්වභාවයෙන් ම අඛණ්ඩව පවත්වා ගැනීමෙන් හෝ සංවර්ධනයක් සහිතව ඉදිරිපත් කිරීමෙන් පාරිභෝගිකයාගේ අපේක්ෂා මුදුන්පත් කිරීමට අදාළ ආහාර නිෂ්පාදකයාට හෝ නිෂ්පාදන ආයතනයට හැකි විය යුතු ය. මෙහි දී පාරිභෝගිකයා විසින් ප්‍රධාන වශයෙන් ආහාරයේ මිල, ආහාර නිෂ්පාදනයේ විවිධත්වය (Food Product Variety), ආහාරයේ ගුණාත්මකභාවය (Food Quality) යනාදි සාධක පිළිබඳ සලකා බලනු ලැබේ.

## ආහාර නිෂ්පාදනයක තිබිය යුතු ප්‍රමිති හා පිරිවිතර

ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී ආහාරයේ ගුණාත්මක බව සහ සෞඛ්‍යාරක්ෂිත බව රැක ගැනීමට ආහාර ප්‍රමිති යොදා ගත හැකි ය.

ආහාර සඳහා ප්‍රමිති හා පිරිවිතර යොදා ගැනීමේ වැදගත්කම

- පාරිභෝගිකයාට සෞඛ්‍යාරක්ෂිත ආහාරයක් ලබා දීම
- පාරිභෝගිකයාට ආහාර සැපයුම්දාමය (Food Chain) පිළිබඳව විශ්වාසය තහවුරු කිරීම
- ගුණාත්මක හා සෞඛ්‍යසම්පන්න ආහාර තෝරා ගැනීමට පහසු කිරීම
- ආහාරවල ගුණාත්මක බව සහ සෞඛ්‍යාරක්ෂිත බව සන්නිවේදනය කිරීම

ශ්‍රී ලංකාවේ බහුලව භාවිත වන්නේ ජාත්‍යන්තර ප්‍රමිතිකරණ සංවිධානය (ISO) සහ ශ්‍රී ලංකා ප්‍රමිති ආයතනය (SLS) මඟින් නිර්දේශිත ප්‍රමිති වේ.

**ක්‍රියාකාරකම් 2.1**



පහත සඳහන් වෙබ් ලිපින භාවිත කර ISO (International Organization for Standardization) සහ SLS (Sri Lanka Standards) පිළිබඳ තොරතුරු ගවේෂණය කරන්න.

www.iso.org

www.sls.lk

ඔබ ලබාගත් තොරතුරු ඇසුරින් එම ප්‍රමිති පිළිබඳ පෝස්ටරයක් නිර්මාණය කර පාසලේ දැන්වීම් පුවරුවේ ප්‍රදර්ශනය කරන්න.

## සෞඛ්‍යාරක්ෂිත සහ ඉහළ ගුණාත්මක බවින් යුතු ආහාර පිළියෙල කිරීම

ආහාර නිෂ්පාදනයේ දී **හොඳ නිෂ්පාදන පුරුදු** (GMP - Good Manufacturing Practices) භාවිතයෙන්, ඉහළ ගුණාත්මක බවකින් සහ සෞඛ්‍යාරක්ෂිත බවකින් යුතු ආහාර පාරිභෝගිකයින්ට ලබා දීමට නිෂ්පාදකයාට හැකියාව ලැබේ. හොඳ ආහාර නිෂ්පාදන පුරුදු ප්‍රධාන වශයෙන් කොටස් හතරකට බෙදා වර්ග කළ හැකි ය.

- **පුද්ගල සනීපාරක්ෂාව**
  - ක්‍රමවත් ලෙස අවශ්‍යතාව අනුව දෑත් සේදීම
  - පිරිසිදු නිල ඇඳුම් ඇඳීම
  - සුදුසු හිස් ආවරණ පැළඳීම
  - ආහාර නිෂ්පාදන ක්‍රියාවලිය අතරතුර ආභරණ සහ ඔරලෝසු භාවිත නොකිරීම
  - නිෂ්පාදන ක්‍රියාවලිය අතරතුර ආහාර නොගැනීම සහ දුම් පානය නොකිරීම




ආරක්ෂිත ඇඳුම් පැළඳුම්

- **ආහාර නිෂ්පාදනය කරන ස්ථානයේ පිරිසිදුකම සහ පහසුකම්**
  - අත් සේදීමට අවශ්‍ය පහසුකම් සහිත වෙන් කරන ලද ස්ථානයක් පවත්වා ගෙන යාම
  - ආහාර නිෂ්පාදනය කරන ස්ථානයට හොඳින් එළිය හා වාතාශ්‍රය ලැබීමට සැලැස්වීම
  - සකස් කරන ලද ආහාර නියමිත පරිදි ගබඩා කිරීමේ පහසුකම් තිබීම
  - සකස් කරන ලද ආහාර, පිළියෙල නොකළ ආහාරවලින් (Raw Materials) වෙන් කොට ගබඩා කිරීමට අවශ්‍ය පහසුකම් තිබීම
  - නිසි පරිදි පළිබෝධ පාලන ක්‍රම අනුගමනය කිරීම
    උදාහරණ:- මීයන්, කැරපොත්තන්, සහ මැස්සන් පාලනය
- **ප්‍රමිතියෙන් යුතු උපකරණ (Equipment) සහ භාජන (Utensils) භාවිතය**
  - පහසුවෙන් පිරිසිදු කළ හැකි සහ ආහාර සමග ප්‍රතික්‍රියා නොකරන අමුද්‍රව්‍යවලින් නිර්මාණය කරන ලද ඒවා වීම
    උදාහරණ :- මළ නොබැඳෙන වානේ භාජන
  - පහසුවෙන් නඩත්තු කළ හැකි වීම
- **නිෂ්පාදන ක්‍රියාවලිය පාලනය කිරීම**
  - උෂ්ණත්වය වැනි භෞතික සාධක පාලනය පිළිබඳ දත්ත නිරතුරුව ලබා ගැනීම සහ වාර්තා පවත්වා ගෙන යෑම

**උෂ්ණත්වය පිළිබඳ වාර්තාව**

ස්ථානය:

| දිනය | වේලාව | උෂ්ණත්වය |
|---|---|---|
| | | |

  - අමුද්‍රව්‍ය පිළිබඳව නිසි පරිදි වාර්තා තබා ගැනීම
  - සියලු ම ආහාර නිෂ්පාදන සඳහා හඳුනා ගැනීමේ අංකයක් (Identification Number) හෝ කේතයක් ලබා දීම
  - ආහාර තත්ත්ව පාලනය පිළිබඳව අවශ්‍ය පරීක්ෂණ සිදු කිරීම සහ වාර්තා තබා ගැනීම

## ආහාර නියමිත පරිදි සකස් කිරීමේ ක්‍රියාවලිය

නිෂ්පාදනය කරනු ලබන ආහාර වර්ගය අනුව උපයෝගී කර ගත යුතු ක්‍රම වෙනස් වේ. නමුත් සෑම ආහාරයක් ම පිළියෙල කිරීමේ දී පොදු ක්‍රියාවලියක් අනුගමනය කළ යුතු වේ.

| පියවර | උදාහරණ | |
|---|---|---|
| නිෂ්පාදන ක්‍රියාවලියට සුදුසු අමුද්‍රව්‍ය තෝරා ගැනීම | • හොඳින් මේරූ, පළිබෝධවලින් තොර අමුද්‍රව්‍ය තෝරා ගැනීම |  |

| | | |
|---|---|---|
| පිරිසිදු කිරිම | ● ධාන්‍යවලින් ගල් වැලි ඉවත් කිරීම<br>● එළවළු පලතුරු හොඳින් සෝදා පිරිසිදු කිරීම (ක්ලෝරින් කෘත ජලයෙන් 0.1%) |  |
| අනවශ්‍ය ද්‍රව්‍ය ඉවත් කිරීම | ● එළවළු පලතුරුවල පොතු ඉවත් කිරීම<br>● ඇටවලින් පොතු ඉවත් කිරීම |  |
| කොටස්වලට වෙන් කිරීම (Disintegration) | ● ආහාර අවශ්‍ය ප්‍රමාණයට කොටස් කිරීම මේ සඳහා කැපීම (Cutting), ඇඹරීම (Grinding), පල්ප සෑදීම (Pulping), වැනි දෑ දැක්විය හැකි ය. |  |
| අවශ්‍ය අනෙකුත් අමුද්‍රව්‍ය සමග මිශ්‍ර කිරීම | ● අවශ්‍ය පරිදි සීනි, ලුණු, කුළුබඩු, හෝ අනෙකුත් අවශ්‍ය අමුද්‍රව්‍ය සමග මිශ්‍ර කිරීම |  |
| අවශ්‍ය පරිදි පිසීම | ● සාදාගත් ආහාර මිශ්‍රණය අවශ්‍ය උෂ්ණත්වයේ නියමිත කාලයක් සඳහා රඳවා තබා ගැනීම (පැස්චරීකරණය හෝ ජීවාණුහරණය) |  |
| ඇසිරීම හා ලේබල් කිරීම | ● සුදුසු පරිදි ඇසුරුම් යොදා ගෙන ඇසිරීම (ටින්, වීදුරු භාජන, කාඩ්බෝඩ් පෙට්ටි, පොලිතීන් කවර) ලේබලය ආකර්ෂණීය විය යුතු අතර එහි නිෂ්පාදකයාගේ තොරතුරු, කල් ඉකුත් වන දිනය සහ ගබඩා කළ යුතු ආකාරය අඩංගු විය යුතු ය |  |
| ගබඩා කිරීම | ● ආහාරයේ ස්වභාවය අනුව කාමර උෂ්ණත්වයේ හෝ ශීත තත්ත්ව යටතේ ගබඩා කිරීම |  |

ක්‍රියාකාරකම 2.2



## අන්නාසි අවම ලෙස සකසමු

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-**

ඉදුනු අන්නාසි ගෙඩියක්
ජලය සහිත බඳුනක්
පිහියක්
0.1% සිට්රික් අම්ලය ද්‍රාවණයක්

**ක්‍රමය**

- අන්නාසි ගෙඩියේ පොතු ඉවත් කරන්න (1 රූපය).
- එය උචිත පරිදි කැබලිවලට කපා ගන්න (2 රූපය).
- කපාගත් අන්නාසි කැබලි සිට්රික් අම්ලය (0.1%) සහිත ජලයේ මිනිත්තු කිහිපයක් (මිනිත්තු 5 ක් පමණ) ගිල්වා තබන්න.
  සිට්රික් අම්ලය වෙනුවට දෙහි යුෂ මිශ්‍ර කරන ලද ජලයේ ගිල් වීම ද කළ හැකි ය. එමගින් අන්නාසි කැබලි දුඹුරු පැහැ ගැන්වීම වළකියි.
- ජලය පෙරා ඉවත් කරන්න.
- සුදුසු පරිදි ඇසුරුම් කරන්න.










අස්වනු බහුල අවදියේ දී එළවළුවක් හෝ පලතුරක් අවම වශයෙන් සැකසීම සිදු කරන ආකාරය පන්ති කාමරයේ දී අත්හදා බලන්න.

## ආහාර මූලික කර ගත් කර්මාන්ත සැලසුම් කිරීම

ආහාර මූලික කරගත් කර්මාන්තයක් ආරම්භ කිරීමට පෙර සැලසුමක් සකස් කර ගැනීම ඉතා වැදගත් වේ. මෙහි දී වෙළෙඳපොළ හඳුනා ගෙන එහි අවශ්‍යතාවලට අනුකූලව අලෙවි කරන ප්‍රමාණය තීරණය කළ යුතු වේ. තව ද පළාතේ පවතින සුලබ අමුද්‍රව්‍ය යොදා ගනිමින් ආහාර නිෂ්පාදනය සැලසුම් කිරීමෙන් වැඩි ලාභයක් උපයා ගත හැකි වේ. උදාහරණයක් ලෙස වැඩි ඉල්ලුමක් පවතින ආහාර ද්‍රව්‍ය හඳුනා ගෙන ඒවා වැඩි වශයෙන් නිෂ්පාදනය කළ යුතු වේ.

පහත දක්වා ඇත්තේ නිෂ්පාදන ක්‍රියාවලියක් සැලසුම් කර ගත යුතු ආකාරය පිළිබඳ දළ සටහනකි. මෙම පරිච්ඡේදයේ අඩංගු ව්‍යාපෘතිය කියවීමෙන් ඔබට මේ පිළිබඳ අවබෝධයක් ලබා ගත හැකි වේ.




**සැපයුම්දාමයේ දළ සටහනක්**

## දේශීය ආහාර පරිභෝජනය දිරිමත් කිරීම

දේශීය වශයෙන් නිපදවන ආහාරවල රසය, පෝෂ්‍යදායී බව සහ ගුණාත්මක බව ඉතා ඉහළ අගයක පවතී.

උදාහරණ :- දේශීය වී ප්‍රභේද සඳහා පාරිභෝගික මෙන් ම ගොවියන්ගේ ද වැඩි අවධානයක් යොමු වී තිබේ.

ශ්‍රී ලංකාවේ විවිධ පළාත්වල විවිධ ආහාර වර්ග සුලබ වශයෙන් දක්නට ලැබේ. පහත වගුවේ දක්වා ඇත්තේ ඒ සඳහා උදහරණ කිහිපයකි.

| පළාත | බහුලව පවතින ආහාර වර්ග |
|---|---|
| උතුරු පළාත | තල්, අඹ, මාළු, රතු ලූනු, මිරිස්, කෙසෙල්, නෙල්ලි, සියඹලා |
| උතුරු මැද පළාත | සහල්, මිරිස්, කජු, මාෂබෝග, දිවුල්, පහතරට එළවළු, බඩ ඉරිඟු |
| වයඹ පළාත | පොල්, කජු, සහල්, පහතරට එළවළු, ඉස්සන්, මාළු, මාෂබෝග, දෙහි, අඹ |
| මධ්‍යම පළාත | උඩරට එළවළු, අර්තාපල්, අලිගැටපේර, පීච්, පෙයාස්, ස්ට්‍රෝබෙරි, තේ, සාදික්කා, කරාබු නැටි, කරඳමුංගු, වැනිලා, දූරියන්, කෙසෙල්, කිතුල්, කිරි |
| නැගෙනහිර පළාත | මාළු, ඉස්සන්, කකුළුවන්, සහල්, බඩඉරිඟු |
| බස්නාහිර පළාත | පොල්, කොස්, දෙහි, සහල්, මැංගුස්, සැපතිල්ලා, අන්නාසි, රඹුටන්, කජු, දූරියන්, කෙසෙල්, ගම්මිරිස්, සියඹලා, කෝපි, මාළු, බිත්තර |
| ඌව පළාත | උඩරට එළවළු, තේ, සහල්, කෙසෙල්, පැපොල්, අලිගැට පේර, දොඩම්, රට කජු |
| සබරගමු පළාත | කිතුල්, දූරියන්, කෝපි, එනසාල්, කරාබු නැටි, තේ |
| දකුණු පළාත | මාළු, මී කිරි, සියඹලා, කුරුඳු, දිවුල්, කොමඩු, කෙසෙල්, සහල් සහ වෙනත් විවිධ ධාන්‍ය වර්ග, පහතරට එළවළු |

ආහාර ආශ්‍රිත නිෂ්පාදනයක් ආරම්භ කිරීමේ දී තම ප්‍රදේශයේ බහුලව පවතින අමුද්‍රව්‍ය තෝරා ගැනීමෙන් නිෂ්පාදන පිරිවැය අඩු කර ගෙන වැඩි ලාභයක් ලබා ගත හැකි ය. මීට අමතර ව බොහෝ අස්වනු වාරවල දී එළවළු සහ පලතුරු ඉතා විශාල ලෙස අපතේ යාම ශ්‍රී ලංකාවේ සුලබ සංසිද්ධියකි. උදාහරණ ලෙස අඹ, දෙහි, දිවුල් සහ කොස් වැනි පලතුරු ද බොහෝ උඩරට සහ පහතරට එළවළු වර්ග ද දැක්විය හැකි ය. එම නිසා ව්‍යවසායකයකුට (Enterpreneur) තම ප්‍රදේශයේ සුලබව දැකිය හැකි අමුද්‍රව්‍යයක් යොදා ගනිමින් ආහාර මූලික කර ගත් ව්‍යාපාරයක් ආරම්භ කළ හැකි ය.

## ව්‍යාපෘතියක් ඇසුරින් ආහාර මූලික කරගත් කර්මාන්තයක් ආරම්භ කරමු

දේශීය අමුද්‍රව්‍ය බොහෝ අවස්ථාවල ප්‍රයෝජනයට නොගෙන අපතේ යන අවස්ථා අප කොතෙකුත් දැක ඇත. මෙසේ සුලබ දේශීය අමුද්‍රව්‍ය යොදා ගනිමින් දේශීය මෙන් ම විදේශීය සංචාරකයින් ඉලක්ක කර ගනිමින් ප්‍රමිතියෙන් යුතු ආහාර මූලික කරගත් කර්මාන්තයක් ආරම්භ කළ හැකි ය.

### සැලසුම් කිරීම

මෙහි දී පළමු ව ආහාර කර්මාන්තය ආශ්‍රිතව පවතින ගැටලු හඳුනාගත යුතු වේ. ඉහත හඳුනා ගත් ගැටලුව වන ආහාර සඳහා ගත හැකි දේශීයව සුලබ අමුද්‍රව්‍ය අපතේ යාම සඳහා පවතින විකල්ප විසඳුම් අතරින් සුදුසු විසඳුමක් තෝරා ගැනීමට අවධානය යොමු කළ යුතු ය.

ආහාර මූලික කරගත් ව්‍යාපෘතියක් සැලසුම් කිරීමේ දී පහත දැක්වෙන කරුණු පිළිබඳ විශේෂයෙන් සැලකිලිමත් විය යුතු ය.

- වෙළෙඳපොළ ආහාර අවශ්‍යතා හඳුනා ගැනීම
- ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේ දී මුහුණ දීමට සිදු වන අභියෝග හඳුනා ගැනීම
- ආහාර හා සබැඳි කර්මාන්ත කෙරෙහි බලපාන සාධක පිළිබඳ සැලකිලිමත් වීම
- නිෂ්පාදන ධාරිතාව, අලෙවි කරන ප්‍රමාණ, යෙදවුම්, මානව හා භෞතික සම්පත් හඳුනා ගැනීම

### ක්‍රියාකාරි සැලැස්ම

ව්‍යාපෘතිය ආරම්භ කිරීමට පෙර ක්‍රියාකාරි සැලැස්මක් සකස් කර ගැනීමෙන් ක්‍රියාවලිය නිසි පරිදි කළමනාකරණය කර ගත හැකි ය. ඔබගේ පාසලේ පවතින පරිගණක පහසුකම් යොදා ගනිමින් ක්‍රියාකාරි සැලැස්ම පිළියෙල කර ගැනීමට කටයුතු කළ හැකි ය. පරිගණකය ආශ්‍රිතව ක්‍රියාකාරි සැලැස්මක් සකස් කර ගන්නා ආකාරය මෙම පරිච්ඡේදය අවසානයේ ඉදිරිපත් කර ඇත.

| | කාර්යය | කාල රාමුව | | |
|---|---|---|---|---|
| | | සතිය (1) | සතිය (2) | සතිය (3) |
| 1. | මූලික සාකච්ඡාව හා ව්‍යාපෘති ඉලක්ක හඳුනා ගැනීම | | | |
| 2. | ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේ දී මුහුණ දීමට සිදුවන අභියෝග හඳුනා ගැනීම | | | |
| 3. | නිෂ්පාදන ධාරිතාව, අලෙවි කරන ප්‍රමාණ, යෙදවුම් මානව හා භෞතික සම්පත් හඳුනා ගැනීම | | | |
| 4. | නිෂ්පාදන ක්‍රියාවලිය හා ක්‍රමවේදයන් තිබිය යුතු පිරිවිතර සකස් කිරීම | | | |
| .... | ............................................................ | | | |
| .... | ............................................................ | | | |
| .... | ............................................................ | | | |
| .... | නිෂ්පාදන සැලසුම් ක්‍රියාත්මක කිරීම | | | |
| | වෙළෙඳපොළට ඉදිරිපත් කිරීම | | | |
| | ව්‍යාපෘතිය අවසාන කිරීම | | | |

**තීරණ ගැනීම සහ ක්‍රියාත්මක කිරීම**

ක්‍රියාකාරී සැලැස්ම සකස් කිරීමෙන් පසු ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමට මූලික වන මානව සාධක සහ භෞතික සාධක සපයා ගන්නා ආකාරය, පිරිවැය ගණනය, බෙදා හැරීම සහ අලෙවි කිරීමේ වැඩ පිළිවෙළ පිළිබඳ තීරණගත යුතු ය. ඉන් පසු නිෂ්පාදන ක්‍රියාවලියේ සෞඛ්‍යාරක්ෂිත බව රඳවා තබා ගනිමින් ව්‍යාපෘතිය ක්‍රියාත්මක කළ යුතු ය.

**පසු විපරම**

ව්‍යාපෘතිය අවසානයේ ඔබ විසින් සිදු කරන ලද නිෂ්පාදනයේ පාරිභෝගික තෘප්තිය පිළිබඳව ශිෂ්‍යයන්ගේ, ගුරු මණ්ඩලයේ සහ වෙනත් අයගේ අදහස් ලබා ගැනීම සඳහා පසු විපරමක් සිදු කළ යුතු ය. මේ සඳහා ප්‍රශ්නාවලියක්, සමීක්ෂණ පත්‍රිකාවක් හෝ වෙනත් සුදුසු ක්‍රමවේදයක් අනුගමනය කළ හැකි ය.

පාරිභෝගික තෘප්තිය පිළිබඳ විමසා බැලිය හැකි සමීක්ෂණ පත්‍රිකාවක ආකෘතියක් (Consumer Satisfaction Survey Form) පහත දක්වා ඇත.

**පාරිභෝගික තෘප්තිය පිළිබඳ සමීක්ෂණ පත්‍රිකාව**

| සාධකය | ඇගයීම | | | යෝජනා |
|---|---|---|---|---|
| | හොඳයි | සාමාන්‍යයි | වැඩි දියුණු විය යුතුයි | |
| රසය | | | ✓ | පැණි රස වැඩියි |
| සුවඳ | | | | |
| පෙනුම/ ස්වභාවය | | | | |
| මිල | | | | |
| ප්‍රමාණය | | | | |
| ඇසුරුම්කරණය | | | | |

ඉහත පරිදි සැලසුම් කර අවසන් කළ ව්‍යාපෘතියක් පිළිබඳ තොරතුරු පහත දක්වා ඇත. එය හොඳින් අධ්‍යයනය කරන්න.

පාසල් අධ්‍යාපනය හමාර කළ සුනිල් තමා ජීවත්වන ගම් ප්‍රදේශයේ බහුලව පවතින තල් (*Borassus Flabellifer*) ගසේ ගෙඩි යොදා ගනිමින් සිදු කළ හැකි කර්මාන්තයක් ලෙස තල්කිරි මුසු කර නව යෝගට් නිෂ්පාදනයක් වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමට කටයුතු කළේ ය. ඔහු විසින් අනුගමනය කරන ලද පියවර පහත දැක් වේ.

**පියවර 1**

**තල් කිරි මිශ්‍ර යෝගට් සඳහා වෙළෙඳපොළ අවස්ථා හඳුනා ගැනීම**

- ඉලක්ක කරන ගනුදෙනුකරුවන් හඳුනා ගැනීම සහ ඔවුන්ගේ වුවමනා හා අවශ්‍යතා හඳුනා ගැනීම

**පියවර 2**

**යෙදවුම් සහ සැපයුම්කරුවන් හඳුනා ගැනීම**

- තම නිෂ්පාදන සඳහා අවශ්‍ය තල් ගෙඩි සපයා ගන්නා අයුරු තීරණය කිරීම
- නිෂ්පාදනයේ සහ යොදාගන්නා උපකරණවල පිරිවිතර තීරණය කිරීම
- තල්කිරි නිෂ්පාදනය කිරීමේ තාක්ෂණික ක්‍රියාවලිය තීරණය කිරීම
- කිරි, සීනි, ජෙලටින්, මුහුන්, වර්ණක සහ යෝගට් කෝප්ප මිල දී ගත හැකි ස්ථාන සොයා ගැනීම
- යෝගට් සඳහා බීජෝෂණ කුටියක් නිර්මාණය කර ගැනීම
- යෝගට් නිෂ්පාදනය ශීත කිරීමට අවශ්‍ය ශීත ගබඩා පහසුකම් සපයා ගැනීම
- මූල්‍ය අවශ්‍යතා සපුරා ගැනීමට සහ තාක්ෂණික දැනුම වැඩි දියුණු කර ගැනීමට කටයුතු කිරීම.
  මූල්‍ය අවශ්‍යතා සපුරා ගැනීම සඳහා වාණිජ බැංකු මඟින් ලබා දෙන සුළු හා මධ්‍ය පරිමාණ ව්‍යාපාර දිරි ගැන්වීමේ විශේෂ මූල්‍ය ආධාර ක්‍රම ගැන සොයා බැලීම
- මූල්‍ය නොවන උපකාර ලබා ගැනීම සඳහා විවිධ ආයතන සම්බන්ධ කර ගැනීම

නව ව්‍යාපාරයක් ඇරඹීම සඳහා අවශ්‍ය තාක්ෂණික සහාය, නීති උපදෙස් මෙන් ම අලෙවි ප්‍රවර්ධන ක්‍රම සහ ව්‍යාපාර ලියාපදිංචිය පිළිබඳ උපදෙස් ලබා ගැනීමට විවිධ රාජ්‍ය ආයතන සහ පෞද්ගලික ආයතන ශ්‍රී ලංකාවේ ඇත.

උදාහරණ :-

- ලංකා කාර්මික සංවර්ධන මණ්ඩලය
  (Industrial Development Board of Sri Lanka -www.idb.gov.lk)
- කාර්මික තාක්ෂණික ආයතනය
  (Industrial Technology Institute-www.iti.lk)
- ජාතික ආධුනිකත්ව සහ කාර්මික පුහුණු කිරීමේ අධිකාරිය
  (National Apprentice and Industrial Training Authority-www.naita.gov.lk)
- පශ්චාත් අස්වැන්න පිළිබඳ තාක්ෂණ ආයතනය
  (Institute of Post Harvest Technology-www.ipht.lk)

### පියවර 3

**පහත කරුණු අන්තර්ගත ව්‍යාපාර සැලැස්ම සකස් කිරීම**

- ව්‍යාපාරය පිළිබඳ විස්තර
- වෙළෙඳපොළ සහ වෙළෙඳ පොළ කොටස
- අපේක්ෂිත විකුණුම් ඇස්තමේන්තුව
- අලෙවිකරණය
- බෙදා හැරීම හෝ සැපයීම
- සම්පත් කළමනාකරණ සැලැස්ම
- ගිණුම් කටයුතු

### පියවර 4

**නිෂ්පාදන ක්‍රියාවලිය සැලසුම් කිරීම**

- පූර්ව නිෂ්පාදන ක්‍රියාවලිය මගින් නියම ආකාරයෙන් තල්කිරි මිශ්‍ර යෝගට් නිෂ්පාදනය අත්හදා බලමින් යෝගට් සහ මිශ්‍ර කළ හැකි උපරිම තල්කිරි ප්‍රමාණය සොයා ගැනීම
- නව නිෂ්පාදන කෙරෙහි පාරිභෝගික රුචිකත්වය දැන ගැනීම සහ අනෙකුත් ගුණාත්මක ලක්ෂණ සොයා ගැනීම
- නිෂ්පාදන ධාරිතාව සහ ඒකක ප්‍රමාණය තීරණය කිරීම
- පරීක්ෂණ ක්‍රම තීරණය කිරීම

  ආහාර නිෂ්පාදනයක් කිරීමට සැලසුම් කරන විට පරිරක්ෂණ ක්‍රම වන, ශීතනය, අධි ශීතනය, විජලනය, සාන්ද්‍ර සීනි / ලුණු යෙදීම, පැසවීම, පැස්චරීකරණය සහ ජීවාණුහරණය ආදිය පිළිබඳ අවධානය යොමු කිරීම අනිවාර්ය වේ.
- නිෂ්පාදන ක්‍රියාවලියේ දී හොඳ නිෂ්පාදන පුරුදු (Good Manufacturing Practices -GMP) සහ SLS ප්‍රමිති අනුගමනය කිරීම

### පියවර 5

**ඇසුරුම්කරණය සහ ලේබල් කිරීම**

- සන්නාමය (Brand Name) හා ලාංඡනය (Business Logo) සකස් කිරීම

**සන්නාමය** :- සුනිල් ඇග්‍රෝ ප්‍රොඩක්ට්ස් (Sunil Agro Products)

**ලාංඡනය** :-

- තල්කිරි මිශ්‍ර යෝගට් සඳහා වෙළඳ නාමයක් (Trade Name) තීරණය කිරීම
  උදාහරණ:- **පිරිසුදු තල්කිරි මිශ්‍ර යෝගට්**
  (සන්නාමය සහ වෙළෙඳ නාමය පාරිභෝගික පිළිගැනීම සහ විශ්වාසය ගොඩ නැගීමට අත්‍යවශ්‍ය කාරණා ලෙස සැලකිය හැකි ය.)
- සුදුසු ඇසුරුමක් තෝරා ගැනීම
  සුදුසු ඇසුරුමක් තෝරා ගැනීම මගින් අත්කර ගත හැකි වාසි
  - පරිභෝජනය කරන තෙක් නිෂ්පාදනය බාහිර උපද්‍රවවලින් ආරක්ෂා කිරීම
  - නිෂ්පාදනය සඳහා පාරිභෝගික ආකර්ෂණය සහ විශ්වාසය දිනා ගැනීම
  - නිෂ්පාදනයේ වටිනාකම වැඩි කිරීම සහ එයට ප්‍රවර්ධනයක් ලබා දීම
  - නිෂ්පාදනයේ ගුණාත්මක භාවය ආරක්ෂා කිරීම
  - නිෂ්පාදනයට වෙළෙඳපොළේ දී අනන්‍යතාවක් ලබා දීම
  - ප්‍රවාහනය පහසු කිරීම

- පහත සඳහන් කරුණු ඇතුළත් කොට ලේබලයක් සකස් කර ගැනීම
  - අඩංගු ද්‍රව්‍ය
  - ශුද්ධ බර හෝ ප්‍රමාණය (g/ml)
  - නිෂ්පාදිත දිනය හා කල් ඉකුත් වීමේ දිනය
  - නිෂ්පාදනය ගබඩා කළ යුතු හා ප්‍රවාහනය කළ යුතු ආකාරය
  - ප්‍රමිති/පිරිවිතරවලට අනුකූල බව (SLS/ISO)
  - නිෂ්පාදකයාගේ තොරතුරු (ලිපිනය, දුරකථන අංකය, ෆැක්ස් අංකය, විද්‍යුත් තැපැල් ලිපිනය)

### පියවර 6
**ගබඩාකරණය**

- අමුද්‍රව්‍ය ගබඩා කර තැබීම
- නිෂ්පාදන වෙළෙඳපොළට ප්‍රවාහනය කරන තුරු සහ පාරිභෝගිකයා අතට පත්වන තුරු ගබඩා කර තැබීම
  නිෂ්පාදනය අනුව ශීත හෝ කාමර උෂ්ණත්වයේ ගබඩා පහසුකම් සකස් කළ හැකි ය. ගබඩා පහසුකම් ඉතා හොඳින් නඩත්තු කිරීම හා පළිබෝධ පාලනය ද වැදගත් අංගයක් වේ.

### පියවර 7
**බෙදා හැරීම**

- නව නිෂ්පාදනය වෙළෙඳපොළට ඉදිරිපත් කිරීම
- වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමේ ක්‍රම තීරණය කිරීම
  - සෘජුව ම තමා විසින් ම පාරිභෝගිකයාට විකිණීම
  - සිල්ලර හා තොග වෙළඳුන් මගින් විකිණීම
  - වෙළඳ නියෝජිතයින් මගින් (ව්‍යාපාරය දියුණු වූ පසුව) විකිණීම

## පියවර 8

**වෙළෙඳ ප්‍රචාරණය හා පාරිභෝගික පසු අලෙවි සේවා පවත්වාගෙන යාම**

- වෙළෙඳ ප්‍රචාරණ ක්‍රම යොදා ගැනීම

  මේ සඳහා නිෂ්පාදනය පිළිබඳව අත් පත්‍රිකාවක් මුද්‍රණය කර බෙදාහැරීම, දැන්වීමක් මුද්‍රණය කර නගරයේ දැන්වීම් පුවරුවල ඇලවීම, ප්‍රසිද්ධ ස්ථානවල බැනර් හෝ පෝස්ටර් ප්‍රදර්ශනය කිරීම කළ හැකි ය.

- පාරිභෝගික පසු අලෙවි සේවා සැපයීම
  - තම නිෂ්පාදනය මිල දී ගත් පාරිභෝගිකයා තෘප්තිමත් කිරීම සඳහා විවිධ ක්‍රියාමාර්ග යොදා ගැනීම
  - පාරිභෝගික පසු අලෙවි සේවා (after sales services) සිදු කළ හැකි ආකාර තීරණය කිරීම
  - හැකි සෑම විට ම තම නිෂ්පාදනය පිළිබඳව පාරිභෝගික ප්‍රතිචාරය ලබා ගැනීම සඳහා කටයුතු කිරීම
  - සෑම විට ම පාරිභෝගික පැමිණිලි පිළිබඳ ව සැලකිලිමත් වෙමින් අදාළ ගැටලු ක්ෂණිකව විසඳීම

  උදාහරණ:-

  කැඩීබිඳී හෝ හානියට පත් නිෂ්පාදන ක්ෂණිකව මාරු කර දීම සහ අදාළ සිදුවීම පිළිබඳ කනගාටුව ප්‍රකාශ කිරීම

  නිෂ්පාදනයක් මාරු කිරීමට පැමිණි පාරිභෝගිකයෙකුට එය පහසුවෙන් කර දීම

  අදාළ භාණ්ඩයට ආදේශකයක් පිළිබඳව පාරිභෝගිකයා දැනුවත් කිරීම

  පසු අලෙවි සේවා සැපයීමේ වාසි
  - පාරිභෝගිකයා නිෂ්පාදනය කෙරෙහි රඳවා තබා ගනියි.
  - පාරිභෝගිකයා විසින් නිෂ්පාදනය පිළිබඳ විශ්වාස කිරීමත් ඒ පිළිබඳව අන් අයට පැවසීමත් සිදු කරන අතර ඒ මගින් වැඩිපුර පාරිභෝගිකයින් සංඛ්‍යාවක් අදාළ නිෂ්පාදනය මිල දී ගැනීමට පොළඹවනු ලබයි.
  - පාරිභෝගිකයා හා අදාළ ආයතන අතර බැඳීම වැඩි දියුණු කරයි.

ඔබ ප්‍රදේශයේ සුලබව ඇති ආහාරයට ගත හැකි ද්‍රව්‍යයක් යොදා ගෙන වෙළෙඳපොළට නව නිෂ්පාදනයක් හඳුන්වා දීම සඳහා ව්‍යාපෘතියක් සැලසුම් කර ක්‍රියාත්මක කරන්න. ඒ පිළිබඳව පන්ති භාර ගුරුතුමා හෝ ගුරුතුමිය සමග සාකච්ඡා කරන්න. පන්තිය කණ්ඩායම්වලට බෙදී එක් ව්‍යාපෘතියක් හෝ ව්‍යාපෘති කිහිපයක් වුව ද සිදු කළ හැකි ය.

# පරිගණක මෘදුකාංග භාවිත කරමින් ක්‍රියාකාරි සැලැස්මක් සකස් කරමු

ජීවිතය පුරා මතකයෙන් ඈත් නොවන අත්දැකීම් බවට පත් වන්නේ කැමැත්තෙන් හා ක්‍රියාශීලී ලෙස යම් කාර්යයක් සාර්ථකව නිම කළ විටක දී ය. සාර්ථකව කාර්යයක් නිම කිරීමට නම් ඒ සඳහා ගත කරන කාලය කළමනාකරණය කිරීම සඳහා ක්‍රියාකාරී සැලැස්ම සකස් කිරීම ඉතා වැදගත් වේ.

ව්‍යාපෘතියක් සැලසුම් කර ක්‍රියාත්මක කිරීමේ දී එම ව්‍යාපෘති කාර්යය තුළ විවිධ වූ පියවර මැනවින් ක්‍රමවත්ව හා ආකර්ෂණීයව සිදු කිරීමට පරිගණක මෘදුකාංග භාවිත කළ හැකි ය. ව්‍යාපෘති සකස් කිරීමේ ක්‍රියාවලියේ දී පහත අවස්ථා වෙත අවධානය යොමු කරන්න.

| කාර්යය | භාවිත කළ හැකි මෘදුකාංග විශේෂ | උදාහරණ |
|---|---|---|
| 01. ව්‍යාපෘති ලේඛන සැකසීම | වදන් සැකසුම් මෘදුකාංග (Word Processing Software) | MS Word<br>LibreOffice Writer<br>InDesing |
| 02. ව්‍යාපෘතියට අදාළ මුදල් ලේඛන සැකසීම/වගු ප්‍රස්ථාර සැකසීම | පැතුරුම්පත් මෘදුකාංග (Spreadsheet Software) | MS Excel<br>LibreOffice Calc |
| 03. ව්‍යාපෘතිය අන් අයට ප්‍රදර්ශනය කිරීම හෝ විස්තර කිරීම | සමර්පණ මෘදුකාංග හෝ විද්‍යුත් ඉදිරිපත් කිරීමේ මෘදුකාංග (Presentation Software) | MS PowerPoint<br>LibreOffice Impress<br>Corel Presentation |
| 04. ව්‍යාපෘතියේ ක්‍රියාකාරි සැලැස්ම සැකසීම | ව්‍යාපෘති සැලසුම් කිරීමේ මෘදුකාංග (Project management Software) | Gantt Project<br>MS Project |

ව්‍යාපෘති සකස් කිරීම සඳහා පවතින පරිගණක මෘදුකාංග අතරින් Microsoft Project සහ Gantt Project යන මෘදුකාංග ඔබට පාසල් පරිගණක විද්‍යාගාරයේ දී පහසුවෙන් භාවිත කළ හැකි ය.

Gantt Project පරිගණක මෘදුකාංගය භාවිත කරමින් ක්‍රියාකාරි සැලැස්මක් සකස් කරන ආකාරය මෙහි විස්තර කර ඇත.

පරිගණක විද්‍යාගාරය භාර ගුරුතුමාගේ සහාය හා උපදෙස් ලබාගෙන Gantt Project හෝ වෙනත් ව්‍යාපෘති සැලසුම් කිරීමට සුදුසු මෘදුකාංගයක් අන්තර්ජාලය භාවිත කරමින් බාගත (Download) කර ගන්න. Gantt Project මෘදුකාංගය ලබා ගැනීම සඳහා පහත දැක්වෙන අන්තර්ජාල ලිපිනය භාවිත කරන්න.

https://www.ganttproject.biz/download

Gantt Project මෘදුකාංගය බාගත කිරීමෙන් අනතුරුව මෙම මෘදුකාංගය පරිගණකයට ස්ථාපනය කිරීමට JAVA මෘදුකාංගයේ සහාය අවශ්‍ය වේ. මෙහි දී පරිණක තිරය මත පෙන්නුම් කරන සංවාද කොටුව භාවිත කර JAVA මෘදුකාංගය බාගත කරන්න.

පරිගණකයේ ස්ථාපනය කරන ලද Gantt Project මෘදුකාංගය විවෘත කිරීම සඳහා පහත දැක්වෙන උපදෙස් පිළිපදින්න

Start ⟶ Program ⟶ Gantt Project ⟶ Enter

පරිගණක තිරයේ දිස්වෙන  කෙටි මං සලකුණ මත දෙවරක් ක්ලික් කිරීමෙන් ද මෘදුකාංගය විවෘත කළ හැකි ය.

ව්‍යාපෘතිය සඳහා භාවිත වන Gantt Project මෘදුකාංගයේ අතුරු මුහුණත පහත දැක්වේ.




වැඩතලය අවශ්‍ය පරිදි සකස් කර ගැනීම සඳහා පහත උපදෙස් අනුව කටයුතු කරන්න.

Edit ⟶ Setting ⟶ Application ⟶ Enter

මෙම සංවාද කොටුව භාවිතයෙන් භාෂාව, අකුරු විශේෂ හා අකුරුවල ප්‍රමාණය ආදිය සැකසීමට හැකි වේ.

දත්ත සකස් කිරීමේ අතුරු මුහුණත ලබා ගැනීම සඳහා පහත පියවර අනුගමනය කරන්න.

Tasks ⟶ New Tasks ⟶ Enter
Tasks ⟶ Tasks Properties ⟶ Enter

Task Properties අතුරු මුහුණත පහත දැක්වේ.




එවිට ඉහත දක්වෙන සංවාද කොටුව ලැබෙන අතර එය භාවිත කරමින් කාර්යය පියවරට යෙදෙන නම, ආරම්භක දිනය, අවසාන දිනය, පියවරක ගත කරන කාලය ආදිය ඇතුළත් කළ යුතු ය. එම ආකාරයට ඉදිරි පියවර සඳහා ද දත්ත ඇතුළත් කළ හැකි ය.

පියවරෙන් පියවර දත්ත ඇතුළත් කිරීමේ දී Gantt Project හි දත්ත සැකසෙන ආකාරය පහත දැක්වේ.



ඔබ විසින් ව්‍යාපෘතියට අදාළ ව සපයන ලද දත්ත අනුව පරිගණක මෘදුකාංගය විසින් කාල රාමුව නිර්මාණය කරනු ඇත.




ඔබ විසින් නිර්මාණය කරන ලද කාල රාමුව මුද්‍රණය කිරීම සඳහා පහත පියවර අනුගමනය කරන්න. එමගින් ආකර්ෂණීය කාල රාමුවක් ඔබට ලබාගත හැකි ය.

Project ⟶ Print ⟶ Ok

ඔබ විසින් සිදු කරන ව්‍යාපෘති ලේඛනවල ආකර්ෂණීය හා ගුණාත්මක බව වර්ධනය කිරීම සඳහා ව්‍යාපෘති සැලසුම් කිරීමේ මෘදුකාංගය මෙන් ම අනෙකුත් මෘදුකාංග ද ප්‍රයෝජනවත් වනු ඇත.

# 2.2 ආහාර කර්මාන්තය නගා සිටුවීම සඳහා ආහාර විවිධාංගීකරණයෙහි යෙදෙමු.

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- ආහාර විවිධාංගීකරණය, ආහාර කර්මාන්තය නගා සිටුවීම සඳහා අත්‍යවශ්‍ය අංගයක් බව වටහා ගැනීමටත්,
- ආහාර නිෂ්පාදනය සඳහා අවශ්‍ය උපකරණ හා ඇටවුම් නිර්මාණය කිරීමටත්,
- විවිධ ආහාර නිර්මාණ ඉදිරිපත් කිරීම මගින් පාරිභෝගිකයාගේ ආකර්ෂණය වැඩි දියුණු කිරීමට සැලසුම් කිරීමටත්,
- පරිසර හිතකාමී නිෂ්පාදන වෙළෙඳ පොළට ඉදිරිපත් කිරීමටත්

හැකියාව ලැබෙනු ඇත.



ආහාර කර්මාන්තය ලෝකයේ ඉතා ශීඝ්‍රයෙන් දියුණු වන කර්මාන්තයකි. එයට එක් හේතුවක් වන්නේ ආහාර කර්මාන්තකරුවන් අතර පවතින තියුණු තරඟය යි. වැඩි වැඩියෙන් පාරිභෝගිකයන් තමන් වෙත ආකර්ෂණය කර ගැනීමට විවිධ රසයෙන්, විවිධ හැඩයෙන්, විවිධ අමුද්‍රව්‍ය භාවිතයෙන් නවතම නිෂ්පාදිත වෙළෙඳපොළට හඳුන්වා දීමට ආහාර කර්මාන්තකරුවන් අතර දැඩි උනන්දුවක් පවතී. මෙසේ විවිධ ආහාර වර්ග වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමේ දී ආහාර විවිධාංගීකරණය ඉතා වැදගත් වේ.



### 5.3.2 ආහාර විවිධාංගීකරණය

ආහාර විවිධාංගීකරණය යනු ආහාරයක් විවිධ මුහුණුවරවලින් පාරිභෝගිකයා වෙත ඉදිරිපත් කිරීම යි. මෙසේ විවිධ මුහුණුවරවලින් ආහාර ඉදිරිපත් කිරීමෙන් ආහාරයේ ඉන්ද්‍රීය ගෝචරභාවය (Organoleptic Qualities) වෙනස් කර පාරිභෝගිකයා වෙත ලබා දිය හැකි ය. ඉන්ද්‍රීය ගෝචරභාවය යනු යම් පුද්ගලයෙකුගේ පංච ඉන්ද්‍රියයන්ට දැනෙන ගුණාත්මක තත්ත්ව එනම් ආහාරයක රස, සුවඳ, පැහැය හා වයනය ආදිය කෙරෙහි ඒ පුද්ගලයා තුළ ඇතිවන ප්‍රසාදය යි.

ආහාර විවිධාංගීකරණය සඳහා උදාහරණයක් ලෙස එළකිරි යොදා ගනිමින් සිදු කරන නිෂ්පාදන දැක්විය හැකි ය.

## කිරි නිෂ්පාදන




කිරි සහ කිරි ආශ්‍රිත නිෂ්පාදන

එළකිරිවලින් යෝගට් නිෂ්පාදනය කිරීමේ දී එළකිරිවල රස, සුවඳ, පැහැය හා වයනය පැහැදිලි ලෙස වෙනස් වේ. යම් පුද්ගලයෙකු එළකිරිවල ඇති සුවඳ පැහැය, රස හෝ වයනයට අකමැති වුවත් එම පුද්ගලයා යෝගට්වල ඇති ගුණාංග ප්‍රිය කළ හැකි ය. එමගින් යමෙකු එළකිරි පානය නොකළත් එහි ඇති ගුණය ම යෝගට් මගින් ලබා දිය හැකි ය. මෙය ආහාර විවිධාංගීකරණයේ දකින්නට ලැබෙන ප්‍රයෝජන අතරින් එක් ප්‍රයෝජනයක් පමණි.

| ඉන්ද්‍රිය ගෝචර තත්ත්වය (Organoleptic Qualities) | එළකිරි | යෝගට් |
| --- | --- | --- |
| රස | කිරි රස | කිරි රස, පැණි රස, ඇඹුල් රස |
| පැහැය | සුදු | ලා කහ |
| සුවඳ | කිරි සුවඳ | කිරි සුවඳින් වෙනස් වූ සුවඳක් |
| වයනය | ද්‍රව | අර්ධ ඝන |

**ක්‍රියාකාරකම්** 2.3



විවිධාංගීකරණය කරන ලද ආහාර සඳහා උදාහරණ කිහිපයක් තෝරා ගන්න. මිතුරන් සමග සාකච්ඡා කරමින් ඒවායේ වෙනස් ගුණාංග හඳුනා ගන්න.
ඔබ හඳුනා ගත් ගුණාංග එම ආහාර සඳහා ලබා දීමට අනුගමනය කළ යුතු ක්‍රමවේද පිළිබඳ තොරතුරු සොයා ඉදිරිපත් කරන්න.

## ආහාර විවිධාංගීකරණය කිරීමේ වැදගත්කම

ආහාර විවිධාංගීකරණය, පාරිභෝගිකයාට මෙන් ම නිෂ්පාදකයාට ද ප්‍රතිලාභ රැසක් ගෙන දෙයි.

- අමුද්‍රව්‍ය විකිණීමෙන් ලැබෙන ලාභයට වඩා වැඩි ලාභයක් නිෂ්පාදනයක් ඉදිරිපත් කිරීම මගින් ලබා ගත හැකි වීම

  උදාහරණ :- කිරිවලින් ලැබෙන ලාභයට වඩා වැඩි ලාභයක් යෝගට් අලෙවියෙන් ලබා ගත හැකි ය.
- විවිධාංගීකරණය කිරීමෙන් බොහෝ ආහාර කල් තබා ගත හැකි වීම මගින් ආහාර නාස්තිය අවම වීම
- විවිධ වෙළෙඳපොළ සඳහා ඉදිරිපත් කිරීමේ හැකියාව පැවතීම නිසා හොඳ වෙළෙඳ පොළක් තම නිෂ්පාදනය සඳහා නිර්මාණය වීම
- විවිධ පුද්ගලයන්ගේ අවශ්‍යතාවලට අනුකූල වන පරිදි විවිධ නිෂ්පාදන එකම අමුද්‍රව්‍ය යොදා ගනිමින් නිපදවිය හැකි වීම

  උදාහරණ :- කුඩා ළමුන්ට ගැළපෙන පරිදි විවිධ රසයෙන් යුත් ආකර්ෂණීය පෝෂ්‍යදායී ආහාර නිපදවිය හැකි වීම
- පරිභෝගිකයාට තමන්ගේ රසඥතාවට අනුව නිෂ්පාදන මිලට ගත හැකි වීම

  ආහාර විවිධාංගීකරණය කිරීමෙන් ආහාර කර්මාන්තය නගා සිටුවීමට මනා පිටිවහලක් ලැබේ.
- උසස් පෝෂණ ගුණයෙන් යුතු විවිධ ආහාර පිළියෙල කර ගත හැකි වීම නිසා පුද්ගල පෝෂණ තත්ත්වය ඉහළ යාම

### ආහාර විවිධාංගීකරණයේ දී සැලකිලිමත් විය යුතු කරුණු

- ආහාරයේ ගුණාත්මක බව රැක ගැනීම

ආහාරයේ ගුණාත්මක සාධක වන රසය, වයනය, පැහැය, හැඩරුව, සුවඳ හා ආහාරමය අගය රැකෙන පරිදි ආහාර සකස් කිරීම අත්‍යවශ්‍ය වේ.

- ආහාරයේ සෞඛ්‍යාරක්ෂිත බව රැකෙන පරිදි සකස් කිරීම

ආහාරයක් පාරිභෝගිකයාගේ අතට පත්වීමේ දී එය සෞඛ්‍යාරක්ෂිතව එනම් ක්ෂුද්‍ර ජීවී ආසාදන, මහා ජීවී ක්‍රියාකාරකම් හෝ වස විසවලින් තොර වීම ඉතා වැදගත් වේ.

- ආහාරයේ පෝෂණ ගුණය රැකෙන පරිදි සකස් කිරීම

ආහාර වර්ග සකසන විවිධ නිෂ්පාදන ක්‍රම අනුව පෝෂක සංඝටක විනාශ වී යාමට ඉඩ ඇත. තව ද පෝෂක සංඝටක ශරීරයට උරා ගැනීමේ වෙනස්කම් නිෂ්පාදන ක්‍රියාවලියේ වෙනස්කම් නිසා ඇති වීමට පුළුවන. උදාහරණයක් ලෙස නිෂ්පාදන ක්‍රියාවලියේ දී පිෂ්ටය ජෙලටිනීකරණය (Gelatinization) වන අතර එම නිසා ඒවා ශරීරයට පහසුවෙන් උරා ගත හැකි තත්වයට පත්වේ. තව ද ඇතැම් ආහාර ද්‍රව්‍ය නිෂ්පාදන ක්‍රියාවලියේ දී ආහාරයේ තන්තු කොටස් පෙරී ඉවත් වීම නිසා ඒවා පහසුවෙන් ශරීරයට උරාගත හැකි වේ.

එම නිසා ආහාර විවිධාංගීකරණය කිරීමේ දී සෑම විට ම ආහාරයේ පෝෂණ ගුණය රැකෙන පරිදි එය කිරීම වැදගත් වේ.

### ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී ආහාරයේ පෝෂණ ගුණ ඉවත් විය හැකි අවස්ථා

| ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ අංග | හානි විය හැකි පෝෂක කොටස් | |
|---|---|---|
| ආහාර කුඩා කැබලිවලට කැපීම | ආහාර කුඩාවට කැපීමේ දී නිකුත්වන දියර සමග විටමින, ප්‍රතිඔක්සිකාරක ද්‍රව්‍ය ඉවත් විය හැකි ය. |  |
| ආහාර අධික උෂ්ණත්වයට භාජනය වීම | විටමින හා ප්‍රතිඔක්සිකාරක ද්‍රව්‍ය විනාශ විය හැකි ය. සමහර පෝෂක කොටස්වලින් වෙනත් ද්‍රව්‍ය සෑදීම. උදාහරණ :- අධික උෂ්ණත්වය යටතේ සීනි කැරමලීකරණය වීම (Caramelization) |  |
| ආහාර පල්ප කර පෙරීම | ආහාරයේ තන්තුමය කොටස් මෙන් ම විටමින් ද විනාශ විය හැක. |  |

● පාරිභෝගික ආකර්ෂණය ඇතිවන පරිදි ආහාර සකස් කිරීම
ආහාර විවිධාංගීකරණයේ දී පාරිභෝගික ආකර්ෂණය ඇති කරන සාධක කිහිපයකි.

### උත්තේජනය (Stimulation)

ආහාරයක් දුටු පමණින් එය ආහාරයට ගැනීමට පෙළඹවීම උත්තේජනය යි. ආහාර විවිධාංගීකරණය කළ විට පාරිභෝගිකයා ආකර්ෂණය වන පරිදි එය පිළිගැන්වීම මෙමගින් අදහස් කෙරේ.



බිම්මල්, ගෝවා සහ සලාද කොළවලින් නිර්මාණය කරන ලද ආහාරයක්

### වර්ණය (Colour)

ආහාරයක වර්ණය යනු පරිභෝගිකයාගේ ඇසට හසුවන පළමුවන සාධකය යි. වර්ණය ආහාරයකට උචිත අයුරින් තිබීමෙන් පාරිභෝගිකයා ආහාර අනුභව කිරීමට පෙලඹවීමක් ඇති කරයි. පාරිභෝගිකයා විසින් ආහාර අනුභව නොකර ම ප්‍රතික්ෂේප කිරීමට අප්‍රසන්න වර්ණය හේතුවක් විය හැකි යි. එම නිසා ආහාරයේ වර්ණය පිළිබඳ සැලකිලිමත් වීම ඉතා වැදගත් වේ.

විවිධ ආහාර සඳහා ඒවාට ම ආවේණික වූ වර්ණයන් ඇත. ආහාරවල පවතින ස්වාභාවික වර්ණ ලබා දෙන වර්ණක ඇතුළු රසායනික ද්‍රව්‍ය මගින් ශරීරයට විවිධ ප්‍රයෝජන ලැබේ.

පහත රූප සටහනේ දක්වා ඇත්තේ ආහාරවල බහුල ව දක්නට ලැබෙන ස්වාභාවික වර්ණ සහ ඒවායේ ප්‍රයෝජන කිහිපයකි.

**රතු**
- රුධිර පීඩනය අඩු කිරීම
- සම්බන්ධක පටක ශක්තිමත් කිරීම
- පිළිකා වැළඳීමේ අවදානම අඩු කිරීම
- රුධිරගත කොලෙස්ටරෝල් මට්ටම පාලනය කිරීම
- ශරීරයට හානි කර අංශු (Free radicals) විනාශ කිරීම

**තැඹිලි**
- කොලෙස්ටරෝල් මට්ටම සහ රුධිර පීඩනය අඩු කිරීම
- සම්බන්ධක පටක නිර්මාණය වීම දියුණු කිරීම
- පිළිකා වැළඳීමේ අවදානම අඩු කිරීම
- රුධිරගත කොලෙස්ටරෝල් මට්ටම පාලනය කිරීම
- ශරීරයට අහිතකර අංශු (Free radicals) සමග සටන් කිරීම
- හානියට පත් වූ වර්ණ දේහ අලුත්වැඩියා කිරීම

**දම් /නිල්**
- ආහාර ජීරණය පහසු කිරීම
- ආසාදන වැළැක්වීම
- පිළිකා පාලනය කිරීම
- හෘද රෝග ආදිය පාලනය කිරීම
- මතක ශක්තිය වර්ධනය කිරීම
- වයස්ගත වීමේ වේගය අඩු කිරීම



**කහ**
- පෙනීම වැඩි දියුණු කිරීම
- හෘද රෝග වැළැක්වීම
- ශරීරයට අනතුරුදායක අංශු විනාශ කිරීම
- වයස් ගත වීම පාලනය කිරීම

**සුදු**
- ක්ෂුද්‍ර ජීවීන් විනාශ කිරීම
- පිළිකා සෛල විනාශ කිරීම
- ප්‍රතිශක්තිකරණය පවත්වා ගැනීම
- හෝමෝන මට්ටම තුලන කිරීම

**කොළ**
- පිළිකා වැලදීමේ අවදනම අඩු කිරීම
- ප්‍රතිශක්තිකරණ ක්‍රියාවලිය ශක්තිමත් කිරීම
- නිරෝගී දේහ ක්‍රියාවලි පවත්වා ගැනීම

ආහාර වර්ණ චක්‍රය (Food colour wheel)

## රසය (Taste)

ආහාරයකට රස වර්ග පහෙන් එකක් හෝ කිහිපයක් පැවතිය හැකි ය. පැණි රස (Sweet), තිත්ත රස (Bitter), ඇඹුල් රස (Sour) සහ ලුණු රස (Salt) දිවෙහි සංවේදී වන ස්ථාන පහත රූප සටහනෙහි දක්වා ඇත. මීට අමතරව උමාමි රස (Savoury) දිවෙහි ඕනෑ ම ස්ථානයකට සංවේදනය විය හැකි ය.




දිවෙහි විවිධ රස සඳහා රසාංකුර පිහිටා ඇති ආකාරය

රසින් වැඩි දේ ආහාරයට ගැනිමට කවුරුත් කැමති වේ. ඒ නිසා නව ආහාර සකසන විට එහි රසය පිළිබඳ සැලකිලිමත් විය යුතු ය. පාරිභෝගිකයාට වෙනස් රසයකින් යුක්තව නව ආහාර නිෂ්පාදන ලබා දිය හැකි නම් එම ආහාරය කෙරෙහි ආකර්ෂණය වැඩි කර ගත හැකි ය. උදාහරණ ලෙස වෙළෙඳපොළෙහි දක්නට ලැබෙන විවිධ රසයෙන් යුත් අයිස් ක්‍රීම් හඳුන්වා දිය හැකි ය. චොක්ලට්, වැනිලා, ස්ට්‍රෝබෙරි, අඹ වැනි විවිධාකාර රස වලින් යුක්ත අයිස් ක්‍රීම් වෙළෙඳපොළේ පවතින අතර පුද්ගලයාට තමාගේ රුචිකත්වය අනුව ප්‍රියතාව මත ඒවා මිල දී ගත හැකි ය.

### වයනය (Texture)

ආහාරයේ වයනය යනු යම් ආහාරයක් අනුභව කිරීමේ දී මුඛයට දැනෙන ස්වභාවය යි. සමහර ආහාර සපන විට තද ගතියක් දැනෙන මුත් සමහර ආහාර මෘදුවට සැපේ. එමෙන් ම ද්‍රව, අර්ධ ඝන සහ ඝන වශයෙන් ආහාර වර්ග 3ක් පවති. මේවායේ වයනයන් එකිනෙකට වෙනස් වේ. උදාහරණයක් ලෙස බිස්කට්වල නියම වයනය ලෙස ගන්නේ නොමැලි පදම (Crispiness) ඇතිවිට යි.



මෘදු වයනයක් සහිත කේක්

**ක්‍රියාකාරකම් 2.4**



විවිධ ආහාරවල ඇති වයනයන් හඳුනා ගනිමින් පහත වගුව පුරවන්න.

| | ආහාර වර්ගය | වයනය |
|---|---|---|
| 1 | කේක් | මෘදු |
| 2 | බිස්කට් | |
| 3 | ජෙලි | |
| 4 | යෝගට් | |
| 5 | පලතුරු බීම | |
| 6 | ටොෆි | |

## හැඩය (Shape)

සකස් කරන ලද විවිධ ආහාර සඳහා නියමිත හැඩයක් පවතී. ආහාරයේ හැඩරුව, පාරිභෝගික ආකර්ෂණය දිනා ගැනීමට අත්‍යවශ්‍ය සාධකයක් වේ. කුඩා ළමුන් සඳහා ආහාර නිෂ්පාදනය කිරීමේ දී ආහාරයේ හැඩය පිළිබඳ ව විශේෂයෙන් සැලකිලිමත් වීමෙන් ඔවුන්ගේ ආකර්ෂණය දිනාගැනීමට හැකි වේ.



ළමුන් සඳහා විවිධ හැඩයට සකස් කළ විස්කෝතු වර්ග

## පෝෂක සංඝටක (Nutrients)

ආහාරයේ පෝෂක රැකෙන පරිදි විවිධ ආහාර නිෂ්පාදන ක්‍රියාවලි හඳුනා ගෙන ආහාර විවිධාංගීකරණය කිරීම ඉතා වැදගත් වේ.

උදාහරණ ලෙස ආහාරයක් කැබලි කර සේදීමේ දී මෙන් ම ආහාර අධික උෂ්ණත්වයක දීර්ඝ වේලාවක් රත් කිරීමේ දී ආහාරයේ පෝෂක සංඝටක විනාශ වීම සිදු වේ. එමෙන් ම ආහාරයක් පල්ප කර පෙරීමෙන් ආහාරයේ ඇති තන්තුමය කොටස් ඉවත්වී යයි. තන්තු යනු පෝෂ්‍ය පදාර්ථයක් නොවූවත් ශරීර සෞඛ්‍යයට ඉතා හිතකර දෙයක් බව ඔබ දන්නා කරුණකි. එම නිසා මෙවැනි දේ පිළිබඳ අවබෝධයකින් යුතුව නිෂ්පාදන ක්‍රියාවලිය සිදුකර අමුද්‍රව්‍යවල අඩංගු වී තිබෙන පෝෂ්‍ය පදාර්ථ රැකෙන පරිදි විවිධ ආහාර නිෂ්පාදනය කිරීම වැදගත් වේ.



## සෞඛ්‍යාරක්ෂිත බව (Safety)

ආහාරයක් රසයෙන්, ගුණයෙන් මෙන් ම අනෙකුත් සියලුම ගුණාංගවලින් පරිපූර්ණ වූවත් එහි සෞඛ්‍යාරක්ෂිත බව නොමැති නම් එම ආහාරයෙන් ප්‍රයෝජනයක් නැත. සෞඛ්‍යාරක්ෂිත බව යනුවෙන් අදහස් වන්නේ ආහාරය අනුභව කළ පසු පාරිභෝගිකයන්ගේ සෞඛ්‍ය තත්ත්වයට හානියක් නොවන පරිදි ආහාරය සකස් වී තිබීමයි. ආහාරයේ සෞඛ්‍යාරක්ෂිත බව නොමැති වන අවස්ථා කිහිපයකි.

1. ක්ෂුද්‍ර ජීවී ආසාදන නිසා ආහාරයේ ක්ෂුද්‍ර ජීවී ගහනය වැඩි වීම
2. ක්ෂුද්‍ර ජීවීන් මගින් නිපදවන අහිතකර විෂ ද්‍රව්‍ය ආහාරයේ අඩංගු වීම
   උදාහරණ :- ඇෆ්ලටොක්සීන්
3. මහා ජීවීන්ගේ කොටස් හෝ ඔවුන්ගේ පරිවෘත්තිය අපද්‍රව්‍ය සමග ආහාර මිශ්‍ර වීම
   උදාහරණ :- කැරපොත්තන්, මීයන් වැනි සතුන්ගේ මළ ද්‍රව්‍ය සමග ආහාර මිශ්‍ර වීම
4. කර්මාන්තශාලාවලින් පිට කරන දූෂක ද්‍රව්‍ය ආහාර සමග මිශ්‍ර වීම
   උදාහරණ :- ලෙඩ්, කැඩ්මියම් වැනි බැර ලෝහ වර්ග
5. විවිධ රසායන ද්‍රව්‍ය අවිධිමත් පරිදි (අධික මාත්‍රාවලින්) ආහාරවලට මිශ්‍ර වීම
   උදාහරණ :- පරිරක්ෂක ද්‍රව්‍ය, කෘත්‍රිම රසකාරක, වර්ණකාරක වැනි ද අධික මාත්‍රාවලින් එකතු වීම
6. ආහාරයට නුසුදුසු ද්‍රව්‍ය සමග ආහාර මිශ්‍ර වීම
   උදාහරණ :- සනීපාරක්ෂක ද්‍රව්‍ය, ලිහිසි තෙල්, ඉන්ධන




**පරිභෝජනයට නුසුදුසු ආහාර ද්‍රව්‍ය**

ඉහත සඳහන් කළ ක්‍රමවලින් ආහාරයේ සෞඛ්‍යාරක්ෂිත බවට හානි නොවන පරිදි ආහාර විවිධාංගීකරණය කිරීම ඉතා වැදගත් වේ.

## ආහාර ඇසුරුම්කරණය (Food Packaging)

ආහාරයක ඇසුරුම ආකර්ෂණීය වීම ආහාරයක් වෙත පාරිභෝගිකයන් ආකර්ෂණය කර ගැනීමට ඉවහල් වන ප්‍රධාන සාධකයකි. එමෙන් ම ආහාර ඇසුරුම ආහාරයේ ගුණාත්මක බව රඳා පවත්වා ගැනීමට ද ඉවහල් වේ. ආහාර ඇසුරුම්කරණය සඳහා විවිධ ද්‍රව්‍ය යොදා ගත හැකි ය.

උදාහරණ :- ප්‍රතිචක්‍රීකරණය කළ හැකි ප්ලාස්ටික්, කඩදාසි, ටින්, ස්වාභාවික අමුද්‍රව්‍ය



ප්ලාස්ටික් බඳුන්



ලෝහ බඳුන්



පත් වලින් නිර්මාණය කරන ලද ඇසුරුම්



කාඩ්බෝඩ් ඇසුරුම්

ආහාර ඇසුරුම් සඳහා අමුද්‍රව්‍ය තෝරා ගැනීමේ දී ඒවායේ පරිසර හිතකාමී බව පිළිබඳව දැඩිව අවධානය යොමු කිරීම වැදගත් වේ. ස්වාභාවික අමුද්‍රව්‍ය යොදා ගනිමින් ආහාර ඇසුරුම් සකස් කර ගත හැකි නම් එය ඉතා වැදගත් වේ.

මේ එක් එක් අමුද්‍රව්‍යවල ගුණාත්මකභාවය විවිධ වන අතර ඒවායෙන් ආහාරයට ලැබෙන ගුණාත්මකභාවය ද වෙනස් වේ. එමෙන් ම විවිධ ආහාර සඳහා සුදුසු වන ඇසුරුම තෝරා ගැනීමට ආහාර නිෂ්පාදකයා දැනුවත් විය යුතුය. එසේ තෝරා ගන්නා ඇසුරුමට පාරිභෝගිකයා ආකර්ෂණය විය යුතු අතර ම ඇසුරුම නිසා ආහාරයේ මිල අධික නොවිය යුතු ය. ඇසුරුමෙහි ආහාරයට අදාළ තොරතුරු ඇතුළත් කිරීමට ද හැකියාව පවතී. ආහාරය කල් ඉකුත් වන දිනය, නිෂ්පාදිත දිනය, මිල, අඩංගු ද්‍රව්‍ය, ගබඩා කළ යුතු අන්දම වැනි තොරතුරු ආහාර ඇසුරුමේ දැක්විය හැකි ය. කෘත්‍රිම රසකාරක, වර්ණක හෝ වෙනත් යෙදවුම් ආහාරයට එකතු කළ විට ඒවා ආහාර ඇසුරුමෙහි අනිවාර්යයෙන්ම දැක්විය යුතු ය.

ආහාර නිෂ්පාදනයේ දී යොදා ගන්නා සමහර කෘත්‍රිම රසායනික ද්‍රව්‍ය මිනිසාට විෂ වූ බොහෝ අවස්ථා ඇත. මෙම රසායන ද්‍රව්‍ය ඇතැම් ඒවා පිළිකා කාරක වේ. මෙහි දී හැකි පමණ කාබනික ආහාර නිෂ්පාදනය කෙරෙහි යොමු වීම ඉතා වැදගත් වේ.

ඇසුරුම ආහාරයේ සෞඛ්‍යාරක්ෂිත බව රදා පවත්වා ගැනීමට ද ඉවහල් වේ. හොඳ ඇසුරුමක් මඟින් ආහාරයේ ක්ෂුද්‍ර ජීවී ආසාදන, මහා ජීවී ක්‍රියාකාරකම්, හෝ වෙනත් දූෂක මගින් දූෂණය වීම වළක්වා ගත හැකි වේ. එම නිසා ආහාරයට සුදුසු පරිදි ඇසුරුමක් තෝරා ගැනීම ඉතා වැදගත් වේ.

ආහාර ඇසුරුම් දෙවර්ගයකි.

- පාරිභෝගික ඇසුරුම්

    මෙය පාරිභෝගිකයා අතට පත්වන ඇසුරුම වන අතර මෙහි අඩංගු ඒකක ගණන අඩු ය.



- තොග ඇසුරුම්

    මෙය නිෂ්පාදකයාගෙන් වෙළෙන්දා වෙත යැවෙන ඇසුරුම වන අතර මෙහි වැඩි ඒකක සංඛ්‍යාවක් අඩංගු වේ.



ආහාර සඳහා ප්‍රමිති (Food Quality Standards)

ශ්‍රී ලංකාවේ ආහාර සඳහා විවිධ ප්‍රමිතිකරණ තත්ත්ව දක්නට ලැබේ.

උදාහරණ :- SLS, ISO

මෙම ප්‍රමිති තත්ත්ව පිළිබඳ පාරිභෝගිකයා දැනුම්වත් නිසා ඔවුන් ආහාරය මිල දී ගැනීමට පෙර ආහාරයේ මෙවැනි ප්‍රමිති අඩංගු දැයි සැලකිලිමත් වේ. එම නිසා උසස් තත්ත්වයේ ආහාරයක් නිෂ්පාදනය කර ප්‍රමිති තත්ත්ව සහතික ලබා ගැනිම ඉතා වැදගත් වේ.

## පරිසර හිතකාමී නිෂ්පාදන ක්‍රියාවලි

පාරිභෝගික ආකර්ෂණය ඇති කරන ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී තවත් වැදගත් අංගයක් වන්නේ එම ක්‍රියාවලි පරිසර හිතකාමී වීම යි.
සෑම ආහාර නිෂ්පාදන ක්‍රියාවලියක් සඳහා ම යොදා ගන්නා අමුද්‍රව්‍ය සෞඛ්‍යයට හිතකර, රසායන ද්‍රව්‍යවලින් තොර ස්වාභාවික අමුද්‍රව්‍ය වීම ඉතා වැදගත් වේ. ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී එකතු වන අපද්‍රව්‍ය නිසි පරිදි කළමනාකරණය කර පරිසරයට හානියක් නොවන පරිදි බැහැර කිරීම වැදගත් වේ.

විශේෂයෙන් ම ආහාර නිෂ්පාදන ක්‍රියාවලියේ දී පොලිතීන් භාවිතය අවම කිරීම සහ ස්වාභාවික සහ ප්‍රතිචක්‍රීකරණය  කළ හැකි කඩදාසි ප්ලාස්ටික් හෝ පොලිතීන් භාවිතය වැදගත් වේ.

**ක්‍රියාකාරකම් 2.5**



**කඩදාසි පල්ප ආශ්‍රයෙන් ඇසුරුම් නිර්මාණය කරමු**

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-**

- විදුලි ඇඹරුම් යන්ත්‍රය (Blender) හෝ වංගෙඩිය හා මෝල්ගහ
- ජලය ලීටර 2 පමණ
- ඉවත දමන කඩදාසි
- හතරැස් රාමුවක්
- සිල්ක් රෙදි කැබැලි 2ක්

**ක්‍රමය :-**

- කඩදාසි සිහින්ව ඉරා ජලය සහිත බඳුනකට දමා පැය 12ක් පමණ (රැයක්) පෙඟෙන්නට තබන්න (1 රූපය).
- පෙඟුණු කඩදාසි හොඳින් අඹරන්න. නැතහොත් වංගෙඩිය හා මෝල්ගහ යොදාගෙන කොටා ගන්න (2 රූපය).
- එම කඩදාසි කැබලි ජලයේ දිය කරන්න.
- හතරැස් රාමුව පතුලට පිටතින් සිල්ක් රෙදි කැබැල්ල (ඕගන්ඩි රෙදි කැබැල්ලක්) සවි කර ගන්න.
- රාමුවේ ඇතුළතින් නැවතත් සිල්ක් රෙදි කැබැල්ලක් සවි කර දිය කර ගත් කඩදාසි සහිත වතුර මෙම රාමුව තුළට දමන්න (3 රූපය). නැතහොත් කඩදාසි ද්‍රාවණය සහිත බඳුන තුළ රාමුව ගිල්වා පිටතට ගන්න (4 රූපය).
- ජලය හොඳින් පෙරා ඉවත් වනතුරු තබන්න. තෙතමනය උරන රෙදි හෝ කඩදාසියක් ආධාරයෙන් තෙත මාත්තු කරන්න.
- ඇතුළතින් සවි කර ගත් සිල්ක් රෙදි කැබැල්ල ගලවා පල්ප තට්ටුව වියළා ගන්න (5 රූපය).


1


2


3


4


5

මෙලෙස සෑදෙන මෙම කඩදාසිය සුදු කර ගැනීමට ක්ලෝරීන් ද වර්ණ ගැන්වීම සඳහා අවශ්‍ය වර්ණක (ඩයි) ද යොදන්න.

සාදා ගත් කඩදාසි පල්පය විවිධ හැඩයේ ඇසුරුම් සෑදිය හැකි අච්චු තුළට දමා ඇසුරුම් නිර්මාණ කර ගැනීමට ඔබටත් හැකි දැයි බලන්න.

## ව්‍යාපෘතියක් ඇසුරෙන් ආහාර විවිධාංගීකරණය අධ්‍යයනය කරමු

යම් ආහාර ද්‍රව්‍යයක් භාවිත කර විවිධ ආහාර ද්‍රව්‍ය සෑදීමට ඇති හැකියාව පිළිබඳ සිතන්න. උදාහරණයක් ලෙස සහල් සලකමු. සහල්වලින් සිදු කළ හැකි විවිධ නිෂ්පාදන පහත සටහනේ දක්වා ඇත.




ආහාර නිෂ්පාදනයක් ආරම්භ කිරීමට ප්‍රථම එහි නිෂ්පාදන ක්‍රියාවලිය, එය නිෂ්පාදනය කිරීමට අවශ්‍ය මෙවලම් හා උපකරණ, නිෂ්පාදනය සඳහා ඇති ඉල්ලුම, නිෂ්පාදන පිරිවැය ආදි කරුණු සලකා බැලිය යුතු ය.

සහල්වලින් සහ කොස් ඇට යොදාගෙන කළ හැකි ආහාර විවිධාංගීකරණ ක්‍රියාවලියක් සඳහා උදාහරණ පහත රූප සටහනේ දක්වා ඇත.

ක්‍රියාකාරකම් 2.6



## කොස් ඇට පිටි සාදමු

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :**

කොස් ඇට
ජලය
ස්ටීමරය හෝ පීඩන උඳුන
පෙනේරය
ඇඹරුම් යන්ත්‍රය හෝ වංගෙඩිය සහ මෝල් ගස

**ක්‍රමය :**

- පොතු ඉවත් නොකළ කොස් ඇට ගෙන හුමාලයෙන් තම්බන්න. (විනාඩි 45)
- තම්බාගත් කොස් ඇටවල පොතු ඉවත් කර ගන්න.
- ඇඹරුම් යන්ත්‍රය හෝ වංගෙඩිය සහ මෝල් ගස භාවිතකර එම කොස් ඇට සිහින් වනතුරු කොටා පෙනේරයකින් හළා ගන්න.
- ලබා ගත් පිටි 105 $^{0}$C උඳුනක වියළා ගන්න.




තැම්බූ කොස්ඇට



කෙටීම



ඇඹරීම

මෙම කොස් ඇට පිටි භාවිත කර අග්ගලා, රොටි, පිට්ටු, කට්ලට් වැනි ආහාර සහල් පිටි හෝ තිරිඟු පිටි මිශ්‍ර කර සාද ගැනීමට පුළුවන.

ඉහත උදාහරණ ප්‍රයෝජනයට ගනිමින් ආහාර නිෂ්පාදන ක්‍රියාවලියක් පන්ති මට්ටමෙන් සංවිධානය කර ප්‍රදර්ශනාත්මකව ඉදිරිපත් කරන්න. (කෙටි ආහාර, අතුරුපස, කැඳ වර්ග හා සුප් වර්ග වැනි ආහාර නිෂ්පාදනයක්) මෙය පන්ති හෝ පාසල් මට්ටමෙන් තරගාවලියක් ලෙස ක්‍රියාත්මක කර පසු විපරම ලබා ගන්න.

මෙම ප්‍රදර්ශනය සැලසුම් කිරීමේ දී පහත දැක්වෙන කරුණු පිළිබඳව ගුරුතුමා සමග සාකච්ඡා කරන්න.

1. දේශීය ආහාරවල විශේෂ ගුණාංග සහ ඒවාට විවිධත්වය ලබා දීම
2. දේශීය ආහාර ගුණාත්මක ලෙස සැකසුම් කර නිර්මාණාත්මක ව ඉදිරිපත් කිරීම
3. ආහාරයේ පැහැය හා විවිධ හැඩයන් යොදා ගනිමින් ආකර්ෂණීය ලෙස ඉදිරිපත් කරන ලද ආහාර මගින් පාරිභෝගික තෘප්තිය ලබා ගැනීම
4. සෞඛ්‍යාරක්ෂිත ලෙස ආහාර සකස් කිරීම
5. පරිසර හිතකාමී ඇසුරුම්වල බහා ආහාර ඉදිරිපත් කිරීම

ක්‍රියාකාරකම් 2.7

## දිය බත්වල රස විඳිමු

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-**

පෙර දින රාත්‍රියේ පිසින ලද බත්
ජලය
ගාන ලද පොල් මිටක්
මැටි බඳුනක් සහ හැන්දක්
ලූනු, අමු මිරිස් සහ දෙහි

**ක්‍රමය :**

- පෙර දින රාත්‍රියේ පිසින ලද පරිභෝජනයෙන් පසු බඳුන තුළ ඉතිරි වූ බත් මැටි බඳුනට දමා, බත් වැසෙන පරිදි ජලය දමන්න. රාත්‍රියේ බත් පිසීම සඳහා මැටි බඳුනක් භාවිතා කළේ නම් එම බඳුනටම ජලය දැමිය හැකිය.
- පසු දින උදෑසන බඳුනේ ඇති ජලය පෙරන්න. එම පෙරා ගත් ජලයෙන් පොල් මිරිකා ලබා ගත් පොල් කිරි නැවත බතට මිශ්‍ර කරන්න. පොල් කිරි වෙනුවට ජලය පෙරා ඉවත් නොකර සෘජුව ම පොල් මිටක් පමණ එකතු කිරීම ද කළ හැකි ය.
- එයට රතු ලූණු, අමු මිරිස්, දෙහි අවශ්‍ය පමණට දමා ආහාරයට ගන්න

නිවසේ දී පහසුවෙන් දිය බත් සකස් කළ හැකිය. මෙමගින් ආහාර අපතේ යාම වළක්වා ගත හැකි වන අතර දිය බත් ශරීරයේ සෞඛ්‍යාරක්ෂිත බව රැක ගැනීමට උපකාරී වන බවට පිළිගැනීමක් ද පවතී.



දියබත්

තාක්ෂණික ක්ෂේත්‍රය

# 3 ආරම්භක තාක්ෂණවේදය

## 3.1 අවශ්‍යතා සපුරාලීමට තාක්ෂණික සේවා යොදා ගනිමු

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- පාසල් ප්‍රජාවට අදාළව තාක්ෂණික සේවා අවශ්‍යතා විමසා බැලීමටත්,
- අපේක්ෂිත නව්‍ය තාක්ෂණික ක්‍රමවේද භාවිතයෙන් සැලසුම් සකස් කිරීමටත්,
- තෝරා ගත් සේවා සැපයීමක් ආරම්භ කර සාර්ථකව පවත්වා ගෙන යාමටත්,

හැකියාව ලැබෙනු ඇත.



දෛනික ජීවිතයේ අවශ්‍යතා අසීමිත ය. එම අසීමිත අවශ්‍යතා සපුරා ගැනීමේ දී කාර්යක්ෂමව සේවා සපයා ගැනීමෙන් කාර්යයන් පහසු කර ගැනීමට මිනිසා හුරු වී සිටියි. එවන් පසුබිමක පාසල් පරිශ්‍රයේ, නිවසේ හෝ සමාජයේ පවතින සේවා ගැටලු හඳුනා ගනිමින් ඒවාට ගැළපෙන විසඳුම් ලබා දීමේ හැකියාව ඔබ සතු විය යුතු ය. එබැවින් කාලීන සමාජ අවශ්‍යතා හඳුනා ගනිමින්, ඒවා සපුරාලීමට හැකි, වඩාත් උචිත තිරසාර විසඳුම් එළිදැක්වීමට සමත් ගවේෂණාත්මක පුද්ගලයෙකු වීමට ඔබ යොමු කිරීම මෙම තාක්ෂණික ක්ෂේත්‍රයට අදාළ කෙටිකාලීන ව්‍යාපෘති කාර්යයන්හි මූලික අපේක්ෂාව වේ.



පහත දක්වා ඇත්තේ ගොවියෙකු විසින් සිය වගාවන් සඳහා ජලය ලබා ගැනීමට සකස් කරන ලද නිර්මාණ පිරිවිතර කිහිපයකි.

**වර්ෂාව නොමැති දිනවල දී වගා භූමියට ස්වයංක්‍රීයව ජලය සැපයීම සඳහා ක්‍රමවේදයක් යොද ගැනීම**

**පිරිවිතර**

- වගා භූමියට ජලය සැපයීමට භාවිත කරන ජල ටැංකියට ජලය පිරුණු විට ජල පොම්පය ස්වයංක්‍රීයව නතර විය යුතු ය.

- ජල ටැංකියේ ජල ප්‍රමාණය අපේක්ෂිත මට්ටමට වඩා අඩු වූ විට ජල පොම්පය ස්වයංක්‍රීයව ක්‍රියාත්මක විය යුතු ය.

- අදාළ භූමියේ පසෙහි තෙතමනය අඩු වූ විට පමණක් ටැංකියෙන් ජලය ගොවිබිම වෙත ස්වයංක්‍රීයව නිකුත් විය යුතු අතර පස අපේක්ෂිත මට්ටමට පස තෙත් වූ පසු ජලය සැපයීම ස්වයංක්‍රීයව නතර විය යුතු ය.

මෙම පිරිවිතර අධ්‍යයනය කොට මෙම තාක්ෂණික සේවාවේ නිර්මාණශීලි බව වටහා ගන්න. ඉදිරියේ දී ඔබටත් එවැනි තාක්ෂණික සේවාවක් සිදු කිරීමේ හැකියාව ලබා ගත හැකි වනුයේ ඔබේ ගවේෂණාත්මක චින්තනය අවදි කිරීමෙනි.

ඉහත සඳහන් කළ ආකාරයේ ව්‍යාපෘතියක් නිම කිරීමට සඳහා දිගු කාලයක් අවශ්‍ය වේ. ඒ බව මෙම විසඳුමට ඇතුළත් නිර්මාණ පිරිවිතර අධ්‍යයනයේ දී පැහැදිලි වේ. පාසලේ දී සීමිත කාලයක් තුළ මෙවන් ව්‍යාපෘතියක් කිරීම සඳහා ඔබ එය මනාව සැලසුම් කර, නිවැරදි තීරණ ගෙන ක්‍රියාත්මක විය යුතුය. එවැනි ව්‍යාපෘතියකින් ලබන අත්දැකීම් පසුකාලීන ව නිර්මාණාත්මකව යොද ගැනීමට ඔබට හැකි වනු ඇත.

**ක්‍රියාකාරකම් 3.1**



ගුරුතුමාගේ මග පෙන්වීම සහිතව ඔබගේ පාසලේ පැවතිය හැකි, සේවා අවශ්‍යතා මතුවන ගැටලුමය අවස්ථා පිළිබඳ යහළුවන් සමග ගවේෂණයක යෙදෙන්න.

ඔබ විසින් රැස් කර ගත් තොරතුරු සාකච්ඡා කරමින් එම ගැටලු විසඳීමට ඔබට ගත හැකි ක්‍රියාමාර්ග ඉදිරිපත් කරන්න.

දෛනික අවශ්‍යතා සඳහා ජලය සපයා ගැනීමේ ක්‍රමවේදය කාලය අනුව වෙනස් වී ඇති අයුරු නිරීක්ෂණය කරන්න.



ජල ප්‍රභවය වෙතට ගොස් ජලය රැගෙන ඒම



කරත්තයක සවි කළ ජල ටැංකියක් මගින් ජලය සැපයීම



ජල ප්‍රභවයේ සිට අවශ්‍ය ස්ථානයටම නළ මගින් ජලය සපයා ගැනීම

අතීතයේ දී ජල ප්‍රභවය වෙත ගොස් ජලය රැගෙන ආ මිනිසා අද වන විට ජල ප්‍රභවයේ සිට අවශ්‍ය ස්ථානය දක්වා ජලය සපයා ගැනීමට හැකි වන සේ සේවාවන් වර්ධනය කරගෙන ඇති ආකාරය ඉහත රූප පෙළ මගින් ඔබට දැකගත හැකි වේ. සේවා සංවර්ධනය කෙරෙහි තාක්ෂණය භාවිතයේ වැදගත්කම මෙයින් පැහැදිලි වේ.

මේ අයුරින් එදිනෙදා දක්නට ලැබෙන බොහෝ සේවා සලකා බැලීමේ දී කාලානුරූපීව ඒවායේ වර්ධනයක් සිදු වන බව දැකිය හැකි ය. එවැනි සේවා කිහිපයක් පහත රූප සටහන්වලින් දක්වෙයි.



ජල සැපයුම



විදුලි බල සැපයුම




බැංකු සේවා



ප්‍රවාහන සේවා



ඉන්ධන සැපයුම



කාර්මික සේවා



සන්නිවේදන සේවා

## ව්‍යාපෘතියක් ඇසුරෙන් සේවා අවශ්‍යතා විසඳමු

පාසලේ මෙන් ම බාහිර ප්‍රජාව අතර ද ක්‍රියාත්මක වන ඇතැම් සේවා පිළිබඳ විමසා බැලීමේ දී ඒවායේ වර්ධනයෙහි මන්දගාමී බවක් දැකගත හැකි වේ. එමෙන් ම ඇතැම් පාසල්වලට මෙන් ම ඇතැම් ප්‍රජාවන් වෙත ද මූලික සේවා නිසි ලෙස සැපයීමට නොහැකි වී ඇති අවස්ථා දක්නට ලැබේ. එවැනි සේවාවක දුබලතාවක් නිවැරදි කිරීමෙන් හෝ නව සේවාවක් ඇති කිරීමෙන් ප්‍රජා සංවර්ධනයට දායක වීමෙන් ඔබට ආත්මාභිමානයක් ඇති වේ.

පාසල කේන්ද්‍ර කර ගත් සේවා අවශ්‍යතා මතුවන ගැටලුමය තත්ත්ව සඳහා උදාහරණ කිහිපයක් පහත දක්වා ඇත.

- පාසල් පරිශ්‍රයේ අනතුරුදායක ස්ථාන පැවතීම
- පාසල් පරිශ්‍රයේ මග සලකුණු, නාම පුවරු හා වාහන නැවතුම් ස්ථාන විධිමත් නොවීම
- පාසලේ සන්නිවේදන පද්ධතියේ දුබලතා පැවතීම
- පාසලේ පානීය ජල නළ පද්ධතියේ දුර්වලතා පැවතීම
- පන්ති කාමරයේ පරිසර තත්ත්වය නුසුදුසු වීම
- පාසලේ සනීපාරක්ෂක පද්ධතිය නිසි පරිදි නොපැවතීම
- අපද්‍රව්‍ය බැහැර කරවීම සඳහා නිසි ක්‍රමවේදයක් නොමැති වීම

පහත රූප සටහන් මගින් දක්වෙන්නේ බොහෝ පාසල්වල දැකගත හැකි සේවා අවශ්‍යතා මතු වන ගැටලුමය තත්ත්ව කිහිපයකි



ජලය වැස්සීම නිසා පන්ති කාමරයේ බිත්ති අබලන් වූ අවස්ථාවක්



පාසලේ ජල නළ මාර්ගයේ කාන්දු වීම් පවතින අවස්ථාවක්



පාසලේ පවත්වාගෙන යනු ලබන බෝග වගාවට වෙනත් ස්ථානයක සිට ජලය රැගෙන ගොස් යොදන අවස්ථාවක්

පාසලේ හා පාසල් ප්‍රජාවගේ තෝරා ගත් පොදු අවශ්‍යතා, තාක්ෂණික ක්‍රමෝපාය උපයෝගී කර ගනිමින් ඉටු කරලීම තාක්ෂණික සේවා ලෙස හඳුන්වයි. ව්‍යාපෘතියක් ලෙස තාක්ෂණික සේවා සැපයීමට අපේක්ෂා කරන අවස්ථාවක දී එවැනි ගැටලු සහිත තත්ත්ව හඳුනා ගැනීම සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාදාමයක මූලික කාර්ය පහත දැක්වේ.

**ගැටලු හඳුනා ගැනීම සඳහා සලකා බැලිය යුතු කරුණු**

- තාක්ෂණික ශිල්ප ඥානය සහ කුසලතා පදනම් කර ගනිමින් පාසල් ප්‍රජාවට අදාළව සැපයිය හැකි තාක්ෂණික සේවා කවරේ ද?
- පාසලේ සංවර්ධනය කළ යුතු තාක්ෂණික සේවා කවරේ ද?
- පාසල් ප්‍රජාවට අදාළව දැනට විසඳුම් ලැබී නොමැති තාක්ෂණික සේවා ඉටු කිරීමට ගත යුතු පියවර මොනවා ද?
- අවශ්‍යතාව අනුව සැපයිය යුතු තාක්ෂණික සේවා ඉටු කිරීමට ගත යුතු පියවර කුමක් ද?
- නව්‍ය තාක්ෂණික සේවා භාවිතයේ ප්‍රයෝජන මොනවා ද?
- පවතින තාක්ෂණික සේවාවල නව්‍යකරණයට ලක්විය යුතු අංග කවරේ ද?

පාසලේ දී ඔබට ලැබී ඇති කාල සීමාව ඇතුළත, ව්‍යාපෘතියක් දියත් කිරීම සඳහා පෙර සූදානමක් අවශ්‍ය වේ. ඒ පිළිබඳ මූලික කරුණු ව්‍යාපෘති හැඳින්වීම යටතේ ඔබ හදාරා ඇත. එහි ලබා දී ඇති උපදෙස් අනුගමනය කිරීමෙන් ව්‍යාපෘති සාර්ථක කර ගැනීමට හැකි වනු ඇත. මෙම ක්‍රියාවලියේ දී ඔබ අනුගමනය කරන ලද සියලු ම ක්‍රියාකාරකම් ස්වනිර්මාණ සංග්‍රහයේ ඇතුළත් කිරීම අත්‍යවශ්‍ය වේ. එමෙන් ම ව්‍යාපෘතියට අදාළ දෛනික තොරතුරු රැස් කර වාර්තා තබා ගැනීම සඳහා ක්ෂේත්‍ර පොතක් භාවිත කළ යුතු අතර එය සතියකට වරක් ගුරුතුමාගේ මග පෙන්වීම ලබා ගැනීම සඳහා ඉදිරිපත් කළ යුතු වේ.

මෙම කෙටිකාලීන ව්‍යාපෘතිය සාර්ථකව සම්පූර්ණ කර ගැනීම පිණිස අනුගමනය කළ යුතු පියවර කෙරෙහි මෙතැන් සිට අවධානය යොමු කරමු.

- **ගැටලුව මතු කර ගැනීම**

පාසලක හෝ පාසල් ප්‍රජාවට අවශ්‍ය සේවාවල පැවතිය යුතු තත්ත්ව හා පවතින තත්ත්ව අතර හිදැස ගැටලුවක් ලෙස හඳුනා ගත හැකි ය. සපුරා ගැනීමට අපොහොසත් වූ පාසල් ප්‍රජා සේවා අවශ්‍යතා පිළිබඳ ගුරුතුමාගේ මඟ පෙන්වීම යටතේ ස්වඅධ්‍යයනයෙන් හා ගවේෂණවල යෙදෙමින් එවැනි අවශ්‍යතා ඉටු කර ගැනීමට අපොහොසත් වීමට බලපා ඇති හේතු විමසා බැලිය යුතු ය.

තෝරා ගත් ගැටලු අතරින් කාලය සහ ආශ්‍රිත සම්පත් සීමා තුළ, ඉංජිනේරුමය තාක්ෂණික ක්ෂේත්‍රවලට අයත් තාක්ෂණික සේවා සඳහා විසඳුම් ලබා දීමේ හැකියාව ඇති, එකිනෙකට වෙනස් වූ ගැටලු තෝරා ගැනීමට ගුරුතුමා හෝ ගුරුතුමිය ඔබට සහාය වනු ඇත.

- **ව්‍යාපෘතිය සැලසුම් කිරීම**

ව්‍යාපෘතිය සැලසුම් කිරීමේ දී අවධානය යොමු කළ යුතු කරුණු රාශියකි. පළමුව පාසලේ හෝ ප්‍රජාවේ අවශ්‍යතා විමසා බැලිය යුතු ය. එමගින් ඔබගේ ව්‍යාපෘතියෙන් සේවා සැපයෙන කණ්ඩායම තෝරා ගැනීමට හා අදාළ සේවාලාභීන් සංඛ්‍යාව මත සැපයිය හැකි සේවා ධාරිතාව නිර්ණය කිරීමට හැකියාව ලැබෙනු ඇත. ව්‍යාපෘතියට අදළ තාක්ෂණික සේවා සඳහා වූ සැලසුම් හා පියවර තීරණය කිරීම සඳහා ද එය වැදගත් වේ. මෙහි දී ගැටලුව විසඳීම පිණිස ලබා දෙන තාක්ෂණික විසඳුම් සරල විය යුතු ය. එමෙන් ම ඒවා පහසුවෙන් ක්‍රියාත්මක කළ හැකි විය යුතු ය. ඒ සඳහා නව්‍ය තාක්ෂණික ක්‍රමෝපාය අන්තර්ගත කිරීමට ඔබට හැකියාව පවතී.

ඔබගේ ව්‍යාපෘතිය සඳහා අදළ සම්පත් පහසුවෙන් ලබා ගත හැකි ක්‍රම පිළිබඳ සොයා බැලීම ද ගුරුතුමා හෝ ගුරුතුමියගේ මඟ පෙන්වීම යටතේ අදාළ ක්‍රියාවලි සඳහා සම්පත් පුද්ගලයන් හඳුනා ගැනීම හා ඔවුන්ගේ සහාය ලබා ගැනීම ද කළ යුතු ය.

ව්‍යාපෘතියේ අවශ්‍යතාව අනුව සේවාව සඳහා භෞතික හා භෞතික නොවන ගුණාංග (පිරිවිතර) තීරණය කරන්න. මෙහි දී ද්‍රව්‍ය, ආවුද හා උපකරණ, ඇටවුම්, ක්‍රියාවලි හා ශිල්ප ක්‍රම ආදිය සඳහා පිරිවිතර තෝරා ගැනීමට කටයුතු කළ යුතු ය.

ව්‍යාපෘතිය සිදු කරගෙන යාමේ දී පරිසර සංරක්ෂණ ක්‍රමවේද භාවිත කිරීමටත්, අවම බල ශක්ති භාවිතයට ප්‍රමුඛත්වය දීමටත්, තාක්ෂණික සේවාවලට අදාළ ආරක්ෂක පිළිවෙත් අනුගමනය කිරීමටත්, සම්පත් ඵලදායීව භාවිත කිරීමටත් හැකි සෑම අවස්ථාවකදී ම පියවර ගත යුතු ය.

ව්‍යාපෘතියෙන් ඉටු කෙරෙන තාක්ෂණික සේවාවල ගුණාත්මකභාවය සහ ව්‍යාපෘතිය සඳහා අවශ්‍ය සම්පත් අතර තුලනයක් පැවතිය යුතු ය. මේ සඳහා නියාමනය හා ඇගයීම අඛණ්ඩව සිදු කිරීම වැදගත් වේ.

**ක්‍රියාකාරී සැලැස්ම**

ක්‍රියාකාරී සැලැස්ම ලෙස හඳුන්වනු ලබන්නේ අදාළ ව්‍යාපෘතිය ආරම්භයේ සිට අවසානය දක්වා පියවර ඇතුළත් කාල රාමුවකි. එම කාල රාමුව තුළ පහත සඳහන් පියවර ඇතුළත් විය යුතු ය.

| | කාර්යය | කාල රාමුව | | | | | | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සතිය (1) | | | | | | | සතිය (2) | | | | | | | සතිය (3) | | | | | | |
| | | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 | 1 | 2 | 3 | 4 | 5 | 6 | 7 |
| 1 | පාසල් ප්‍රජා අවශ්‍යතා අතරින් ගැටලු සහිත අවස්ථා හඳුනා ගැනීම | ■ | ■ | | | | | | | | | | | | | | | | | | | |
| | තෝරාගත් ගැටලු විශ්ලේෂණය කිරීම | | | ■ | ■ | ■ | ■ | | | | | | | | | | | | | | | |
| 2 | උචිත විසඳුම් තීරණය කිරීම | | | | | | | | | | | | | | | | | | | | | |
| 3 | අවශ්‍ය ද්‍රව්‍ය හඳුනා ගැනීම හා ඒවා සපයා ගැනීම | | | | | | | | | | | | | | | | | | | | | |
| .... | ................................................. | | | | | ■ | ■ | ■ | ■ | ■ | | | | | | | | | | | | |
| .... | ................................................. | | | | | | | | | | | | | | | | | | | | | |
| .... | ................................................. | | | | | | | | | | | | | | | | | | | | | |
| .... | යොදා ගන්නා තාක්ෂණික ශිල්ප ක්‍රමයේ යෝග්‍යතාව තහවුරු කිරීම | | | | | | | ■ | ■ | ■ | ■ | | | | | | | | | | | |
| .... | ව්‍යාපෘතිය නිම කිරීම | | | | | | | | | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | ■ | | | |
| .... | ස්ව නිර්මාණ සංග්‍රහය ඉදිරිපත් කිරීම | | | | | | | | | | | | | | | | | | ■ | ■ | ■ | ■ |

### ● තීරණ ගැනීම

ව්‍යාපෘතියේ දී සිදුකළ යුතු වැදගත් කාර්යයක් වනුයේ තීරණ ගැනීම යි. එහි දී ඔබ නිවැරදි තීරණයකට එළඹීම මගින් ව්‍යාපෘතිය සාර්ථකව නිම කළ හැකි වේ. විසඳුම තීරණය කිරීම සඳහා, විකල්ප විසඳුම් ඇගැයීම සිදු කළ යුතු ය. ඒ සඳහා ආධාර වන නිර්ණායක කිහිපයක් පහත දැක්වේ.

- ප්‍රමිති හා පිරිවිතරවලට ගැළපීම
- භාවිත වන තාක්ෂණික ශිල්ප ක්‍රම, ආවුද හා උපකරණ හැසිරවීමට හැකියාව පැවතීම
- පහසුවෙන් සපයා ගත හැකි හා සපයා ගත යුතු ද්‍රව්‍ය සපයා ගැනීම
- අදාළ ද්‍රව්‍ය හා උපකරණ හෝ අනුයෝගී උපකරණ තෝරා ගැනීම
- සරල හා ප්‍රයෝජනවත් කාර්යයක් වීම හා එමගින් ඉගෙනුම් අවස්ථා සම්පාදනය වී තිබීම
- සපයාගත හැකි මූල්‍ය හා මූල්‍ය නොවන සම්පත් මගින් ක්‍රියාත්මක කළ හැකි වීම
- පාසලේ පවතින ගැටලු අතරින් එකක් හෝ කිහිපයක් සඳහා විසඳුම් ලබා දිය හැකි වීම
- ව්‍යාපෘතිය සඳහා අවශ්‍ය වන කාලය තීරණය කිරීම
- කාර්යය පහසුවෙන් ක්‍රියාත්මක කර නිම කළ හැකි වීම
- තාක්ෂණික හා නඩත්තු සේවා ඉල්ලුම සැපයීම සඳහා අවශ්‍ය ධාරිතාව පැවතීම

ඉහත දක්වා ඇති සියලු නිර්ණායක ඔබගේ ව්‍යාපෘතිය සඳහා අදාළ නොවුණ ද අවශ්‍යතා මත සුදුසු නිර්ණායක තෝරා ගත යුතු ය.

- **ක්‍රියාත්මක කිරීම**

අදාළ ව්‍යාපෘති කාර්යය සාර්ථක කර ගැනීම සඳහා සැලසුම් කරන ලද පියවර අනුගමනය කිරීම අත්‍යවශ්‍ය වේ. එහි දී ක්‍රියාකාරී සැලසුමේ පියවර පෙළ ගැස්සීම අනුව හා කාල රාමුව අනුව ක්‍රියාත්මක විය යුතු ය.

ගැටලුවට අදාළ ගවේෂණයෙන් හඳුනා ගත් තොරතුරු සහ පිරිවිතර සොයා බලා අනතුරුව ක්‍රියාවට නැංවිය හැකි උචිත ම විසඳුම තෝරා ගැනීමට කටයුතු කරන්න. අවශ්‍යතාව අනුව සැලසුම් චිත්‍ර හා ආකෘති ගොඩ නැගීම සිදු කරන්න. එය සෑම අවස්ථාවකදීම අනිවාර්ය නොවේ. ව්‍යාපෘතිය සඳහා යොදා ගන්නා තාක්ෂණික ශිල්ප ක්‍රමවලට අදළ ක්‍රියාවලිය සටහන් කර ගන්න. ඒ සඳහා අවශ්‍ය ආවුද හා උපකරණ ලැයිස්තුවක් ද සකස් කර ඒවා සපයා ගැනීමට කටයුතු කරන්න. මෙහි දී ද්‍රව්‍ය ප්‍රමාණ අවශ්‍යතාව තක්සේරු කර ඇස්තමේන්තුවක් සකස් කළ යුතු ය. හඳුනාගත් සම්පත් දායකයින් ගේ සහාය ලබා ගැනීම ද කණ්ඩායමේ එක් එක් සාමාජිකයාගේ කාර්යයභාරය බෙදා ගැනීම ද මගින් කාර්යය පහසු කරවයි.

ඔබගේ ව්‍යාපෘති කාලය තුළ දී භාවිත වන තාක්ෂණික ශිල්ප ක්‍රමවල යෝග්‍යතාව තහවුරු කිරීම සඳහා නියාමන අධ්‍යයනයක් ගුරුතුමා හෝ ගුරුතුමියගේ සහයෙන් සිදු කළ හැකි නම් වඩාත් යෝග්‍ය වේ.

ව්‍යාපෘතිය නිම කිරීමෙන් අනතුරුව පහත කරුණු පිළිබඳ ව පසු විපරම සිදු කරන්න.

- තාක්ෂණික සේවාවෙහි ක්‍රියානුරූපී බව පිළිබඳ පන්තිය දැනුවත් කිරීම
- තාක්ෂණික සේවාවේ සහ එහි සාර්ථකත්වය පිළිබඳ ස්වයං ඇගැයීමක නිරත වීම
- අන්‍ය කණ්ඩායම්වල ප්‍රතිපෝෂණ අදහස් ඇතුළත් කිරීම

## 3.2 අර්ථවත් නිමැවුම් කරමු

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- ප්‍රායෝගිකව තැනිය හැකි, අවශ්‍යතාවට ගැළපෙන නිර්මාණ සංකල්ප තෝරා ගැනීමටත්,
- නිර්මාණයට අදාළව වෙළෙඳපොළ විභව්‍යතාව හා ඉල්ලුම විමසා බැලීමටත්,
- සැලසුමට අනුව නිර්මාණ සංකල්පය නිෂ්පාදිත යථාර්ථයක් බවට පත් කිරීමටත්,
- නිර්මාණ පිළිබඳ තොරතුරු සන්නිවේදනය සඳහා සුදුසු මෘදුකාංග භාවිත කිරීමටත්,



හැකියාව ලැබෙනු ඇත.

වර්තමාන සමාජයේ සපුරා ගැනීමට නොහැකි වූ අවශ්‍යතා විශාල ප්‍රමාණයක් පවතී. එම විවිධ අවශ්‍යතා අතරින් පහසුවෙන් හා කෙටි කාලීන ව්‍යාපෘති කාර්යයක් මගින් සපුරා ගැනීමට හැකි අවශ්‍යතා වෙන්කර හඳුනා ගැනීම අත්‍යවශ්‍ය වේ. එවැනි අවශ්‍යතා සපුරා ගැනීම සඳහා විසඳුම් ක්‍රියාත්මක කිරීමට ප්‍රථම, මෙතෙක් ඒ සඳහා පැවති බාධා හඳුනා ගැනීම ඔබ ඉදිරියේ පවත්නා අභියෝගයකි. එම අභියෝග ජය ගනිමින්, තෝරාගත් අවශ්‍යතා සපුරාලීමට නිර්මාණ සිදු කිරීමේ දී ඔබගේ නිර්මාණ තුළ පැවතිය යුතු ගුණාංග කිහිපයක් පහත විස්තර කර ඇත.

- **කාර්ය පහසු කිරීම**

වර්තමාන සමාජය කාර්ය බහුල වූ පුද්ගලයන්ගෙන් සමන්විත ය. එමෙන් ම එය හුදකලා වූ පුද්ගලයින් බෙහෙවින් වෙසෙන සමාජයක් බව අතීත සමාජය හා සසඳන කළ පෙනී යයි. මේ නිසා බොහෝ කාර්යයන් පුද්ගලයාට තනිව කර ගැනීමට සිදු වී තිබේ. මෙවන් පසුබිමක අඩු ශ්‍රමයක් යොදවමින් වැඩි කාර්ය ප්‍රමාණයක් කර ගැනීමේ හැකියාව සහිත පහසුවෙන් කාර්ය කරගැනීමට හැකි නිර්මාණ කෙරෙහි යොමු වීමට සිදු වේ.

උදහරණයක් ලෙස මහල් ගොඩනැගිලි ඉදි කිරීම සලකා බලමු. එවැනි ගොඩනැගිල්ලක ඉහළ මහල්වලට ද්‍රව්‍ය හා භාණ්ඩ ගෙන යාම මිනිස් ශ්‍රමය යොදවමින් සිදු කළහොත් පුද්ගලයන් සමූහයක් ඒ සඳහා යොදා ගැනීමට සිදුවන අතර, එය බෙහෙවින් වෙහෙසකර කාර්යයක් වෙයි. මේ සඳහා කාර්ය පහසු කරවන විකල්ප ක්‍රමයක් ලෙස මිනිසා විසින් දොඹකරය නිර්මාණය කරන ලදි.



මිනිසෙකු විසින් බර ඔසවාගෙන යාම



දොඹකරයක් මගින් බර එසවීම

දොඹකරය කප්පි පද්ධතියකින් සමන්විත ය. අඩු බලයකින් (ආයාසය) විශාල බරක් (භාරය) එසවීම සඳහා කප්පි පද්ධතියක් යොදා ගත හැකි බව දොඹකරයක ක්‍රියාකාරීත්වය අධ්‍යයනය කරන විට හඳුනාගත හැකි වේ.




දොඹකරයක කප්පි භාවිත කර ඇති ආකාරය

කඳු නැගීම සඳහා සාමාන්‍ය පාපැදියක් යොදා ගැනීමේ දී පාපැදිකරු විසින් පාදිකය මතට විශාල බලයක් යෙදිය යුතු වුව ද, දැති රෝද කට්ටල යෙදූ නූතන පාපැදියක් භාවිතයේ දී පාපැදිකරු විසින් යෙදිය යුතු බලය බෙහෙවින් අඩු ය. එවැනි පා පැදියක පසුපස රෝද කට්ටලයේ තිබෙන විශාල දැති රෝදයකට දම්වැල සම්බන්ධ කර ඇත.




පසුපස තනි දැති රෝදයක් යෙදූ පාපැදිය




පසුපස දැති රෝද කට්ටලයක් යෙදූ පාපැදිය

- **කාර්යය ඉක්මණින් කරගත හැකි වීම**

එක ම කාර්යයක් ඉටු කර ගැනීම සඳහා විවිධ අයුරින් නිර්මාණය කර ඇති යන්ත්‍ර, උපකරණ හා මෙවලම් භාවිතයේ පවතී. ඇතැම් යන්ත්‍ර හෝ මෙවලම් අදාළ අවශ්‍යතාව ඉටුකර දීමට දිගු කාලයක් ගනු ලබයි. කෙටි කාලයක් තුළ දී කාර්යය නිම කරනු ලබන නිර්මාණ ද දැකිය හැකි ය. උදාහරණ ලෙස නිවෙස්වල භාවිත වන හිරමණ වර්ග කිහිපයක් පිළිබඳව සලකා බලමු. අතින් ක්‍රියාකරවන මේස හිරමණය මගින් සම්ප්‍රදායික බංකු හිරමණයට වඩා ඉක්මණින් පොල් ගෑමට හැකි ය. මේස හිරමණයේ වැඩි තල සංඛ්‍යාවක් සහිත වීම නිසා එයින් අඩු කාලයක දී කාර්යය කර ගැනීමට හැකි වෙයි. වර්තමාන වෙළෙඳපොළේ විදුලි බලයෙන් ක්‍රියාත්මක කරවිය හැකි නිර්මාණ ද දක්නට ඇත.



බංකු හිරමණය



මේස හිරමණය



විද්‍යුත් හිරමණයක්

- **කාර්යක්ෂම වීම**

උපකරණයක් ක්‍රියා කිරීම සඳහා ශක්තිය අවශ්‍ය වේ. ඇතැම් නිර්මාණවල ක්‍රියාකාරීව චලනය වන කොටස් අතර පවතින සර්ෂණය වැනි හේතු නිසා ශක්තිය අපතේ යයි. ඒ අනුව යොදනු ලබන මුළු ශක්තියෙන් ඵලදායිව යොදවනු ලබන්නේ කොටසක් පමණි. යොදන මුළු ශක්තිය ම උපකරණයේ ක්‍රියාකාරිත්වයට යෙදේ නම් එහි කාර්යක්ෂමතාව 100%ක් ලෙස සැලකේ. ශක්තිය අපතේ යන විට කාර්යක්ෂමතාව අඩු වෙයි. අපතේ යන ශක්තිය අවම කිරීමෙන් කාර්යක්ෂමතාව ඉහළ නැංවිය හැකි වේ.

මේ නිසා එවැනි ස්ථානවලට ස්නේහක යෙදීමෙන් සර්ෂණය මැඩ පැවැත්විය හැකි වේ. එ මගින් නිර්මාණයේ කාර්යක්ෂමතාව ඉහළ යයි.





සර්ෂණය අවම කිරීම සඳහා ද්‍රව්‍ය
ස්නේහක යෙදීම

ඇතැම් නිර්මාණවල චලනය වන කොටස් අතර සර්ෂණය පැවතීම එහි ක්‍රියාකාරීත්වයට අත්‍යවශ්‍ය සාධකයක් වේ. සර්ෂණය පැවතිය යුතු ස්ථානවල ඇති වන ලිස්සා යාම නිර්මාණයේ කාර්යක්ෂමතාව අඩු වීමට හේතු වේ.

මෝටර් රථවල එන්ජිම හා ගියර පෙට්ටිය අතර පිහිටා ඇති ඒකකය ක්ලචය (Clutch) නම් වේ. වාහනය ධාවනයේ දී ගියර  පෙට්ටිය හා එන්ජිමේ භ්‍රමණ සම්බන්ධතාව පවත්වා ගැනීම ක්ලචය තුළ දී ඝර්ෂණය මගින් සිදු වේ. ක්ලච් තැටිය එහි ඝර්ෂණය අඩුවීම නිසා එය සිර වී ඇති පීඩන තැටිය හා ජව රෝදය මත ලිස්සා යාම සිදු වීමෙන් වාහනය නිසි ලෙස ධාවනය කළ නොහැකි වෙයි. එනම් යෙදූ ශක්තිය අපේක්ෂිත කාර්යය ඉටු නොකර අපතේ යයි. එවැනි අවස්ථාවල කාර්යක්ෂමතාව අඩු වේ.




එන්ජිම හා ගියර පෙට්ටිය අතර සම්බන්ධතාව සඳහා ක්ලචයේ  පිහිටුම

විදුලි ඉස්තිරික්කයෙන් රෙදි මැදීමේ දී විශාල තාප ප්‍රමාණයක් පරිසරයට ගලා යමින් හානි වේ. ඒ නිසා රෙදි මැදීමට උපයෝගී වන්නේ ඉස්තිරික්කයට සපයන විදුලි ශක්තියෙන් කොටසක් පමණි. අපතේ යන ශක්තිය අවම කර විදුලි ඉස්තිරික්කය භාවිතයේ දී කාර්යක්ෂමතාව වැඩිකර ගැනීම සඳහා තාක්ෂණික විසඳුමක් අවශ්‍ය වේ.

වර්තමානයේ දී වෙළෙඳ පොළේ පවතින විවිධ විදුලි පහන් වර්ග අතරින් සූත්‍රිකා යෙදූ විදුලි පහන්, සංගෘහිත ප්‍රතිදීප්ත පහන් (CFL) හා ආලෝක විමෝචක ඩයෝඩ (LED) පහන් බහුලව භාවිත වේ. සූත්‍රිකා පහන්වලින් උපදවන ආලෝකයට වඩා  එයින්  උපදින තාපය ඉහළ අගයක් ගනී. නමුත් LED පහන්වලින් උපදවන ආලෝකයට වඩා  එයින් උපදින තාපය අඩු ය. ඒ අනුව ආලෝකය නිපදවීම අතින් LED පහන්වල කාර්යක්ෂමතාව සූත්‍රිකා පහන්වල කාර්යක්ෂමතාවට වඩා බොහෝ ඉහළ අගයක් ගනී,



සූත්‍රිකා පහන්



CFL පහන්



LED පහන්

● **පරිසර හිතකාමී වීම**

විවිධ අවශ්‍යතා ඉටු කරගැනීමට භාවිත වන ද්‍රව්‍ය අතරින් ඇතැම් ද්‍රව්‍ය පරිසරයට හානිකර බව හඳුනා ගෙන ඇත. ප්ලාස්ටික් ඒ සඳහා කදිම උදාහරණයකි. ප්ලාස්ටික් දිරාපත් නොවන ද්‍රව්‍යයක් ලෙස හඳුනා ගෙන ඇත. එවැනි ද්‍රව්‍ය පරිසරයට එකතු වීමෙන් පරිසරයට හානිකර තත්ත්ව ඇති වේ. තව ද ඇතැම් නිර්මාණ පරිසරයට හානිකර වායු මුදා හරියි. උදාහරණ ලෙස ඛනිජ තෙල් භාවිතයෙන් ක්‍රියා කරන එන්ජින් දැක්විය හැකි ය. වාහන එන්ජින්වලින් මුදා හැරෙන කාබන් මොනොක්සයිඩ් හා නයිට්‍රස් ඔක්සයිඩ් වැනි වායු පරිසර දූෂණයට හේතු වේ.

ඇතැම් නිර්මාණවල ක්‍රියාකාරිත්වයට පරිසර හිතකාමී නොවන ද්‍රව්‍ය භාවිත වේ. මෑතක් වනතුරු නිපදවූ ශීතකරණවල ක්‍රියාකාරිත්වය සඳහා බහුලව භාවිත වූ R12 ලෙස හඳුන්වන වායු මිශ්‍රණයේ අඩංගු ක්ලෝරෝ ෆ්ලෝරෝ කාබන් (CFC) නැමැති වායුව ඕසෝන් ස්තරයට හානිකර බව තහවුරු වී ඇත. ඒ සඳහා විකල්පයක් ලෙස R134, R600 ආදි වශයෙන් හඳුන්වන ඕසෝන් ස්තරයට හානිකර නොවන පරිසර හිතකාමී වායු මිශ්‍රණ වර්ග වර්තමානයේ දී ශීතකරණ සඳහා යොදා ගැනේ.

කඩදාසි, දැව, යකඩ, ඇලුමිනියම් හා තඹ වැනි ද්‍රව්‍ය නිර්මාණ කාර්යයට දායක කර ගැනීමෙන් පරිසර හානිය අවම වේ. එයට හේතුව දිරාපත් වීමෙන් අනතුරුව ඒවායින් පරිසරයට එකතු වන ද්‍රව්‍ය පරිසරයට අහිතකර වීමට ඇති ඉඩ සීමිත වීමයි. මේ නිසා ම පරිසර හිතකාමී බව දැක්වෙන සටහන් වර්තමාන වෙළෙඳපොළේ පවතින බොහෝ නිර්මාණවල යොදා තිබෙනු දැකිය හැකි ය.




**පරිසර හිතකාමී බව පෙන්වන ලාංඡන**

● **ප්‍රතිචක්‍රීකරණය සඳහා යොදා ගත හැකි වීම**

මිනිස් අවශ්‍යතා සඳහා භාණ්ඩ නිෂ්පාදනය හා වෙනත් ඉදිකිරීම් සඳහා විශාල වශයෙන් ස්වාභාවික සම්පත් යොදා ගනු ලැබේ. මේ නිසා ස්වාභාවික සම්පත් ශීඝ්‍රයෙන් ක්ෂය වෙමින් පවතී. එබැවින් භාවිතයෙන් ඉවතලන ද්‍රව්‍ය, නැවත නිෂ්පාදන සඳහා යොදා ගැනීම වර්තමානයේ බහුලව සිදු වේ. මෙය ප්‍රතිචක්‍රීකරණය (Recycling) ලෙස හඳුන්වයි. මේ ආකාරයට ප්‍රතිචක්‍රීකරණය සිදු කිරීමෙන් සම්පත් භාවිතය අවම කළ හැකි වේ. එමගින් ස්වාභාවික සම්පත් භාවිතය අවම වීමෙන් ඒවා රැක ගැනීමට ද දායක විය හැකි ය. බොහෝ ප්ලාස්ටික් වර්ග, කඩදාසි, යකඩ, වානේ යනාදිය භාවිත කර නිපදවන භාණ්ඩ ප්‍රතිචක්‍රීකරණය කළ හැකි වේ.

ප්‍රතිචක්‍රීකරණය කළ හැකි ද්‍රව්‍ය සහිත නිර්මාණවල පරිසර හිතකාමී බව දැක්වීම සඳහා පහත සංකේතය දක්වා ඇත.



- **සුලබ හා පහසුවෙන් සපයාගත හැකි ද්‍රව්‍ය වීම**

බොහෝ නිර්මාණ සිදු කිරීමේ දී, ඒ සඳහා භාවිත වන ද්‍රව්‍ය සුලබ වීම හා පහසුවෙන් සපයා ගත හැකි වීම හේතුවෙන් නිෂ්පාදන පිරිවැය අවම කරගත හැකි වේ. මේ නිසා අභියෝගවලට සාර්ථකව මුහුණ දෙමින් ව්‍යාපාරයක් ලෙස බොහෝ කාලයක් නිෂ්පාදන කාර්යය සිදු කිරීමේ හැකියාව ලැබෙයි.

ගෘහ භාණ්ඩ සහ ඉදි කිරීම් ක්ෂේත්‍රයේ දී දැව හා වානේ වැනි ද්‍රව්‍ය බහුලව භාවිත කිරීම ඊට නිදසුන් වේ.



ගඩොල් හා දැව බහුල ව යොදා ගනිමින් ඉදිවන ගොඩනැගිලි

- **තමා සතු දැනුම හා කුසලතා භාවිත කළ හැකි වීම**

එදිනෙද සාමාන්‍ය අවශ්‍යතා සඳහා නිර්මාණය කෙරෙන බොහෝ නිර්මාණ එම ශිල්පියා සතු හෝ අවට ප්‍රජාවගෙන් සපයා ගත හැකි දැනුම හා කුසලතා යොදගෙන සිදු කර ඇත.

උදාහරණ ලෙස, සරල තාක්ෂණික ශිල්පීය ක්‍රම හා උපකරණ යොද ගනිමින් පොල් ලෙලි, පොල් කටු ආදි ද්‍රව්‍ය භාවිත කරමින් ග්‍රාමීය සිදු කරන ලාම්පු ආවරණ, පාපිසි ආදි නිර්මාණ දැක්විය හැකි ය.
උසස් මට්ටමේ තාක්ෂණික උපක්‍රම යොදා ගන්නා පරිගණක, නූතන මෝටර් රථ ආදිය නිෂ්පාදනයේ දී ඊට අවශ්‍ය දැනුම හා කුසලතා සංවර්ධනය කර ගත යුතු වේ.

● සෞඛ්‍යාරක්ෂිත වීම හා ආරක්ෂිත වීම

නිර්මාණ කාර්යය මෙන් ම නිර්මාණය ද සෞඛ්‍යාරක්ෂිත වීම මෙන් ම ආරක්ෂිත වීම ඉතා වැදගත් අංගයක් ලෙස සැලකිය හැකි ය. නිර්මාණ කාර්යයේ දී ආවුද හා උපකරණ හැසිරවීම පුද්ගල හා දේපළ ආරක්ෂාව සැලසෙන අයුරින් කළ යුතු වේ. තියුණු ආවුද භාවිතය අවසානයේ දී කැපුම් තලය ආවරණය කර තැබීම, බරින් වැඩි ආවුද හා උපකරණ පොළොව මත තැබීම හෝ අවම උසකින් තැබීම වැනි කරුණු පිළිබඳව අවධානය යොමු කළ යුතු වේ. එසේ ම ද්‍රව්‍ය තෝරා ගැනීමේ දී සෞඛ්‍යාරක්ෂිත ද්‍රව්‍ය තෝරා ගත යුතු වේ. උදාහරණ ලෙස කුඩා දරුවන් වෙනුවෙන් තනනු ලබන ක්‍රීඩා භාණ්ඩ බොහොමයක් රබර් ආශ්‍රිතව නිම කර ඇත. ලෝහ, දැව හා වීදුරු වැනි දෘඩ ද්‍රව්‍ය භාවිතයේ දී මෙන් නොව රබර් භාවිතයේ දී අනතුරු සිදුවීම අවම වේ.



නිර්මාණයෙහි තියුණු හා කැපීම් සිදුවිය හැකි දාර නොයෙදීම, ශරීරයට හානිකර රසායනික ද්‍රව්‍ය භාවිත නොකිරීම වැනි ක්‍රියාවන් මගින් ඔබගේ නිර්මාණයේ සෞඛ්‍ය ආරක්ෂිත බව තහවුරු වන අතර එයින් අනතුරු සිදු වීම අවම වේ.

● අවම පිරිවැයක් සහිත වීම

ව්‍යාපෘති කාර්යය තුළ සිදු කෙරෙන පිරිවැය ගණනයේ දී තම නිර්මාණය සඳහා වැය වන මුදල තක්සේරු කළ යුතු වේ. සුලබ අමුද්‍රව්‍ය හා සම්පත් භාවිතයෙන් හා අනුයෝගී උපකරණ යොදා ගැනීමෙන් පිරිවැය අවම කර ගැනීමට හැකි වේ. තව ද වෙනත් කාර්යයකින් ඉවත් කළ හෝ අපතේ යන ද්‍රව්‍ය භාවිතය මෙන් ම ශ්‍රමය බහුලව භාවිත කිරීම මගින් ද බොහෝවිට පිරිවැය අවම කර ගැනීමට හැකියාව තිබේ.

● ආකර්ෂණීය වීම

නිර්මාණය ආකර්ෂණීය බවින් යුක්ත වීම වැදගත් වන්නේ එම නිර්මාණය භාවිතයට ඇල්මක් ඇති කිරීම යි. කුඩා ළමුන් වෙනුවෙන් කරනු ලබන නිර්මාණවල විශේෂයෙන් ආකර්ෂණීය බව ඇති කරනු ලැබේ. එක ම අවශ්‍යතාවක් සපුරාලීම සඳහා වන විවිධ නිර්මාණ අතරින් ආකර්ෂණීය බවින් යුත් නිර්මාණ භාවිතය කෙරෙහි වැඩි කැමැත්තක් පාරිභෝගිකයා තුළ ඇති වේ.

• වෙළෙඳපොළ ඉල්ලුමක් පැවතීම

අපගේ අවශ්‍යතා සපුරා ගැනීමට උපකාරී වන නිර්මාණ විසඳුම් නිෂ්පාදනයේදී වෙළෙඳපොළ ඉල්ලුම පිළිබඳ මනා අවබෝධයක් තිබීම ද වැදගත් සාධකයකි.

ඇතැම් සමාජ අවශ්‍යතා ප්‍රබල වන අතර ඇතැම් සමාජ අවශ්‍යතා සඳහා එතරම් ඉල්ලුමක් නොපවතී. එසේ ම නොපවතින සමාජ අවශ්‍යතාවක් ප්‍රබල සමාජ අවශ්‍යතාවක් බවට පත් කිරීමට ද ඇතැම් නිර්මාණවලට හැකියාව ලැබී ඇත. උදාහරණයක් ලෙස දුරකථනය හැඳින්විය හැකි ය. මුල් යුගයේ ස්ථාවර ලෙස පැවති දුරකථනය, ජංගම දුරකථනයක් ලෙස ප්‍රතිනිර්මාණය වීම සමග දුරකථනයට පවතින වෙළෙඳපොළ ඉල්ලුම බෙහෙවින් වැඩි වී එය ප්‍රබල සමාජ අවශ්‍යතාවක් බවට පත් ව තිබේ.



ස්ථාවර දුරකථනයක්



ජංගම දුරකථනයක්

ජංගම දුරකථනයට නවාංග (ඡායාරූප ගැනීමේ හැකියාව, අන්තර්ජාල පහසුකම්, ක්‍රීඩා, පහසුවෙන් හැසිරවීමේ හැකියාව, විදුලි පන්දමක් ලෙස භාවිතයට ගැනීමේ හැකියාව වැනි) එක් කිරීමත් සමග සමාජයේ විවිධ අවශ්‍යතා සපුරාලන උපාංගයක් බවට එය පත්කර ගෙන ඇත.

ඇතැම් නිර්මාණ විසඳුම්වල ආකර්ෂණීය බව වර්ධනය කිරීමෙන් ද වෙළෙඳ පොළ ඉල්ලුම ඉහළ නංවා තිබෙනු දැකිය හැකි ය. නිර්මාණ විසඳුමෙහි බාහිර වර්ණය, හැඩය, නවාංග එක් කිරීම් එහි ආකර්ෂණීය බව වැඩි වීමට හේතු වේ.

නිර්මාණ විසඳුමක් එළි දැක්වීමේ දී වෙළෙඳ පොළ සමීක්ෂණයක යෙදීමෙන් හඳුනා ගත් ප්‍රබල අවශ්‍යතා සපුරාලන ලෙස නිර්මාණය කිරීම මගින් තම නිර්මාණය පුළුල් වෙළෙඳපොළ ඉල්ලුමක් ඇති වන අයුරින් ඉදිරිපත් කිරීමට හැකියාව ලැබෙයි.

නිවසේ මෙන් ම පාසල හා සම්බන්ධ ව පවත්නා අවශ්‍යතා හඳුනා ගනිමින් එක් එක් අවශ්‍යතාව ඉටු කරගැනීමට නොහැකි වීමට පාදක වන ගැටලු විමසා බැලීම මගින් ඊට ලබා දිය හැකි විසඳුම් ඉදිරිපත් කළ හැකි වෙයි. එම විසඳුම් අතරින් වඩාත් උචිත තාක්ෂණික විසඳුම තෝරා ගැනීමේ දී ඉහත දක්වා ඇති මූලිකාංග සැලකිල්ලට ගැනීම වැදගත් වේ. එමෙන් ම විවිධ තාක්ෂණික ශිල්පීය ක්‍රම (ඉදිකිරීම්, යාන්ත්‍රික, විදුලි හෝ ඉලෙක්ට්‍රොනික) වෙන් වෙන්ව හෝ සමෝධානිත ව හෝ සම්බන්ධ කර ගැනීමට ද මෙය අවස්ථාව කර ගත යුතු ය.

## නිර්මාණ විසඳුමක තේමාව

නිර්මාණ විසඳුම කිසියම් අවශ්‍යතාවක් සපුරාලයි නම් එහි ඉහත ගුණාංග එකක් හෝ කිහිපයක් ඇතුළත් වන බව ඔබට මේ වනවිට අවබෝධ වී ඇත. උදාහරණයක් ලෙස වෙළඳපොළ පවතින සබන් වර්ග පිළිබඳව සලකා බලමු. දැනට භාවිතයේ පවතින සබන් වර්ග අතරින් ඇතැම් ඒවා ළදරුවන් සඳහා ම විශේෂිත ද්‍රව්‍ය භාවිතයෙන් තනනු ලබයි. එයින් ළදරුවන්ගේ සියුම් සමට හානි වීම අවම වේ. මෙම විශේෂිත සබන් වර්ග **සෞඛ්‍ය ආරක්ෂාව වර්ධනය කිරීම** යන තේමාව මූලික කරගත් නිර්මාණ විසඳුමක් ලෙස ද දැක්විය හැකි ය.

වර්තමානයේ නිෂ්පාදනය වන වාහන එන්ජින්වල පිටාර නළය අතරට උත්ප්‍රේරක පරිවර්තකය (Cataltic converter) නම් ඒකකයක් යොදා තිබේ. එයින් එන්ජිමෙන් මුදා හැරෙන පරිසර හිතකාමී නොවන වායු, පරිසර හිතකාමී වායු බවට පරිවර්තනය කරයි. එම නිර්මාණ විසඳුම **පරිසර හිතකාමී බව වර්ධනය කිරීම** යන තේමාවට අදාළ වේ.

**ක්‍රියාකාරකම් 3.2**



ගුරුතුමාගේ සහාය සහ මග පෙන්වීම සහිත ව ඔබගේ පාසලේ පවතින ගැටලුමය අවස්ථා සඳහා ලබා දිය හැකි විසඳුම්වලට අදාළ ව තේමා කිහිපයක් නිර්මාණය කරන්න.

නිර්මාණ විසඳුමක් පහත දැක්වෙන අන්දමේ ඉදිරිපත් කිරීමක් විය හැකියි.

- පවත්නා නිර්මාණයක යම් මූලිකාංගයක් සංවර්ධනය කරනු ලැබූවක්
- පවත්නා නිර්මාණයකට යම් නවාංගයක් හෝ නවාංග කිහිපයක එක් කිරීමක්
- පවත්නා නිර්මාණයක් වෙනුවට විකල්ප නිර්මාණ විසඳුමක් ඉදිරිපත් කිරීමක්
- විවිධ නිර්මාණ විසඳුම්වල ඵලදායී එකතුවක්
- නව නිර්මාණයක්

## ව්‍යාපෘතියක් ඇසුරෙන් තාක්ෂණික නිර්මාණ විසඳුමක් ඉදිරිපත් කරමු

ඔබ හඳුනා ගත් අවශ්‍යතාව සපුරාලිය හැකි විවිධ විකල්ප විසඳුම් පවතී. ඒවා අතරින් වඩාත් උචිත විසඳුම තෝරා ගැනීමේ දී පහත දැක්වෙන ක්‍රියාවලිය අනුගමනය කිරීම සුදුසු ය.

- පිරිවිතර දැක්වීම
- සැලසුම් චිත්‍ර හෝ දළ සටහන් ඇඳීම
- ද්‍රව්‍ය හා ප්‍රමාණ ගණනය කිරීම
- ආවුද හා උපකරණ ලැයිස්තුගත කිරීම
- නිර්මාණ කාර්යයේ දී යොදගත යුතු ශිල්පීය ක්‍රම දැක්වීම
- නිර්මාණ කාර්යය සඳහා පිරිවැය ගණනය කිරීම

ඒ අනුව නිර්මාණ විසඳුමෙහි පැවතිය යුතු පිරිවිතර සපුරාලන, ලබා දී ඇති කාලය ඇතුළත නිම කිරීමට හැකියාව පවතින අවම පිරිවැයකට යටත් ව සිදු කළ හැකි නිර්මාණ විසඳුමක් තෝරා ගැනීමට යොමු විය යුතු ය. එය පාසැලේ දී සිදු කෙරෙන ඔබගේ ව්‍යාපෘති කාර්යය සාර්ථක වීමට හේතු වේ.

**පිරිවිතර**

නිර්මාණ විසඳුමෙහි පැවතිය යුතු ගුණාංග හා ලක්ෂණ ප්‍රමාණාත්මකව ඉදිරිපත් කිරීම පිරිවිතර ලෙස දැක්වේ.

ඔබගේ නිර්මාණ විසඳුමෙහි පැවතිය යුතු පිරිවිතර ගොඩ නැගීම පළමුව සිදු කළ යුතු ය. ඔබ තෝරා ගන්නා පිරිවිතර ඔබගේ නිර්මාණයේ ස්වභාවය අනුව වෙනස් වේ. පොදුවේ දැක්විය හැකි පිරිවිතරවලට අදාළ ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- විශාලත්වය (දිග, පළල, උස, විෂ්කම්භය ආදි මිනුම්)
- ධාරිතා සීමා (දැරිය හැකි, භාරයන් හි උපරිම හා අවම සීමා)
- තාක්ෂණික භාවිතයන් (වෝල්ටීයතාව, ධාරාව ආදි)
- තැනුම් ද්‍රව්‍ය
- උපදවන ජවය
- ඒකීය දිගක් සඳහා වන දැති ගණන හා දැති හැඩය
- තැනුම් ද්‍රව්‍ය (තලය හා මිට)
- වෙනත් විශේෂයෙන් දැක්විය යුතු ලක්ෂණ හා ප්‍රමිති

**සැලසුම් කිරීම**

ව්‍යාපෘතියේ එක් එක් පියවරේ දී මෙන් ම සමස්ත ක්‍රියාවලියේ දී ම සැලසුම් කිරීම සිදු විය යුතු ය. මූලිකව ව්‍යාපෘති කාර්යය සඳහා පියවර පෙළගැස්වීම සැලසුම් කළ යුතු වේ. අවශ්‍යතාව හෝ ගැටලුව, ගැටලුව විශ්ලේෂණය, එයට ද ලැබී ඇති කාලය මත ක්‍රියාකාරී සැලැස්ම, ඵලදායීව සම්පත් භාවිතය, ආරක්ෂාව පවත්වා ගැනීම (පුද්ගල හෝ දේපළ සහ පාරිසරික ආරක්ෂාව) නිර්මාණය සිදු කිරීම, ප්‍රදර්ශනය ආදි සියලු පියවර සැලසුම් කළ යුතු වේ.

**තීරණ ගැනීම**

ඔබගේ ව්‍යාපෘති කාර්යය සාර්ථක කර ගැනීම සඳහා එක් එක් පියවරේ දී නිවැරදි තීරණ ගත යුතු ය. උදාහරණයක් ලෙස නිර්මාණ පිරිවිතර තෝරා ගැනීමේ දී, සම්පත්, අවශ්‍යතාව, තාක්ෂණය මෙන් ම නිර්මාණයක පැවතිය යුතු ගුණාංග ආදි විවිධ සාධක සලකා බැලිය යුතු වේ.

නිර්මාණ විසඳුම් සඳහා තීරණ ගැනීමේ දී සලකා බැලිය යුතු කරුණු

- කාලය
- පිරිවිතර සීමා
- සපයා ගත හැකි සම්පත් හා ශිල්පීය ක්‍රම
- ආරක්ෂාව

**ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීම**

ඔබ සකස් කළ කාල රාමුවේ පියවර අනුගමනය කරමින් එහි අවසානය දක්වා ඇති සියලු කාර්යයන් සිදු කිරීම මගින් පමණක් ඔබගේ ව්‍යාපෘති කාර්යයෙහි සාර්ථකත්වය මැනිය නොහැකි වේ.

ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේදී පහත දැක්වෙන කරුණු කෙරෙහි අවධානය යොමු කළ යුතුය.

- වැඩ පරිසරය ක්‍රමවත්ව පවත්වා ගැනීම
- සම්පත් ඵලදායීව භාවිතය හා සම්පත් අපතේ යාම වැළැක්වීම
- කාලය නිසි අයුරින් කළමනාකරණය කිරීම
- අපද්‍රව්‍ය නිසි ලෙස බැහැර කිරීම
- පරිසර ආරක්ෂාව, පුද්ගල ආරක්ෂාව හා දේපළ ආරක්ෂාව පිළිබඳ සැලකිලිමත් වීම

**පසු විපරම**

ඔබගේ නිර්මාණ විසඳුම එළි දැක්වීමෙන් හා එහි ක්‍රියානුරූපී බව ප්‍රදර්ශනය කිරීමෙන් අන්‍යයන්ගේ හා තම ප්‍රතිපෝෂණ යෝජනාවලට අවස්ථාව ලබා ගත හැකි වේ.එයින් ඔබගේ නිර්මාණය සංවර්ධන කර ගැනීමට ඔබට අවස්ථාව උදා වේ.

ව්‍යාපෘති කාර්යය ආරම්භයේ සිට අවසානය දක්වා වූ සියලු පියවරවලට අදාළ ව රැස් කරගත් තොරතුරු, සටහන්, ඡායාරූප හා වෙනත් ලිපි හා ලේඛන ඇතුළත් ගොනුවක් නඩත්තු කර යුතු ය. ඔබගේ ව්‍යාපෘති කාර්යය ක්‍රියාත්මක අවසානයේ මෙවන් ස්වනිර්මාණ සංග්‍රහයක් ඉදිරිපත් කරන්න.

ඔබගේ ව්‍යාපෘති කාර්යය සාර්ථක කර ගැනීමට පහත දී ඇති ආදර්ශ ව්‍යාපෘතිය අත්වැලක් කර ගන්න.

ඔබ වැනි පාසල් ශිෂ්‍යයෙකු තමාට ලැබී ඇති ව්‍යාපෘති කාලයේ දී සිදු කළ ව්‍යාපෘතියකට අදාළව ඉදිරිපත් කරන ලද ස්වනිර්මාණ සංග්‍රහයෙන් ලබා ගත් තොරතුරු කිහිපයක් පහත දක්වා ඇත. මෙහි දී ව්‍යාපෘති සැලසුමෙහි, අවශ්‍යතාවක් හඳුනාගැනීමට හා ඒ හා සම්බන්ධව පැන නැගී ඇති ගැටලු විශ්ලේෂණය කිරීමට ඔහු විසින් ප්‍රමුඛත්වය දී තිබුණි.

- අවශ්‍යතාව : විදුලි ඉස්තිරික්කයෙන් මැදීම සිදු කරන අවස්ථාවක දී වැය වන විදුලි ප්‍රමාණය අවම කර ගැනීම
- ගැටලුව : එම අවස්ථාවේ දී රෙදි මැදීම සිදු නොකරන කාලය අතරතුර විදුලිය අපතේ යාම
- ගැටලු විශ්ලේෂණයෙන් හඳුනා ගත් තොරතුරු : රෙදි මැදීම සිදු නොකරන කාලය තුළ පරිසරයට තාපය හානි වීම
- නිර්මාණ සාරාංශය : රෙදි මැදීම සිදු නොකරන කාලය තුළ ඉස්තිරික්කයෙන් පරිසරයට හානි වන තාපය අවම කිරීමේ ක්‍රමවේදයක් නිර්මාණය කිරීම
- නිර්මාණ විසඳුම් යෝජනාව : රෙදි මැදීම සිදු නොකරන කාලය තුළ ඉස්තිරික්කය පතුලට පරිවාරක වැස්මක් යෙදීම
- තේමාව : මෙම ව්‍යාපෘතියේ තේමාව වූයේ **බල ශක්තිය සංරක්ෂණයයි.**

**පිරිවිතර ගොඩනැගීමේ පදනම**

තාපය හානි වීමේ ක්‍රම අධ්‍යයනය කළ ශිෂ්‍යයා එම හානි වීමේ ක්‍රම (සන්නයනය, සංවහනය, විකිරණය) පාලනය කළ හැකි පරිදි පිරිවිතර ගොඩනැගීමට අවශ්‍ය පදනම තීරණය කර ඇත්තේ පහත පරිදි ය.

- ආධාරක වැස්ම සඳහා තෝරාගත යුතු ද්‍රව්‍ය
    - පහසුවෙන් වාත්තු කළ හැකි ද්‍රව්‍යයක් වීම
    - ඉහළ උෂ්ණත්ව සඳහා ඔරොත්තු දීම
    - තාප පරිවාරක ගුණය
- ආධාරක වැස්මේ විශාලත්වය
  ආධාරක වැස්ම ඉස්තිරික්ක පතුලට වඩා විශාල විය යුතු ය.
- ඉස්තිරික්ත පතුළ ගිල්වන ගැඹුර
- ඉස්තිරික්ක පතුළ හා ආධාරකය එකිනෙක ස්පර්ශ වීම් වැළැක්වීමට යොදා ගන්නා ද්‍රව්‍යය

ඉහත දක්වා ඇති පදනම් මත පිහිටා ආධාරකය තැනීමට පැරිස් බදාමය ද, ආධාරක පතුල ආධාරකය හා ඍජුව ගැටීම වැළැක්වීමට ඇස්බැස්ටස් ඇසුරුම් නූල් යොදා ගැනීමට ද තීරණය කර ඇත. ඉස්තිරික්කයේ ප්‍රමාණය අනුව ආධාරකයේ විශාලත්වය හා ඉස්තිරික්ක පතුල ගිල්වන අවකාශයේ විශාලත්වයට තීරණය කර ඇත.

**සැලසුම් චිත්‍රය**



පැත්තෙන් බැලූ විට පෙනුම




ඉහළින් බැලූ විට පෙනුම




ත්‍රිමාණ රූපීය පෙනුම

අවශ්‍ය ද්‍රව්‍ය හා ප්‍රමාණ

| | |
|---|---|
| • පැරිස් බදාම (Plaster of parris) | 1 kg |
| • ඇස්බැස්ටස් ඇසුරුම් නූල් | 30 cm |
| • අච්චුව තැනීම සඳහා දැව පටි (25cm x 25cm) | 1 m |
| • අච්චුවට අදාළ දැව (1cm x 25cm) | 2 |
| • 5 cm යකඩ ඇණ | 08 |
| • ජලය | 1*l* |
| • වැලි කඩදාසි | 01 |

අවශ්‍ය ආවුද හා උපකරණ

- කැටයම් කියතක්
- අත් කියතක්
- අඬු මිටියක්
- වැලි කඩදාසි
- කුඩා බේසමක්

**නිර්මාණය ඉදි කිරීමේ පියවර**

1. තෝරාගත් ඉස්තිරික්කයේ පතුල 25 cm x 23 cm ප්‍රමාණයේ ලෑල්ලක් මත තබා ඉස්තිරික්ක පතුලට මදක් විශාල (5 mm පමණ) වන ලෙස සලකුණු කරන්න. එම සලකුණ දිගේ කැටයම් කියත මගින් කපා වාත්තු මල වෙන් කර ගන්න.




2. වාත්තු මලට වඩා දිගින් හා පළලින් වැඩි වන ලෙස සෘජු කෝණාස්‍රාකාර රාමුවක් 25mm x 25mm දැව පටිවලින් නිර්මාණය කරන්න.




3. තනාගත් රාමුව ඉතිරි වී ඇති 25 cm x 25cm ලෑල්ල මත තබා, ජලයේ දිය කර ගත් පැරිස් බදාමයෙන් රාමුවේ අඩක් උසක් පුරවා ගන්න.



4. වාත්තු මලේ පළලට වඩා වැඩි වන ලෙස කපා ගත් ඇස්බැස්ටස් ඇසුරුම් නූල් කැබලි කිහිපයක් රාමුව තුළ ඇති බදාමය මත තබා ඒ මත මැදට වන්නට වාත්තු මල තබන්න.



5. වාත්තු මල හා රාමුව අතර අවකාශය පැරිස් බදමයෙන් පුරවා ගන්න.

6. බදමය වියැළුණු පසු වාත්තු මල ඉවත් කර වැලි කඩදාසියක් ආධාරයෙන් දර මැද නිමහම් කරන්න.

7. රෙදි මැදීම සඳහා ඉස්තිරික්කය රත් කළ පසු රෙදි නොමදින විට ආධාරකයට ඉස්තිරික්ක පතුළ ගිල්වෙන සේ තබා ක්‍රියාකාරිත්වය ප්‍රදර්ශනය කරන්න.

මෙම ව්‍යාපෘති කාර්යයට අදළ වන ක්‍රියාකාරී සැලැස්ම පහත ආකාරයට ගොඩ නංවා ඇත.

| අනු අංකය | කාර්යය | 1 සතිය<br>1 2 3 4 5 6 7 | 2 සතිය<br>1 2 3 4 5 6 7 | 3 සතිය<br>1 2 3 4 5 6 7 |
|---|---|---|---|---|
| 1. | අවශ්‍යතාව හඳුනා ගැනීම | | | |
| 2. | එයට පාදක වන ගැටලුව විමර්ශන කිරීම | | | |
| 3. | පිරිවිතර ගොඩනැගීම හා විසඳුම් යෝජනා ඉදිරිපත් කිරීම | | | |
| | සැලසුම් චිත්‍ර හා ආකෘති පිළියෙල කිරීම | | | |
| ..... | ........................................................ | | | |
| ..... | ........................................................ | | | |
| ..... | ද්‍රව්‍ය හා ප්‍රමාණ ලැයිස්තුගත කිරීම, සපයා ගැනීම හා ආවුද හා උපකරණ තෝරා ගැනීම | | | |
| ..... | නිර්මාණය ඉදි කිරීම හා ක්‍රියානුරූපී බව පරීක්ෂා කිරීම | | | |
| ..... | ව්‍යාපෘති කාර්යය නිම කිරීම | | | |

ඉලෙක්ට්‍රොනික තාක්ෂණික දැනුම උපයෝගී කර ගනිමින් විසඳුම් ලබා ගත හැකි අවස්ථා සහිත ව්‍යාපෘතියක් පහත දැක්වේ.

අවශ්‍යතාව : තම මේසය මත තබා ඇති විදුලි පහන පහසුවෙන් දැල්වීම හා නිවා ගැනීම සිදු
කළ හැකි වීම

ගැටලුව : මේසය මත තබා අධ්‍යයන කටයුතු සිදු කරන විට පහන දැල්වීම හා නිවීමට ස්විච්චිය භාවිත කළ යුතු වීම හා හදිසියේ හෝ මේසයෙන් ඉවත්ව ගිය විට පහන තව දුරටත් දැල්වෙමින් පැවතීම

පිරිවිතර

- මේසය මත අත ගැටී ඇති කාලය තුළ පහන දැල්වී තිබීම
- මේසයෙන් අත ඉවත් වී ඇති විට පහන ස්වයංක්‍රීය ව නිවී යාම
- සරල ක්‍රියාකාරීත්වයෙන් යුක්ත වීම

තෝරා ගත් නිර්මාණ විසඳුම

- මේසය ස්පර්ශ වූ විට පහන දැල්විය හැකි පරිපථයක් ඉදි කර එයින් පහන හැසිරවීම. මෙහි දී මේස ලෑල්ල ලෝහ තහඩුවකින් නිමවා ගැනීම කළ යුතු වේ. ඒ අනුව පරිපථයේ ස්පර්ශක තහඩුව ලෙස මේසය මත අතුරා ඇති තහඩුව යොදා ගැනේ.

මේස තහඩුව පරිපථයේ ස්පර්ශ වූ විට පරිපථය ක්‍රියාත්මක වී පිළිවයන මගින් එහි ඇති ස්විච්චිය සංවෘත කරනු ලබයි. එවිට එම ස්විච්චය ඇඳු පහන් පරිපථය සංවෘත වීමෙන් විදුලි පහන දැල්වේ.



එදිනෙද අවශ්‍යතා ඉටු කර ගැනීමේ දී මත වන ගැටලුවක් සඳහා ඉදිරිපත් කළ නිර්මාණ විසඳුමකට අදාළ ව්‍යාපෘති වාර්තාවකින් උපුටා ගත් තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

අවශ්‍යතාව : පුනර්ජනනීය බල ශක්තිය උපයෝගී කර ගනිමින්, අඩු වියදමකින්, පහසුවෙන් හා පරිසර හිතකාමී ලෙස ජලය උණුසුම් කර ගැනීම

ගැටලුව : සාමාන්‍ය නිවෙස්වල පහසුවෙන් හා පරිසර හිතකාමී ලෙස ජලය උණුසුම් කර ගැනීමේ ක්‍රමවේද නොමැති වීම

ගැටලුව විශ්ලේෂණය : සාමාන්‍ය භාවිතයේ පවතින දර වැනි පුනර්ජනනීය බල ශක්ති ප්‍රභවවලින් දුම හා අළු පිටවීම වැනි හේතු නිසා පරිසරය අපවිත්‍ර වීම, ඒ සඳහා අමතර කාලයක් හා ශ්‍රමයක් වැය කිරීමට සිදු වීම, ක්ෂණිකව භාවිතයට ගැන්වීමට නොහැකි වීම වැනි තත්ත්ව පවතී.

පිරිවිතර : අපද්‍රව්‍ය නොමැති වීම, අවශ්‍ය ඕනෑම අවස්ථාවක උණු ජලය සාද ගැනීමට හැකි වීම ජලය උණුසුම් කිරීමට වියදමක් දැරීමට සිදු නොවීම හා සරල ක්‍රමවේදයක් වීම

නිර්මාණ විසඳුම : සූර්ය තාපය උපයෝගී කර ගනිමින් ජලය උණුසුම් කර රැස්කර තබා ගැනීම

මෙහි දී ජලය උණුසුම් වීමේ දී සිදුවන තාප නිතාල සංසරණ ක්‍රියාව පිළිබඳව ද, තාපය ගලා යන ආකාර වන සන්නයනය, සංවහනය හා විකිරණය යන ක්‍රම පිළිබඳව අධ්‍යයනයක යෙදී, එම සිද්ධාන්ත ඔහුගේ නිර්මාණය සඳහා උපයෝගී කරගෙන ඇත. රූපයේ පරිදි ලෝහ නළ එකලසක් තනා එහි විශාල පහළ (A) කෙලවර ජලය ඇතුළු වීමට ද, අනෙක් කෙළවර (B) ජලය පිටවීමට හැකිවන ලෙස ද නළ අමුණා බාහිර පෘෂ්ඨය තාප පරිවරණය කළ ටැංකියක පතුළට හා ඉහළට සම්බන්ධ කර ඇත. මෙම එකලසට සූර්ය තාපය වැටෙන්නට සැලැස්වූ විට එයින් ජලය උණුසුම් වී සංවහන ධාරාවක් ලෙස A සිට B දෙසට උණුසුම් ජලය තල්ලු වේ. එවිට උණුසුම් ජලය ජල ටැංකියේ ඉහළ කොටසට ගමන් කරන අතර ජල ටැංකියේ පහළ ඇති සිසිල් ජලය A කෙළවර දෙසට ඇදී එයි.



# නිර්මාණ පිළිබඳ තොරතුරු සන්නිවේදනය සඳහා සුදුසු මෘදුකාංග භාවිත කරමු

අප විසින් සිදු කරන විවිධ නිෂ්පාදන ක්‍රියාවලි, නිර්මාණවල තොරතුරු මෙන් ම ඉගෙනුම් ක්‍රියාවලියේ දී දැනුම අන් අයට ඉදිරිපත් කිරීමේ දී එය වඩාත් කාර්යක්ෂම ව සන්නිවේදනය කිරීම සඳහා විවිධ ක්‍රම උපයෝගී කර ගනු ලැබේ. පෝස්ටර්, දැන්වීම් පුවරු, බැනර්, අත් පත්‍රිකා, කෙටි චිත්‍රපටි යනාදිය එවැනි ක්‍රම කිහිපයකි. වර්තමානයේ දී ඒ සඳහා විද්‍යුත් මෘදුකාංග භාවිත කිරීම ද බහුලව සිදු වන අතර එහි දී ශබ්ද, චිත්‍ර මෙන් ම ක්‍රියාකාරී දර්ශන හා කෙටි චිත්‍ර පටි ඇතුළත් කර සාර්ථක නිර්මාණයක් ඉදිරිපත් කළ හැකි ය.

සන්නිවේදන කාර්ය සාර්ථක කර ගැනීම සඳහා සුදුසු බහුලව භාවිත වන විද්‍යුත් මෘදුකාංග ලෙස Microsoft Office PowerPoint හා LibreOffice Impress දැක්විය හැකි ය. පාසල් පරිගණක විද්‍යාගාරවල Isuru Linux මෙහෙයුම් පද්ධතිය ක්‍රියාත්මක වන අතර එහි LibreOffice Impress මෘදුකාංගය භාවිත කර විද්‍යුත් ප්‍රදර්ශකයක් නිර්මාණය කරමු.

LibreOffice Impress මෘදුකාංගය විවෘත කර ගැනීම සඳහා පහත පියවර අනුගමනය කරන්න.

Start ⟶ All programmes ⟶ LibreOffice Impress

නැතහොත් පරිගණක තිරය මත දිස්වෙන  කෙටි මං සලකුණ මත දෙවරක් ක්ලික් කිරීමෙන් ද මෘදුකාංගයට පිවිසිය හැකි ය.

විවෘත වන Impress මෘදුකාංගයේ අතුරු මුහුණත පහත දැක්වේ.




| | | |
|---|---|---|
| 1. Title Bar | 4. Standard Toolbar | 7. Tasks |
| 2. Control Box | 5. Drawing Toolbar | 8. Scroll Bar |
| 3. Menu Bar | 6. Area Outline | 9. Status Bar |

නව රාමුවක් (Slide) ලබා ගැනීම සඳහා පහත විධාන ලබා දෙන්න.

Insert ⟶ Slide ⟶ Enter




ලබා ගන්නා රාමුව අවශ්‍ය ආකාරයට සකස් කර ගැනීම මගින් යොදන අකුරු, රූප සටහන්, වගු, ප්‍රස්තාර, පහසුවෙන් ක්‍රියාත්මක කළ හැකි ය. ඒ සඳහා සුදුසු වර්ගයේ රාමු තෝරා ගත යුතු ය. මෙහි පිරිසැකසුම (Layout) ඉතා හොඳින් තේරුම් ගත යුතුයි.

පිරිසැකසුම් ලබා ගැනීම සඳහා පහත විධාන ලබා දෙන්න.

View ⟶ Task pane ⟶ Layout ⟶ Enter



තෝරා ගත් පිරිසැකසුම (Layout) මත ක්ලික් කිරීම මගින් තිරය මත රාමු (Slides) ලබා ගත හැකි ය.

රාමුව තෝරා ගැනීමෙන් පසු අවශ්‍ය අකුරු Text Box මත යතුරු ලියනය කළ හැකි ය. එමෙන් ම යෙදිය යුතු වන්නේ රූප හෝ කෙටි වීඩියෝ දර්ශන ආදිය නම් එයට එයට ගැළපෙන රාමුව තුළ ඇති අයිකනය මත ක්ලික් කළ යුතු ය. අකුරුවල විවිධ හැඩ ගැන්වීම් සඳහා හැඩයම් තීරුව (formatting tool bar) භාවිත කරන්න.




රූපයක් ඇතුළු කිරීම සඳහා පහත විධාන අනුගමනය කරන්න.

Insert ⟶ Picture ⟶ Photo Album ⟶ Enter



වගු හෝ ප්‍රස්තාර ඇතුළු කිරීම සඳහා අවශ්‍ය ප්‍රස්තාර හා වගු ද තෝරා පහත විධාන අනුගමනය කරමින් ඒවා යෙදිය යුතු ය.

Insert ⟶ chart ⟶ Enter




සකස් කරන ලද වැඩසටහන සජීවීකරණය (Animation) කිරීම මගින් ආකර්ෂණීය ලෙස ඉදිරිපත් කළ හැකි ය. ඒ සඳහා පහත විධාන ක්‍රියාත්මක කරන්න.

Slide show ⟶ Custom Animation ⟶ Enter



එසේ ම එක් එක් රාමුව ඉදිරිපත් කිරීම, ගැළපෙන ආකාරයට පිහිටීම හා දර්ශනය විය යුතු කාලය දක්වීම සඳහා පහත පියවර අනුගමනය කරන්න.

Slide show ⟶ Slide transition ⟶ Enter




සම්පූර්ණ කරන ලද සමර්පණ වැඩ සටහන (Presentation) ගබඩා කිරීම සඳහා පහත පියවර අනුගමනය කරන්න.

File ⟶ Save As ⟶ Type Name ⟶ Save



සකස් කළ සමර්පණ වැඩසටහන ඉදිරිපත් කිරීම සඳහා පහත විධාන ලබා දෙන්න. එසේ නොමැති නම් යතුරු පුවරුවේ $F_5$ යතුර ක්‍රියාත්මක කරන්න.

Slide Show ⟶ Slide Show ⟶ Enter



තාක්ෂණික ක්ෂේත්‍රය

# 4 ව්‍යාපාර

## 4.1 කුඩා ව්‍යාපාරයක් සාර්ථකව පවත්වාගෙන යාම සඳහා බලපාන සාධක හඳුනා ගනිමු

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- ව්‍යාපාරයක් අරඹා එය සාර්ථකව පවත්වා ගෙන යාම සඳහා බලපාන සාධක පෙළ ගැස්වීමටත්,
- එම සාධකවල අදාළ බව අත්හදා බැලීමටත්,
- ව්‍යවසායකත්ව ගති ලක්ෂණ හඳුනා ගෙන ස්වතක්සේරුවක යෙදෙමින් යෝජනා ඉදිරිපත් කිරීමටත්,

හැකියාව ලැබෙනු ඇත.



මිනිස් අවශ්‍යතා ඉටු කිරීමට මැදිහත්ව සිටින විවිධ ව්‍යාපාර අපට දක්නට ලැබේ. ඒවා පරිමාණය අනුව කුඩා, මධ්‍යම හා මහා පරිමාණ ව්‍යාපාර වශයෙන් වර්ග කළ හැකි ය. අප මෙහි දී විශේෂයෙන් අවධානය යොමු කරනු ලබන්නේ පාරිභෝගිකයාට වඩාත් සමීප ඔවුන් අතර වඩාත් ප්‍රචලිත කුඩා ව්‍යාපාර පිළිබඳව යි.



කුඩා පරිමාණයේ එළවළු වෙළෙඳසැලක්

**කුඩා ව්‍යාපාර**

කුඩා ව්‍යාපාරවල ස්වභාවය ආර්ථික මට්ටම් හා අරමුණු අනුව ආයතනයෙන් ආයතනයට වෙනස් වේ. එසේ වුව ද කුඩා ව්‍යාපාරවල දක්නට ලැබෙන පොදු ලක්ෂණ කිහිපයක් සලකා බැලීමෙන් මෙය හඳුනා ගැනීම පහසු වේ. පහත දක්වා ඇත්තේ එවැනි පොදු ලක්ෂණ කිහිපයකි.

- රුපියල් මිලියන 15ට අඩු ප්‍රාග්ධනයක් ආයෝජනය කර තිබීම
  මෙය වර්තමාන තත්ත්වයයි. ඉදිරියේ දී මෙය වෙනස් විය හැකි ය.
- සේවයේ යොදවා ඇති ශ්‍රමිකයන් සංඛ්‍යාව සාමාන්‍යයෙන් 15 හෝ ඊට අඩු වීම
- මහා පරිමාණ යන්ත්‍ර සූත්‍ර භාවිත නොකිරීම
- වෙළෙඳපොළ සීමා සහිත වීම

මෙවැනි ලක්ෂණවලින් සමන්විත ස්වාධීන අයිතිය යටතේ ක්‍රියාත්මක වන ව්‍යාපාර ඒකකයක් කුඩා ව්‍යාපාරයක් ලෙස හැඳින්විය හැකි ය.

වෙළෙඳපොළෙහි පවතින කුඩා ව්‍යාපාර අවස්ථාවලින් ප්‍රයෝජන ගැනීමට ව්‍යවසායකයින් කුඩා ව්‍යාපාරවලට ඇතුළු වේ. මෙවැනි කුඩා ව්‍යාපාර අවස්ථාවලින් ප්‍රයෝජන ගැනීමට මහා පරිමාණ ව්‍යාපාරිකයෝ උනන්දු නොවෙති. ඔවුන්ගේ ආයෝජනවලට සාපේක්ෂව ප්‍රමාණවත් ප්‍රතිලාභ නොලැබීම එයට හේතුව යි.

ඔබ නිවසේ එදිනෙදා භාවිතයට ගැනෙන භාණ්ඩ හා සේවා පිළිබඳව මඳක් සිතන්න. ඒවායින් බොහොමයක් කුඩා ව්‍යාපාරිකයන්ගේ නිෂ්පාදන වේ. රටේ ජාතික නිෂ්පාදනයට විශාල දායකත්වයක් දරන මෙවැනි ව්‍යාපාරිකයන් පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා රාශියක් ඉටු කර දීමට සමත් වී ඇත. කුඩා ව්‍යාපාර පවත්වා ගෙන යන ව්‍යවසායකයින්ගේ නිෂ්පාදන කිහිපයක් පහත රූපයේ දැක්වේ.



**කුඩා පරිමාණයෙන් සිදු කරන නිෂ්පාදන**

### ව්‍යවසායකයන් කුඩා ව්‍යාපාර වෙත නැඹුරු වීමට හේතු

- පහසුවෙන් ආරම්භ කළ හැකි වීම
- ආරම්භ කිරීමට විශාල ප්‍රාග්ධනයක් අවශ්‍ය නොවීම
- ගනුදෙනුකරුට සමීප වීමේ හැකියාව වැඩි වීම
- නීතිරීති ලිහිල් වීම
- උසස් තාක්ෂණික උපක්‍රම අවශ්‍ය නොවීම
- මහා පරිමාණ යන්ත්‍ර සූත්‍ර භාවිත නොවීම
- මිනිස් සම්පත් උපරිම වශයෙන් යොදා ගත හැකි වීම
- රජයෙන් ලබා දෙන ව්‍යාපාර දිරි ගැන්වීමේ සහන ලබා ගත හැකි වීම
- තම සහජ දක්ෂතාවන්, පාරම්පරිකව උරුම වූ ශිල්ප පහසුවෙන් ප්‍රයෝජනයට ගැනීමට හැකි වීම

**ක්‍රියාකාරකම් 4.1**



ඔබ ප්‍රදේශයේ පවතින කුඩා ව්‍යාපාරයක් තෝරා ගන්න. එම ව්‍යාපාරය සම්බන්ධව පහත සඳහන් කරුණු පිළිබඳ තොරතුරු රැස් කරන්න.

- ව්‍යාපාරයේ නම
- ඉටු කරනු ලබන කාර්යය (නිෂ්පාදනය කිරීම, අලෙවි කිරීම හෝ සේවා සැපයීම)
- ආයෝජනය කර ඇති ප්‍රාග්ධනය පිළිබඳ තොරතුරු
- සේවක සංඛ්‍යාව
- නිෂ්පාදන කටයුතු සිදු කරන ආකාරය (යන්ත්‍රානුසාරයෙන් ද? මිනිස් ශ්‍රමයෙන් ද?)
- ව්‍යාපාරික කටයුතු ව්‍යාප්ත වී පවතින සීමාව

මෙම ව්‍යාපාරයෙහි කුඩා ව්‍යාපාරයක ලක්ෂණ ප්‍රදර්ශනය වේ දැයි තොරතුරු විශ්ලේෂණය කර බලන්න. ඔබගේ පන්තියේ යහළුවන් විසින් රැස් කළ තොරතුරු සමග ඔබ රැස් කළ තොරතුරු සසඳා බලා කුඩා ව්‍යාපාරයක පොදු ලක්ෂණ හඳුනා ගන්න.

### කුඩා ව්‍යාපාර වර්ධනය වීම නිසා රටක ආර්ථික සංවර්ධනයට ලැබෙන ප්‍රතිලාභ

- දේශීය නිෂ්පාදන දියුණු වේ.
- රැකියා අවස්ථා වැඩි වේ.

  දියුණු රටවල පවා රැකියාවලින් 90% ක් ම උත්පාදනය කරනුයේ කුඩා ව්‍යාපාර තුළිනි.
- ආර්ථිකයේ සියලු අංශ අතර සමබර වර්ධනයක් ඇති වේ.
- ජනතාවගේ ජීවන තත්ත්වය උසස් වේ.
- නොදියුණු ප්‍රදේශ දියුණු වේ.
- ප්‍රාදේශීය සම්පත් ප්‍රයෝජනයට ගැනීම තුළින් ආදායම් තත්ත්වය ඉහළ යයි.
- ග්‍රාමීය ප්‍රදේශවල කුඩා ව්‍යාපාර දියුණු වීමෙන් රැකියා අපේක්ෂිත තරුණ පිරිස් නගරයට ඇදී ඒම අවම වේ.

  මේ නිසා ජන පීඩනය වැඩි වීමෙන් ඇති වන පාරිසරික, සෞඛ්‍ය ගැටලු ආදි විවිධ ගැටළු අවම වේ.

## ව්‍යාපාරයක් ආරම්භ කර එය සාර්ථකව පවත්වා ගෙන යාම සඳහා බලපාන සාධක

සාර්ථක ව්‍යාපාරයක් ආරම්භ කර පවත්වාගෙන යාමේ දී එහි සාර්ථකත්වයට බලපාන සාධක පිළිබඳ දැනුවත් වීම ඉතා වැදගත් ය. ව්‍යවසායකයකු විසින් සිදු කළ යුතු විවිධ කාර්ය පහත දැක් වේ.

- ව්‍යාපාරයේ සාර්ථකත්වයට බලපාන සාධක හඳුනා ගැනීම
- එම සාධක ව්‍යාපාරයට අදාළ කර ගැනීම
- තමා සතු සම්පත් ඵලදායි ලෙස යොදා ගැනීම
- නව තාක්ෂණික වෙනස් වීම් හඳුනා ගෙන ඒවාට අනුගත වීම
- තරගකාරිත්වයට සාර්ථකව මුහුණ දෙමින් නව ව්‍යාපාර අවස්ථා මතු කරගෙන ක්‍රියාත්මක කිරීම

මෙම කාර්යයන් මනා ලෙස අවබෝධ කර නොගන්නා ව්‍යවසායකයින්ගේ ව්‍යාපාර අසාර්ථක වීමට ඇති ඉඩකඩ වැඩි බැවින් මේ පිළිබඳව සැලකිලිමත් වීම ඉතා වැදගත් ය.

### ව්‍යාපාර සාර්ථකත්වය කෙරෙහි බලපාන සාධක

පහත දැක්වෙන්නේ ව්‍යාපාරයක සාර්ථකත්වයට බලපාන තීරණාත්මක සාධක යි. මෙම සාධක පිළිබඳ නිවැරදි ඇගයීමක් කිරීම වැදගත් වේ. ව්‍යවසායකයා එයට අදළ කුසලතාවලින් හෙබි අයෙකු විය යුතු ය. එසේ නැතහොත් ඒ සඳහා සුදුසු පුද්ගලයෙකුගේ උපදේශන සහාය ලබා ගත යුතු ය.

- මුදල්, ශ්‍රමය, ද්‍රව්‍ය හා වෙනත් සම්පත්

ව්‍යාපාරිකයෙකුට විවිධ කටයුතු සඳහා මුදල් අවශ්‍ය වේ.

- අමුද්‍රව්‍ය හෝ තොග මිල දී ගැනීම
- තොග පවත්වා ගෙන යාම
- ණය හිමියන්ට මුදල් ගෙවීම්
- ගෙවල් කුලී, විදුලි බිල්, දුරකථන ගාස්තු, වරිපනම් ගාස්තු, ප්‍රවාහන වියදම් වැනි එදිනෙද කළ යුතු වියදම් පියවීම
- ස්ථාවර වත්කම් මිල දී ගැනීම

මෙම කටයුතු සුදුසු පරිදි ඇස්තමේන්තු කර සැලසුම් සකස් කළ යුතු ය. ව්‍යාපාරික අයවැය, ආදයම් හා වියදම්, නිෂ්පාදන පිරිවැය සඳහා කලින් ඇස්තමේන්තු කර මුදල් ලබා දීමෙන් මුදල් ඵලදයී මාර්ගවල යෙදවිය හැකි ය. එමෙන් ම ව්‍යාපාර සඳහා අමුද්‍රව්‍ය මිල දී ගැනීමේ දී ඒවායේ ගුණාත්මක බව, ප්‍රමිතිය හා විවිධ මිල ගණන් විමසා බලා සසඳා ව්‍යාපාරයට වාසිදායක වන සේ ලබා ගත යුතු යි.

සේවක අවශ්‍යතා හඳුනා ගැනීම හා තීරණය කිරීම පිළිබඳව ද ව්‍යවසායකයාට විශාල වගකීමක් පැවරේ. පුහුණු ශ්‍රමය හා නුපුහුණු ශ්‍රමය යොදවන ආකාරය සෑම විට ම ව්‍යාපාරයේ ඵලදායිතාවය ඉහළ නැංවෙන ආකාරයට සැලසුම් සකස් කර ක්‍රියාත්මක කළ යුතු ය. සේවක ඵලදායිතාව සාපේක්ෂව ඔවුන්ට ගෙවන වැටුප් ද ආකර්ෂණීය විය යුතු අතර ඔවුන් දිරි ගැන්වීම සඳහා ද උපාය මාර්ග යෙදීම ව්‍යාපාරිකයා සතු වගකීමකි. ශ්‍රමයට අමතරව ව්‍යාපාරයට යොදන අනෙකුත් සියලු සම්පත් ඵලදායි ලෙස යෙදවීමට ද ඔහු සමත් විය යුතු ය.

- තාක්ෂණික දැනුම (Technology)

තමාගේ ව්‍යාපාර කටයුත්ත පිළිබඳව ගැඹුරට අවබෝධ කරගෙන කටයුතු කිරීමේ දී ඒ සඳහා වඩාත් අවශ්‍ය වන්නේ තමා සතු තාක්ෂණ දැනුමයි. භාණ්ඩ නිෂ්පාදනය කිරීමේ දී නව ප්‍රවණතා හඳුනා ගැනීමේ හැකියාව, භාණ්ඩවල ගුණාත්මක බව වැඩි දියුණු කිරීම, පිරිවැය අවම කර ගැනීම හා නව නිෂ්පාදන ක්‍රම යොදා ගැනීම පිළිබඳව තාක්ෂණ දැනුම කුඩා ව්‍යාපාරිකයාගේ කටයුතු සාර්ථකත්වයට දැඩි ලෙස බලපායි.

- තොරතුරු (Information)

භාණ්ඩයක් නිෂ්පාදනය කිරීමට පූර්ව අවස්ථාවේ සිට පාරිභෝගිකයා අතට පත්වන තුරු ව්‍යාපාරිකයකුට තොරතුරු අවශ්‍ය වේ. භාණ්ඩයක් නිෂ්පාදනය කිරීමට පෙර අවශ්‍ය සැලසුම් සකස් කිරීම, සංවිධානය කිරීම හා ක්‍රියාත්මක කිරීම සඳහා තොරතුරු සහාය කර ගැනීමට සිදු වේ.

උදාහරණ :-
- විවිධ වෙළෙඳපොළ අවශ්‍යතා පිළිබඳ තොරතුරු
- අමුද්‍රව්‍ය සැපයුම්කරුවන් පිළිබඳ තොරතුරු
- අමුද්‍රව්‍යවල මිල ගණන් පිළිබඳ තොරතුරු
- භාණ්ඩවල ගුණාත්මක බව සහ ප්‍රමිති පිළිබඳ තොරතුරු
- තරගකරුවන්ගේ තොරතුරු
- භාණ්ඩ බෙදා හැරීමේ ජාල පිළිබඳ තොරතුරු
- මූල්‍ය පහසුකම් ලබා ගැනීමේ තොරතුරු
- අලෙවි පහසුකම් සපයන ආයතන පිළිබඳ තොරතුරු
- අලෙවි ප්‍රවර්ධන උපාය මාර්ග පිළිබඳ තොරතුරු

මෙවැනි තොරතුරු ලබා ගැනීමෙන් කුඩා ව්‍යාපාරිකයන්ට තම සැලසුම් නිවැරදිව සකස් කර ක්‍රියාත්මක කිරීමට පහසු වේ.

- වෙළෙඳපොළ (Market)

කුඩා ව්‍යාපාරයක් ආරම්භ කරන ව්‍යවසායකයකු තමා නිෂ්පාදනය කිරීමට අපේක්ෂිත භාණ්ඩය හෝ සේවාවට වෙළෙඳපොළක් තිබේ ද යන්න වෙළෙඳපොළ සමීක්ෂණයක් මගින් සොයා බැලිය යුතු ය. වෙළෙඳපොළ යනු යම් නිෂ්පාදිතයක් මිල දී ගැනීමට කැමැත්තක් හා හැකියාවක් ඇති ගනුදෙනුකරුවන් සමූහයකි. කුඩා ව්‍යාපාරිකයා ඉලක්ක කරනු ලබන්නේ කුඩා ප්‍රදේශයක සීමිත වෙළෙඳපොළක් බැවින් තොරතුරු ලබා ගැනීම පහසු ය.

- ශක්ති (Strengths)

සාර්ථක ව කුඩා ව්‍යාපාරයක් පවත්වා ගැනීම සඳහා පහත දැක්වෙන ශක්තීන් වැදගත් වේ.

- ව්‍යවසායකයා සතු විශේෂ දක්ෂතා හා විශේෂ හැකියාවන්
- ව්‍යාපාරයේ සිටින දක්ෂ පුහුණු ශ්‍රමිකයන්
- ප්‍රශස්ත මට්ටමේ පවතින සම්පත්
- ව්‍යාපාරයේ වාසිදායක පිහිටීම
- සාර්ථකව ව්‍යාපාර තරගකාරීත්වයට මුහුණ දීමේ හැකියාව
- තම ව්‍යාපාර කටයුතුවලට නව තාක්ෂණය යොදා ගැනීමේ හැකියාව
- උසස් කීර්තිනාමය හා හොඳ වෙළෙඳපොළක් සකස්ව තිබීම

- අවස්ථා (Opportunities)

බාහිර පරිසරයේ ඇති යම් යම් වාසිදායක තත්ත්ව තම ව්‍යාපාරයේ දියුණුවට යොදා ගැනීමට ඇති හැකියාව අවස්ථා නමින් හැඳින්වේ. කුඩා ව්‍යාපාර අරඹන ව්‍යවසායකයන්ට ව්‍යාපාර සාර්ථක කර ගැනීමට බලපාන වාසිදායක අවස්ථා කිහිපයක් පහත දැක්වේ.

- වෙළෙඳපොළක් පැවතීම
- තරඟකරුවන් නැතිවීම හෝ අඩු වීම
- සම්පත් බහුලව තිබීම
- පුහුණු ශ්‍රමය තිබීම
- රජයේ හිතකර ප්‍රතිපත්ති
- ආර්ථික මට්ටමින් උසස් ක්‍රය ශක්තියක් ඇති පාරිභෝගික කොටසක් සිටීම
- ආර්ථික ස්ථාවරභාවය

### ව්‍යවසායකයෝ

ව්‍යවසායකයෙක් යනු කිසියම් ප්‍රතිලාභයක් ළඟා කර ගැනීම සඳහා යමක් කිරීමේ නව මාර්ග උත්පාදනය කරන්නෙකි. ව්‍යවසායකයෝ සෑමවිට ම තමා අවට පරිසරය ගවේෂණය කරමින්, විශ්ලේෂණයේ යෙදමින්, සිතා බලමින් නව අදහස් නව අවස්ථා බවට පත් කරන්නෝ ය. ඔවුහු කිසියම් ක්‍රියාවලියක් උත්පාදනය කරමින් තම අභිමතාර්ථ මුදුන්පත් කර ගන්නෝ ය. විස්මිත දෑ එළි දක්වන්නෝ ය.

ව්‍යවසායකත්ව පුද්ගල චරිත අතර ව්‍යාපාරිකයා, ප්‍රාදේශීය ලේකම්වරයා, වෛද්‍යවරයා, විනිසුරුවරයා, පූජකවරයා ආදි අය හඳුනා ගත හැකි ය. ඒ අනුව ගොවිපොළ, පන්සල, පල්ලිය, පාසල, විශ්වවිද්‍යාල, රජයේ ව්‍යාපාර, ආරෝග්‍යශාලා යනාදි සෑම තැනක ම ව්‍යවසායකයින් දක්නට ලැබේ.

ඔබේ ප්‍රදේශයේ ඇතැම් පාසල් දෙස බලන්න. දක්ෂ විදුහල්පතිවරු ඉතා කෙටි කාලයක් තුළ අපේක්ෂිත අභිමතාර්ථ ඉටු කර ගැනීමට නව වැඩ සටහන් නිර්මාණය කරති. එම වැඩසටහන් ක්‍රියාවේ යොදවමින් පාසල වේගවත් සංවර්ධනයක් කරා ගෙන යාමට සමත් වෙති. එයට හේතුව එම විදුහල්පතිවරුන් විසින් තමාගේ ව්‍යවසායකත්ව ගති ලක්ෂණ ක්‍රියාවේ යෙදවීමයි.

ඔබ අවට ඇති පන්සල හෝ පල්ලිය පිළිබඳව සිතන්න. භික්ෂූන් වහන්සේලා හෝ පූජකවරුන් තම දායකයින්ට අවශ්‍ය සේවා නිර්මාණශීලිව හා කාර්යක්ෂමව ඉටු කර දීමෙන් එම ස්ථාන ජනයාට ප්‍රයෝජනවත් ස්ථාන බවට පත් කරනු ලබන්නේ ඔවුන් දක්ෂ ව්‍යවසායකයින් වන නිසා ය.

ආරෝග්‍යශාලාවල විවිධ විස්කම් කරන වෛද්‍යවරු ඔබ දැක ඇත. විවෘත හදවත් සැත්කම්, නළ දරු උපත්, දෙබිඩි දරු සැත්කම් ආදි මේ සියල්ල අලුත් අදහස්, අලුත් ක්‍රමෝපායන් අනුව උත්පාදනය කරමින් ක්‍රියාත්මක කිරීමට හපන්කම් ඇති වෛද්‍ය ව්‍යවසායකයින්ගේ ක්‍රියාවන් ය.

**ව්‍යාපාරික ව්‍යවසායකයෝ**

ව්‍යවසායකත්වය වඩාත් කැපී පෙනෙනුයේ ව්‍යාපාරික ක්ෂේත්‍රයේ ය. ව්‍යාපාර අවස්ථා හඳුනා ගෙන මිනිස් අවශ්‍යතා හා වුවමනා තෘප්තිමත් කිරීම සඳහා නව්‍යතා සම්පාදනය හා අවදානම් අවස්ථා කළමනාකරණය කරන්නා ව්‍යාපාරික ව්‍යවසායකයෙකි. නව ව්‍යාපාරයක් ආරම්භ කොට සාර්ථකව පවත්වාගෙන යාමට ඔහුට හැකියාව ඇත. විවිධ ව්‍යාපාරික ව්‍යවසායකයන් නිෂ්පාදනය කළ විස්මිත නිර්මාණ කිහිපයක් පහත දැක්වේ.



ෆැක්ස් යන්ත්‍රය



දුරකථනය



පරිගණකය

ශ්‍රී ලංකාවේ කාන්තා ව්‍යවසායකයන් දිරිය කතුන් ලෙස පසුගිය දශක කිහිපය තුළ සිට ම ව්‍යාපාරික ක්ෂේත්‍රයට නැඹුරු වීමේ වැඩි ප්‍රවණතාවක් දක්නට ලැබේ. කාන්තාවන් තුළ අධ්‍යාපන මට්ටම් දියුණු වීම, ශ්‍රම බලකාය තුළ කාන්තා නියෝජනය ඉහළ යාම, කාන්තාවන් ව්‍යාපාර කටයුතුවලට දායක විය යුතු කොටසක් ලෙස සැලකීම, පවුලේ ආදායම් තත්ත්ව වැඩි කර ගැනීමේ අවශ්‍යතාව මතු වීම යන හේතුන් කාන්තා ව්‍යවසාය වර්ධනය වීමට හේතු විය.



ව්‍යාපාර ක්ෂේත්‍රයේ නියැලෙන දිරිය ව්‍යවසායික කාන්තාවක්

**ක්‍රියාකාරකම් 4.2**



ඔබ වඩාත් සිත්ගත් ව්‍යවසායකයින් දෙදෙනෙකුගෙන් ප්‍රදර්ශනය වූ ගති ලක්ෂණ පිළිබඳ තොරතුරු රැස් කර ඒවා අපේ ජීවිතයට සම්බන්ධ කර ගැනීමෙන් ලැබිය හැකි ප්‍රයෝජන පිළිබඳ වාර්තාවක් සකස් කරන්න.

**සාර්ථක ව්‍යවසායකයෙකු සතු ලක්ෂණ**

විවිධ අංශවල, විවිධ පුද්ගලයින් සාර්ථක අන්දමින් ව්‍යවසායකත්වයේ යෙදෙන ආකාරය මේ වන විට ඔබ අධ්‍යයනය කර ඇත. මේ සෑම චරිතයක ම දැකිය හැකි පොදු ව්‍යවසායකත්වය ගති ලක්ෂණ කිහිපයක් ඇත.

- **නායකත්වය**

අන් අයගේ සේවය ලබා ගනිමින් කාර්යක්ෂමව කටයුතු කිරීමේ හැකියාව නායකත්වය යි. කටයුතු සැලසුම් කිරීම, සංවිධානය කිරීම, මෙහෙයවීම, අධීක්ෂණය කිරීම, පසු විපරම් කර බැලීම හා අන් අයගේ අදහස් ලබා ගනිමින් අභිමතාර්ථ ඉටු කර ගැනීමට ක්‍රියා කිරීම නායකත්ව භූමිකාව යි. කණ්ඩායමක් සමග වැඩ කිරීමේ දී නායකත්ව ලක්ෂණ ඉතා වැදගත් වේ. කණ්ඩායමේ සියලු ම සාමාජිකයින්ට සුහදශීලී ලෙස ඇහුන්කන් දීම, ඉවසීම, කැපවීමෙන් හා වගකීමෙන් කටයුතු කිරීම ආදි ගුණාංග ප්‍රදර්ශනය කරමින් ක්‍රියාවෙන් තම සාමාජිකයින්ගේ හෝ සේවාලාභින් තුළ පිළිගැනීමට ලක් වන්නා හොඳ නායකයෙකි. හොඳ නායකයෙක් වීමට බලය සහ පිළිගැනීම යන අංග දෙක ම අවශ්‍ය වේ.

**ක්‍රියාකාරකම් 4.3**



පන්ති කාමරයේ දී හෝ විෂය සමගාමී ක්‍රියාකාරකමක දී ඔබ නායකත්වය දැරූ අවස්ථාවක් පිළිබඳ සිතන්න. එහි දී ඔබ හැසුරුණු ආකාරය පිළිබඳ සිතා පහත සඳහන් නායකත්ව ගති ලක්ෂණ කොපමණ දුරට ඔබ තුළ තිබුණේ දැයි මැන බලන්න.

- පැවරූ කාර්යයේ දී ඔබ සැලැස්මකට අනුව ක්‍රියා කළා ද?
- සියලු කටයුතු මැනවින් සංවිධානය කළා ද?
- කණ්ඩායම් සාමාජිකයන් සියලු දෙනාට ම ඔවුන්ගේ ප්‍රබලතා හා දුබලතා අනුව කාර්යයන් පැවරුවේ ද?
- සෑම දෙනාගේ ම අදහස්වලට ඉවසීමෙන් යුතුව ඇහුම්කන් දුන්නා ද? ප්‍රතිවිරුද්ධ අදහස් දැක් වූ අය ගැන ඔබ කෝප වූවා ද නැත්තම් එම අදහස් පෝෂණය කරමින් ක්‍රියාවට සම්බන්ධ කර ගත්තා ද?
- කාර්ය අවසාන වනතුරු වගකීමෙන් හා කැපවීමෙන් ක්‍රියා කළා ද?
- සුදුසු අවස්ථාවල දී කල් පසු නොවී තීරණ ගෙන විසඳුම් ලබා ගත්තා ද?
- කණ්ඩායමේ සහයෝගය ලබා ගැනීමට ඔබ සමත් වූවා ද?
- ඔබේ සැලසුම්, සංවිධාන කටයුතු හා කණ්ඩායම මෙහෙයවා අරමුණු ඉටු කරගත් ආකාරය ගැන ඔබේ ගුරුතුමාගේ ප්‍රශංසාවට ඔබ භාජනය වූවා ද?

## නවෝත්පාදනය

අලුත් අදහසක් සාර්ථකව ක්‍රියාත්මක කිරීමට හැකි තත්ත්වයට පත් කිරීම නවෝත්පාදනය යි. කෙනෙකුගේ නිර්මාණශීලී හැකියාව ක්‍රියාවට නංවන්නේ නවෝත්පාදනයෙනි. ව්‍යාපාරික ක්ෂේත්‍රයේ අපට බහුලව නවෝත්පාදන දැකිය හැකි වේ. දැනුම පුපුරා යන නූතන ලෝකයේ අලුත් සොයා ගැනීම් රාශියකි. ව්‍යවසායකයන් තම නිර්මාණශීලී හැකියාවන් ක්‍රියාවට නංවමින් විස්කම් දක්වන ආකාරය අන්තර්ජාලය, නවීන වෙළෙඳපොළ හා නොයෙකුත් සන්නිවේදන මාධ්‍ය හරහා ඔබට දැකගත හැකියි.

නවෝත්පාදන සිදු කළ හැකි ආකාර 2කි.

1. කිසියම් සමාජ අවශ්‍යතාවක් ඉටු කිරීම සඳහා අලුත් නිමැවුමක් හඳුන්වා දීම
2. පවතින භාණ්ඩයකට නවාංගයක් එකතු කිරීම

ප්‍රථම වතාවට ජංගම දූරකථනයක් වෙළෙඳපොළට හඳුන්වා දීමෙන් එම ව්‍යවසායකයා ඔහුගේ අලුත් අදහසක් ක්‍රියාවට නංවා නවෝත්පාදනයක් සිදු කර ඇත. වරින් වර නවාංග ජංගම දූරකථනයට එකතු කරමින් ඉන් සිදුවන සේවා පුළුල් කිරීම නවාංග එකතු කරමින් සිදු කරන නවෝත්පාදනය යි. උදාහරණ ලෙස ඡායාරූප ගැනීම, වීඩියෝ කිරීම, අන්තර්ජාල පහසුකම් හා ක්‍රීඩා එම නවාංගවලින් කිහිපයක් පමණි.

## කැපවීම

අරමුණු ඉටුකර ගැනීමට යොදන උපරිම හා අඛණ්ඩ උත්සාහය කැපවීම යි. බාධක කම්කටොලු, තර්ජන, උවදුරු, පාඩු ආදිය ගැන කම්පා නොවී නොපසුබට උත්සාහයෙන් ක්‍රියා කිරීම ද කැපවීම වේ. ව්‍යාපාරිකයන් සාර්ථකත්වය තමා වෙත සමීප කර ගැනීමට දිවා, රෑ, අව්, වැසි නොබලා ව්‍යාපාරික කටයුතු වෙනුවෙන් ම ඇප කැප වේ. එවැන්නෝ ජය ගනිති.

## වගකීම

තම පාලනය තුළ සිදු කරන කාර්යයන් පිළිබඳ හේතුකාරත්වය භාර ගැනීමට ඇති ස්වයං පෙළඹවීම වගකීම යි. තමාට පැවරී ඇති කාර්යය අවබෝධ කර ගනිමින් තම පාලනය යටතේ ඇති සියලු පාර්ශවයන්ට අවංකව, සාධාරණව කටයුතු කිරීමට ඇති බැඳීම ද වගකීම ලෙස හැඳින්විය හැක.

## තීරණ ගැනීම

කල් පසු නොවී අවශ්‍ය තැන්වල දී සුදුසු තීරණ ගැනීමේ හැකියාව මින් අදහස් කෙරේ. තීරණ ගැනීමේ ක්‍රියාවලියක් ඇත. අවසාන තීරණය ගැනීමට පෙර විකල්ප විසඳුම් මාර්ග සොයා බැලිය යුතු ය. දෙවනුව ඒ එක් එක් විකල්ප විසඳුම් මාර්ගවල වාසි අවාසි පිළිබඳ තොරතුරු සොයා ඒවා සංසන්දනය කරමින් වඩාත් සුදුසු විසඳුම තෝරා ගැනීමේ නිවැරදි තීරණය ගැනීමේ ප්‍රතිලාභ අත්කර ගත හැකි ය.

පහත දැක්වෙන සිදුවීම අධ්‍යයනය කරන්න.

**ගැටලුව**

ත්‍යාග ලෙස ලැබුණු මුදලක් ඵලදායී ලෙස වියදම් කරන ආකාරය තීරණය කිරීම

**විකල්ප විසඳුම්**

- අත්‍යවශ්‍ය පොත් කිහිපයක් මිල දී ගැනීම
- පාසලට යාමට පා පැදියක් ගැනීම
- අබලන් වූ පාවහන් යුවළ වෙනුවට අලුත් පාවහන් යුවළක් ගැනීම
- ජංගම දූරකථනයක් මිල දී ගැනීම

**තීරණය**

ජංගම දූරකථනයක් මිලට ගැනීම

| වාසි | අවාසි |
|---|---|
| • යහළුවන් සමග නිතර කතා කිරීමට හැකි වීම<br>• අන්තර්ජාලය හරහා විවිධ තොරතුරු ලබා ගත හැකි වීම<br>• ඡායාරූප ලබා ගත හැකි වීම<br>• විභාග ප්‍රතිඵල බලා ගත හැකි වීම<br>• ........................................................<br>• ........................................................ | • විදුහල්පතිතුමා දැනගත හොත් ජංගම දූරකථනයත්, මුදලත් අහිමි වීම<br>• නඩත්තු කිරීම සඳහා තවත් මුදල් අවශ්‍ය වීම<br>• පාසලේ නීතිවලට පටහැනි වීම<br>• ........................................................<br>• ........................................................ |

මේ අන්දමින් හැකි තරම් වාසි අවාසි සොයා වැඩි වාසි ලැබිය හැකි යහපත් විසඳුම අවසාන තීරණය ලෙස තෝරා ගන්න.

### • අවදානම් දැරීම

ක්‍රියාත්මක කරන කටයුතු අසාර්ථක වීමේ ඉඩකඩ ඇති බව වටහා ගෙන අභියෝග භාර ගැනීමට ඇති කැමැත්ත හා හැකියාව අවදානම් දැරීම යි. ව්‍යවසායකයා වෙනස් කිරීම්වල යෙදෙන විට සිදුවිය හැකි වාසි අවාසි මැන බලමින් අවාසි අවම වන සේ තීරණ ගෙන අවදානම් දරයි. ඒ අනුව දක්ෂ ව්‍යවසායකයා අවදානමට නොබියව මුහුණ දේ. ඒ අවදානම් මැන බැලීමට ඔහු දක්ෂයකු වන බැවිනි.

### • ගැටලු විසඳීමේ හැකියාව

තමාට ඉදිරිපත් වන අවශ්‍යතා හා අභියෝග භාර ගෙන විසඳුම් ලබා දීමේ හැකියාව ගැටලු විසඳීමේ හැකියාව යි. සෑම ගැටලුවකට ම විසඳුමක් පවතින බැවින් වඩාත් වාසිදායක විසඳුම තෝරා ගැනීම වැදගත් වේ.

ගැටලු විසඳීමේ දී ක්‍රියාවලියක් ඇත.

ගැටලුව
↓
ගැටලුව හොඳින් අවබෝධ කර ගැනීමට අවශ්‍ය තොතුරු සෙවීම
↓
විකල්ප විසඳුම් මාර්ග සෙවීම
↓
එක් එක් විකල්ප විසඳුම් මාර්ගයේ වාසි අවාසි සොයා විශ්ලේෂණය කිරීම
↓
වඩාත් වාසිදායක විසඳුම තෝරා ගැනීම

## ව්‍යවසායකයකු වීමේ අරමුණු සහ ස්වතක්සේරුව

### ව්‍යවසායකයකු වීමේ අරමුණු

ව්‍යවසායකයකු වීමේ අරමුණු පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වේ. ඒවායින් කිහිපයක් පහත දැක්වේ.

- නව නිර්මාණ එළි දැක්වීම
- ව්‍යාපාර ක්ෂේත්‍රයන්ට නවාංග එකතු කරමින් ලාභ උපරිම කර ගැනීම
- පවුලේ ආදායම් තත්ත්ව ඉහළ නැංවීම
- ශුභ සාධන හා සමාජ සේවා කටයුතු ඉටු කිරීම
- රටේ ආර්ථික සංවර්ධනය ඇති කිරීම
- රැකියා උත්පාදනය කිරීම
- ජනතාවගේ ජීවන තත්ත්වය උසස් කිරීම

### ස්වතක්සේරුව

වෙනත් කෙනෙකුට සාපේක්ෂව තමා ඇගැයීමට භාජනය කිරීම ස්වතක්සේරුව යි. කිසියම් නිර්ණායක කිහිපයක් පදනම් කර ගනිමින් මෙය සිදු කරනු ලබයි. උදාහරණයක් ලෙස තව කෙනෙකු නායකත්ව භූමිකාව ඉටු කරන ආකාරය දෙස බලා තමාට එම අවස්ථාව ලැබුණහොත් තෝරා ගත් අයට සාපේක්ෂව තමා තුළ කොතරම් දුරට නායකත්ව ගති ලක්ෂණ පවතී දැයි මැන බැලිය හැකි ය. එවැනි මැන බැලිය හැකි නායකත්ව ගති ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- සැලසුම් සහගතව වැඩ කිරීමේ හා මනා සංවිධාන හැකියාව
- කණ්ඩායම සමග වැඩ කිරීමේ දී ඔවුන්ගේ පිළිගැනීමට ලක්වන පරිදි සුහද ව වැඩ කිරීමේ හැකියාව
- ඉවසීම හා අන්‍ය අදහස්වලට ඇහුන්කන් දීමේ ගුණය
- කැපවීමෙන් හා වගකීමෙන් කටයුතු කිරීම

**ක්‍රියාකාරකම් 4.4**



ඔබ ප්‍රදේශයේ ව්‍යවසායකයින් දෙදෙනෙකු තෝරා ගෙන ඔවුන්ගේ ව්‍යාපාර කටයුතු සාර්ථකත්වයට හෝ අසාර්ථකත්වයට බල පෑ හේතු පහත දැක්වෙන වගුවෙහි ලැයිස්තු ගත කරන්න.

| අනු අංකය | සාර්ථකත්වයට බල පෑ හේතු | අසාර්ථකත්වයට බල පෑ හේතු |
|---|---|---|
| 01 | | |

## ව්‍යාපෘතියක් ඇසුරින් සාර්ථක ව්‍යවසායකයෙකුගේ ගති ලක්ෂණ හඳුනාගෙන ස්වතක්සේරුවක යෙදෙමු

කුඩා ව්‍යාපාරවල සාර්ථකත්වයට බලපාන සාධක හා ව්‍යවසායකයෙකු සතුව පැවතිය යුතු ගති ලක්ෂණ පිළිබඳව අපි මෙතෙක් උගත් කරුණු ප්‍රායෝගික අත්දැකීම් බවට පත් කර ගැනීම සඳහා ව්‍යාපෘති අධ්‍යයනයක් සිදු කරමු.

**ව්‍යාපෘති ගැටලුව**

ඔබට වඩාත් සමීප, හොඳින් නිරීක්ෂණ කටයුතු සිදු කළ හැකි, ඔබ ප්‍රදේශයේ සාර්ථකව පවත්වා ගෙන යන ව්‍යාපාරයක් තෝරා ගන්න. මෙම ව්‍යාපාරය හා ව්‍යවසායකයා ඔබගේ සිත් ගැනීමට හේතු වූ සාධක හා ඔහු තුළ පවතින විශේෂ ගති ලක්ෂණ පිළිබඳ ගවේෂණයක යෙදෙමින් පහත සඳහන් ක්‍රියාකාරකම්වල යෙදෙන්න.

- ව්‍යාපාරය ස්ථානගත කිරීමේ යෝග්‍යතාව, ඔහු සතු ශක්තීන් හා අවශතා, ඔහුගේ ව්‍යවසායික පෞරුෂය වැනි විවිධ හේතු ව්‍යාපාරය සාර්ථකත්වයට බලපා ඇති ආකාරය පිළිබඳ තොරතුරු රැස්කර ඒවා පෙළ ගස්වන්න.
- අසාර්ථක අවස්ථා ද ඔබට ප්‍රදර්ශනය වුවහොත් ඒවා පිළිබඳව ද තොරතුරු රැස් කර හේතු විශ්ලේෂණය කරන්න.
- මෙම ව්‍යාපාරිකයා තුළින් ඔබට ප්‍රදර්ශනය වු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ පිළිබඳ තොරතුරු රැස් කර පෙළ ගස්වන්න.
- ඔබ සතු ව්‍යාපාරයක් ලෙස මෙය පවත්වා ගෙන යන්නේ නම් ඔබ සතු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ මොනවා ද? එය හඳුනා ගැනීම සඳහා ව්‍යාපාරිකයාගෙන් ප්‍රදර්ශනය වූ ගති ලක්ෂණ සමග සසඳා ස්වතක්සේරුවක යෙදෙන්න.

**පූර්ව සදානම**

ව්‍යාපෘතියට අදළ දෛනික තොරතුරු වාර්තා කිරීම සඳහා ක්ෂේත්‍ර පොතක් ද ව්‍යාපෘති ආරම්භක කාර්යයේ සිට අවසානය දක්වා සියලු ක්‍රියාකාරකම් පිළිබඳ ව තොරතුරු රැස් කිරීම සඳහා ස්වනිර්මාණ සංග්‍රහයක් ගොඩ නගා ගැනීමට ලිපි ගොනුවක් සුදනම් කර ගන්න. මේවා භාවිත කිරීමේ දී සතියකට වතාවක් වත් ඔබේ ගුරුතුමාට හෝ ගුරුතුමියට පෙන්වා අවශ්‍ය උපදෙස් ලබා ගන්න.

### සැලසුම් කිරීම

ව්‍යාපෘතියක් ක්‍රියාත්මක කිරීම සඳහා පළමුවෙන්ම කළ යුත්තේ අවශ්‍යතාව අනුව කාර්යයන් හඳුනා ගැනීමයි. කණ්ඩායම් සාකච්ඡාවකින් පසු පහත සඳහන් කරුණු සැලසුම් කරන්න.

- ගැටලු අධ්‍යයනය සඳහා පහසුවෙන් සහාය ලබා හැකි ඔබ වඩාත් කැමති සාර්ථක ව්‍යාපාරයක් පවත්වා ගෙන යන ව්‍යවසායකයකු තෝරා ගන්න.
- අරමුණු ඉටු කර ගැනීමට යොදා ගත හැකි ක්‍රියාකාරකම් හා ඒවායේ පියවර අනුපිළිවෙළට සකස් කරන්න.
- ව්‍යාපාර සාර්ථකත්වයට බලපාන සාධක හා ඒවා ව්‍යාපාරයට අදාළ කර ගැනීම තක්සේරු
  කිරීම සඳහා සුදුසු උපකරණ සකස් කරන්න (ආදර්ශය බලන්න).
- ව්‍යවසායකයා තුළ ප්‍රදර්ශනය වන ව්‍යවසායකත්ව ගති ලක්ෂණ හඳුනා ගෙන ඒවා තක්සේරු කිරීම සඳහා සුදුසු උපකරණ සකස් කරන්න (ආදර්ශය බලන්න).
- ස්වතක්සේරුව තුළින් ව්‍යවසායකයාට සාපේක්ෂව තමා තුළ වර්ධනය වූ හා වර්ධනය විය යුතු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ මැන බැලීමට සුදුසු උපකරණයක් සකස් කරන්න. (ආදර්ශය බලන්න)
- ක්‍රියාත්මක කිරීමට අපේක්ෂිත කාර්යයන් ක්‍රියාවේ යෙදවීම සඳහා පහත සඳහන් ආකෘතිය ආදර්ශයට ගනිමින් ක්‍රියාකාරි සැලැස්මක් පිළියෙළ කරන්න. සීමිත කාලය ඵලදායී ලෙස ක්‍රියාවේ යොදවා අරමුණු ළඟා කර ගැනීම මෙහි අරමුණ යි.

ක්‍රියාකාරි සැලැස්ම

| කාර්ය අංකය | කාර්යය | කාල රාමුව | | | |
|---|---|---|---|---|---|
| | | සතිය (1) | සතිය (2) | සතිය (3) | සතිය (4) |
| | | 1 2 3 4 5 6 7 | 1 2 3 4 5 6 7 | 1 2 3 4 5 6 7 | 1 2 3 4 5 6 7 |
| 01 | මූලික කණ්ඩායම් සාකච්ඡාව | | | | |
| 02 | ක්‍රියාකාරකම් පියවර සැලසුම් කිරීම | | | | |
| 03 | ව්‍යාපාර නිරීක්ෂණ කටයුතු | | | | |
| 04 | ව්‍යාපාර සාර්ථකත්වයට බලපාන සාධක සෙවීම | | | | |
| ..... | ........................................................ | | | | |
| ..... | ........................................................ | | | | |
| ..... | ........................................................ | | | | |
| ..... | ස්වතක්සේරුව හා සංවර්ධනය කළ යුතු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ හඳුනා ගැනීම | | | | |
| ..... | ........................................................ | | | | |
| | ව්‍යාපෘතිය නිම කිරීම | | | | |

**තීරණ ගැනීම**

තොරතුරු හා මුලාශ්‍ර යොදා ගනිමින් පහත සඳහන් තීරණ ගන්න.

- ව්‍යාපාරික ක්ෂේත්‍රය, පරිමාණය, නිරීක්ෂණ කටයුතු කිරීමේ පහසුව, ව්‍යාපාරිකයාගේ සහාය ලබා ගැනීමට ඇති හැකියාව යන කරුණු සලකා බලමින් ගැටලු අධ්‍යයනය සඳහා සුදුසු ව්‍යාපාරික ස්ථාන හා ව්‍යවසායකයන්
- දත්ත රැස් කිරීම සඳහා යොදා ගත යුතු උපකරණ හා ඒවා යොද ගන්නා ආකාරය
- තක්සේරුව සඳහා යොදා ගන්නා ව්‍යාපාර සාර්ථකත්වයට බලපාන සාධක
- ව්‍යවසායකයාගෙන් ප්‍රදර්ශන වන ව්‍යවසායකත්ව ගති ලක්ෂණ තක්සේරුවට භාජනය කරන ආකාරය
- තමා තුළ පවතින ව්‍යවසායික ගති ලක්ෂණ ස්වතක්සේරුවක් මගින් මැනීම සිදුකරන ආකාරය

**ක්‍රියාත්මක කිරීම**

- සැලසුම් කළ ක්‍රියාකාරකම් අරමුණු ඉටු වන සේ අනුපිළිවෙළින් ක්‍රියාත්මක කරන්න.
- පළමුව ව්‍යාපාරිකයා දැනුවත් කොට ඔහුගේ සහාය ලබා ගනිමින් ගවේෂණය අරඹන්න. ව්‍යාපාර අවස්ථා තෝරා ගැනීම, ව්‍යාපාරය පිහිටුවීම සඳහා තෝරාගත් ස්ථානය, සංවිධානය පවත්වා ගෙන යාම හා අලෙවිකරණ කටයුතුවල දී පහත සඳහන් සාධක යොදගෙන ඇති ආකාරය පිළිබඳ තොරතුරු රැස් කරන්න. ඒවා තක්සේරු කිරීම සඳහා නිරීක්ෂණ පත්‍රිකා යොද ගන්න.
- මුදල්, ශ්‍රමය, ද්‍රව්‍ය හා වෙනත් සම්පත් ඵලදායි ලෙස ව්‍යාපාරයට යොදා ඇති ආකාරය පිළිබඳ සොයා බලා කරුණු වාර්තා කර ගන්න.
- නිෂ්පාදනයේ දී නව ප්‍රවණතා හඳුනා ගැනීමේ හැකියාව, භාණ්ඩවල ගුණාත්වය වැඩි දියුණු කිරීම, පිරිවැය අවම කර ගනිමින් අඩු මිලට භාණ්ඩ සැපයීම සිදු කරන ආකාරය සොයා බලන්න.
- නව තාක්ෂණය යොදා ගැනීමේ හැකියාවන් හඳුනා ගන්න.
- සාර්ථකව ව්‍යාපාර තරගකාරීත්වයට මුහුණ දීමෙන් හොඳ වෙළෙඳපොළක් සකස් කර ගෙන ඇති ආකාරය හා ඔහුගේ වෙළෙඳ උපාය ක්‍රම සොයා බලන්න.
- ව්‍යවසායකයා සතු විශේෂ දක්ෂතා, දක්ෂ පුහුණු ශ්‍රමිකයින් සුලභව පවතින සම්පත්, ව්‍යාපාරයේ වාසිදයක පිහිටීම ව්‍යාපාරයේ සාර්ථකත්වයට බලපා ඇති ආකාරය විමසා බලන්න.

උදාහරණ:- තරගකරුවන් නැති වීම හෝ අඩු වීම, රජයේ හිතකර ප්‍රතිපත්ති ආදිය පිළිබඳ සොයා බලන්න.

- ව්‍යවසායකයාගේ නායකත්ව භූමිකාව නවෝත්පාදන හැකියා, අවස්ථාවෝචිත තීරණ ගැනීම, කැපවීමෙන් කටයුතු කිරීම, අවදනම් දැරීමට කැමති බව ව්‍යාපාරික ගැටලුමය අවස්ථාවලට මුහුණ දීම, වගකීම් දැරීමේ හැකියාව යනාදී ව්‍යවසායකත්ව ගති ලක්ෂණ ව්‍යාපාරයේ දියුණුවට යොදවා ගෙන ඇති ආකාර පිළිබඳ සොයා බලන්න.
- තමා තුළ මෙම ගති ලක්ෂණ කොපමණ වර්ධනය වී ඇත් දැයි ස්වතක්සේරුවක යෙදෙන්න.
- නිරීක්ෂණයේ දී ඔබ දුටු කරුණු අනුව ව්‍යාපාර සාර්ථකත්වයට බලපා ඇති සාධක හා ව්‍යවසායික ගති ලක්ෂණවලට ලකුණු ප්‍රදානය කිරීමේ දී පහත දැක්වෙන සේ ප්‍රමාණනය කරන්න. ව්‍යවසායකත්ව ගති ලක්ෂණ,

| | |
|---|---|
| ඉතා හොඳින් ප්‍රදර්ශනය වේ නම් | ලකුණු 03යි. |
| හොඳින් ප්‍රදර්ශනය වේ නම් | ලකුණු 02යි. |
| වර්ධනය විය යුතු නම් | ලකුණු 01යි. |

පහත දක්වෙන නිරීක්ෂණ පත්‍රිකා ආකෘතිය ඒ සඳහා ආදර්ශයට ගන්න. මෙම ලක්ෂණවලට අමතරව ඔබ කිසියම් ලක්ෂණයක් ව්‍යාවසායකයා තුළින් දුටුවේ නම් එය ද ආකෘතියට ඇතුළු කරන්න.

### නිරීක්ෂණ පත්‍රිකාව

ව්‍යාපාරයේ නම :

පිහිටි ස්ථානය :

ව්‍යාපාරයේ ස්වභාවය :

නිරීක්ෂණයට භාජනය කළ භාණ්ඩය/ සේවාව හා වෙළෙඳපොළ :

සාධක අදළ කර ගැනීම ඔබට ප්‍රදර්ශනය වූ ආකාරය අනුව ලකුණු දිය යුතු තීරුවේ ✓ යොදා තක්සේරු කරන්න.

| අනු අංකය | ව්‍යාපාර සාර්ථකත්වයට බලපාන සාධක | ලකුණු | | |
|---|---|---|---|---|
| | | 3 | 2 | 1 |
| 01 | වෙළෙඳපොළ ඉල්ලුම | | | |
| 02 | මුදල් ආයෝජනය | | | |
| 03 | තාක්ෂණය | | | |
| 04 | ව්‍යාපාරය සංවිධානය | | | |
| 05 | භාණ්ඩයේ/ සේවාවේ ගුණාත්මකභාවය | | | |
| 06 | භාණ්ඩයේ/ සේවාවේ ඉදිරිපත් කිරීම | | | |
| 07 | අලෙවිකරණ උපක්‍රම | | | |
| 08 | ශක්තීන් (සඳහන් කරන්න) | | | |
| 09 | ..................................................................... | | | |
| 10 | ..................................................................... | | | |

- ව්‍යවසායකත්ව ගති ලක්ෂණ ව්‍යාපාරයේ දියුණුවට යොදවා ගෙන ඇති ආකාරය තක්සේරු කිරීම සඳහා පහත දැක්වෙන ආදර්ශ නිරීක්ෂණ පත්‍රිකා ආකෘතිය යොදා ගන්න. ඒ සඳහා ද ඉහත ලකුණු ප්‍රදනය කළ ලකුණු පරිමාණයම අනුගමනය කරන්න.

ආදර්ශ නිරීක්ෂණ පත්‍රිකාව

| අනු අංකය | ව්‍යවසායකත්ව ගති ලක්ෂණ | ව්‍යවසායකයා | තමා |
|---|---|---|---|
| 01 | නායකත්වය | 03 | 03 |
| 02 | නවෝත්පාදනය | 03 | 02 |
| 03 | කැපවීම | 03 | 02 |
| 04 | වගකීම | 02 | 02 |
| 05 | තීරණ ගැනීම | 02 | 03 |
| 06 | අවදානම් දැරීම | 03 | 02 |
| 07 | ගැටලු විසඳීමේ හැකියාව | 03 | 03 |

- මෙම ලකුණු පදනම් කර ගනිමින් දෙදෙනාගේ ව්‍යවසායකත්ව ගති ලක්ෂණ සංසන්දනය කිරීම සඳහා ධ්‍රැවක ප්‍රස්තාරයක් නිර්මාණය කරන්න.

ආදර්ශ නිරීක්ෂණ පත්‍රිකාවක් යොද ගනිමින් ව්‍යවසායකයා තුළින් ප්‍රදර්ශනය වූ හා තමා තුළ පවතින බවට තහවුරු කර ගත් ව්‍යවසායකත්ව ගති ලක්ෂණවලට ප්‍රදනය කළ ලකුණු පදනම් කර ගනිමින් ධ්‍රැවක ප්‍රස්තාරයක් නිර්මාණය කර දෙදෙනාගේ ව්‍යවසායකත්ව ගති ලක්ෂණ සංසන්දනය කරන ආකාරය පහත පැහැදිලි කර ඇත. පුද්ගලයින් දෙදෙනෙකු පිළිබඳ සංසන්දනාත්මක ඇගයීමක් සඳහා සංඛ්‍යා වගු උපයෝගී කර ගැනීමට වඩා ධ්‍රැවක ප්‍රස්තාරයෙන් දිස්වෙන රූපය තුළින් වඩාත් පැහැදිලි අදහසක් හෝ තීරණයක් ගත හැකි වේ.

ධ්‍රැවක ප්‍රස්තාරය නිර්මාණය කිරීම සඳහා කඩදසි මත මධ්‍ය ලක්ෂ්‍යයක් සලකුණු කොට නිරීක්ෂණය කළ ව්‍යවසායකත්ව ගති ලක්ෂණ සංඛ්‍යාවට සමාන රේඛා සංඛ්‍යාවක් මධ්‍ය ලක්ෂ්‍ය වටා ඇඳ ගන්න. රේඛාව කොටස් 3කට බෙදා නිරීක්ෂණයේ දක්වෙන ආකාරයට 1,2,3 වශයෙන් ලකුණු සටහන් කරන්න. ලබා ගත් ලකුණු ඒ ඒ ව්‍යවසායකත්ව ගති ලක්ෂණය වෙනුවෙන් වෙන් වූ රේඛාවේ වර්ණවත් පෑන් දෙකකින් ලක්ෂ්‍ය යොදමින් සලකුණු කර පසුව එම ලක්ෂ්‍ය බහු අස්‍රයක් නිර්මාණය වන ලෙස යා කරන්න.




ධ්‍රැවක ප්‍රස්තාරය

මෙම ධ්‍රැවක ප්‍රස්තාරය යොදා ගැනීමෙන් දෙදෙනා තුළ ඇති ව්‍යවසායකත්ව ගති ලක්ෂණ පැහැදිලිව හඳුනා ගත හැකි අතර දියුණු වූ සහ වර්ධනය විය යුතු ගති ද පැහැදිලිව ප්‍රදර්ශනය වේ. ඒ අනුව අඩුපාඩු සකස් කර ගනිමින් වර්ධනය විය යුතු ගති ලක්ෂණ වැඩ දියුණු කර ගැනීමට කටයුතු කළ හැකි ය.

- මේ අන්දමින් ස්වතක්සේරුවේ දී ඔබ ලබා ගත් ලකුණු ව්‍යවසායකයාගේ ලකුණුවලට සාපේක්ෂව මැන බැලීම සඳහා ධ්‍රැවක ප්‍රස්තාරයක් නිර්මාණය කරන්න.

**පසු විපරම**

මේ සඳහා පහත සඳහන් දෑ විමර්ශනය කර බලන්න.

- රැස් කර ගත් තොරතුරු විශ්ලේෂණය කරමින් ව්‍යවසායකයා කොපමණ දුරට ව්‍යාපාරය සාර්ථක කර ගැනීමට අවශ්‍ය සාධක අදාළ කර ගෙන ඇති අයුරු සෙවීම
- ව්‍යාපාරයේ අයිතිකරු, නායකයා හා මෙහෙයවන්නා වශයෙන් අලුත් යමක් අලුත් ක්‍රමෝපායන්ට ඉදිරිපත් කිරීමට ඔහුගේ ව්‍යාපාරික භූමිකාවන් කොපමණ දුරට සමත් වූයේ දැයි විමර්ශනය කිරීම
- ව්‍යාපාරයේ දෛනික කටයුතුවල දී ව්‍යවසායකයාගේ කැපී පෙනුන ව්‍යවසායකත්ව ගති ලක්ෂණ හා  වර්ධනය විය යුතු ගති ලක්ෂණ ඇතුළත් ලේඛන දෙකක් සකස් කිරීම
- එක් එක් සාමාජිකයාගේ අපේක්ෂාවන් අනුව ව්‍යවසායකයකු වීමේ අරමුණු සොයා ලේඛන ගත කිරීම
- එම තක්සේරුවෙන් තමා වර්ධනය කර ගත යුතු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ හඳුනා ගෙන සාර්ථකව කුඩා ව්‍යාපාරයක් ආරම්භ කර පවත්වා ගෙන යාමට ඔබ තුළ ඇති ශක්තිය විමර්ශනය කර බැලීම

ඉහත සඳහන් පියවර ඔස්සේ ව්‍යාපෘති අධ්‍යයනයක නිරත වීමේ දී ඔබට ප්‍රායෝගික අත්දැකීම් රාශියක් ලැබේ. එම අත්දැකීම් අනාගතයේ සාර්ථක ව්‍යාපාරයක් ඇරඹීමටත්, එය පවත්වාගෙන යාමටත්, බලපාන සාධක නිවැරදිව හා අදාළ පරිදි තෝරා ගැනීමටත්, හැකියාව ලබා දෙන අතර දක්ෂ ව්‍යවසායකයකු වීමට ද අවස්ථා උදා කරයි.

## 4.2 කුඩා ව්‍යාපාරයක් සාර්ථකව පවත්වා පසු විපරම් කරමු

**මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,**

- සරල ව්‍යාපාර සැලසුම් සකස් කර කුඩා ව්‍යාපාරයක් ඇරඹීමටත්,
- ව්‍යාපාර ආචාර ධර්ම හා නීති රීතිවලට අනුකූල ව සාර්ථකව ව්‍යාපාරයක් පවත්වාගෙන යාමටත්,
- ව්‍යාපාර කටයුතුවල යෙදී ප්‍රගතිය මැන බලා වැඩි දියුණුව සඳහා යෝජනා ඉදිරිපත් කිරීමටත්,

හැකියාව ලැබෙනු ඇත.



වෙළෙඳපොළ කුඩා හිඩැස් හඳුනා ගනිමින් වෙළෙඳපොළට පිවිසෙන ව්‍යවසායකයෙකු සඳහා වඩාත් යෝග්‍ය වන්නේ කුඩා ව්‍යාපාරයක් ඇරඹීම යි. කුඩා පරිමාණ ව්‍යාපාරයකින් ලබන අත්දැකීම් අනාගතයේ දී මහා පරිමාණ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අත්වැලක් වේ. වර්තමානයේ දී ලෝක වෙළෙඳපොළේ මහත් කීර්ති නාමයක් දිනා ගෙන ඇති මහා පරිමාණ ව්‍යාපාර මෙන් ම ශ්‍රී ලංකාවේ බොහෝ මහා පරිමාණ ව්‍යාපාර ප්‍රථමයෙන් වෙළෙඳපොළට පිවිස ඇත්තේ කුඩා ව්‍යාපාර ලෙස ය. පහත දැක්වෙන්නේ සාර්ථකව අරඹා ලාභදායී ලෙස සාර්ථක පවත්වා ගෙන යන කුඩා ව්‍යාපාරයකි.



කුඩා ව්‍යාපාර බොහෝ විට තනි පුද්ගල ව්‍යාපාරයක් ලෙස ස්වාධීන හිමිකාරත්වය යටතේ සංවිධානය වේ. ව්‍යවසායකයකුට සමාජයීය අවශ්‍යතා හඳුනා ගනිමින්, අවදානම් හා අවිනිශ්චිතතාවලට සාර්ථකව මුහුණ දෙමින්, සම්පත් කාර්යක්ෂමව හා ඵලදායී ලෙස යොදවමින්, නිර්මාණශීලි නව නිපැයුමක් හෝ සේවාවක් වෙළෙඳපොළට ඉදිරිපත් කළ හැකිය. එමගින් ව්‍යාපාරය සාර්ථකත්වය කරා මෙහෙය වීමට හැකි වන්නේ එහි සියලු කටයුතු සැලසුම් කර ක්‍රියාත්මක කිරීමෙනි.

පහත දැක්වෙන්නේ කුඩා ව්‍යාපාරයක් ආරම්භ කර එය පවත්වා ගෙන යාමේ දී සැලකිලිමත් විය යුතු පියවර ඇතුළත් රූප සටහනකි.




කුඩා ව්‍යාපාරයක් අරඹා ලාභදයි ලෙස පවත්වා ගෙන යාමේ පියවර

- ව්‍යාපාර අවස්ථා හඳුනා ගැනීම

වෙළෙඳපොළ කිසියම් සමාජයීය අවශ්‍යතාවක් සඳහා පාරිභෝගික ඉල්ලුමක් ඇතත් සැපයුමක් නොමැති අවස්ථා ව්‍යාපාර අවස්ථා හෝ වෙළෙඳපොළ හිදැස ලෙස ඔබ හඳුනාගෙන ඇත.

උදාහරණ :- ඔබේ පාසල් සිසුන්ගේ දෛනික අවශ්‍යතා මිල දී ගැනීමට පාසලේ හෝ අවට ස්ථානයක් නොතිබීම

මෙහි සිසු අවශ්‍යතාවල ඉල්ලුම හා සැපයුම අතර හිදැසක් පවතියි. එය වෙළෙඳපොළ අවස්ථාවකි. මෙය හඳුනා ගන්නා ව්‍යවසායකයකුට ව්‍යාපාර අවස්ථාව ප්‍රයෝජනයට ගනිමින් ලාභ ලබන කුඩා ව්‍යාපාරයක් ආරම්භ කළ හැකි ය.

• විකල්ප විසඳුම් මාර්ග සෙවීම




**යෝග්‍ය ව්‍යාපාර අවස්ථාවක් තෝරා ගැනීම**

පාසල් සිසුන්ගේ දෛනික අවශ්‍යතා ලෙස පාසල් උපකරණ, ආහාර පාන, ක්‍රීඩා භාණ්ඩ හා පොත්පත් ආදි වශයෙන් විකල්ප අවස්ථා කිහිපයක් තිබිය හැකි ය. මේ සෑම විකල්පයක් පිළිබඳව ම එකිනෙකට සාපේක්ෂව ලැබිය හැකි වාසි අවාසි තුලනාත්මකව සැසඳීම සඳහා තොරතුරු සෙවිය යුතු ය. ව්‍යාපාර අවස්ථාව තෝරා ගැනීමෙන් උදාවිය හැකි වාසිදායක අවස්ථා, වෙළෙඳපොළ ඉල්ලුම, පහසුවෙන් ලබා ගත හැකි බව, ඒ සඳහා තමා තුළ ඇති ශක්තීන්, ව්‍යාපාරය සඳහා යෙදිය හැකි තම ප්‍රාග්ධනය, සම්පත් සුලබතාව, ශිල්පීය ඥානය, තරගකරුවන්ගෙන් එල්ලවිය හැකි බාධක හා තර්ජන වැනි සාධක සලකා බැලීමෙන් අනතුරුව තමා යොදන ආයෝජනයට වාසිදයක ප්‍රතිලාභයක් ලැබෙන විකල්පය විසඳුම් මාර්ගය ලෙස තෝරා ගත හැකි ය.

• ව්‍යාපාර සැලැස්ම

ඉහත කරුණු පිළිබඳව සැලකිලිමත් වීමෙන් අනතුරුව ව්‍යාපාර සැලැස්මක් සකස් කළ යුතු ය.

ව්‍යාපාරිකයෙකුට සාර්ථකව ව්‍යාපාරයක් අරඹා, පවත්වාගෙන යාමට ව්‍යාපාර සැලැස්මක් උපකාර වේ. ව්‍යාපාර සැලැස්මක් ව්‍යාපාරයේ පරිමාණය හා එහි ස්වභාවය අනුව වෙනස් විය හැකි ය. එම නිසා සියලු ව්‍යාපාර සඳහා පොදු ව්‍යාපාර සැලැස්මක ආකෘතියක් ඉදිරිපත් කිරීමට අපහසු ය. අත්‍යවශ්‍ය කරුණු පමණක් මුල් කරගත් කුඩා ව්‍යාපාර සැලැස්මක ආකෘතියක් පහත දැක්වේ.

## ව්‍යාපාර සැලැස්ම

**ව්‍යාපාරයේ නම සහ ලිපිනයඃ** .............................................................................

1. ව්‍යාපාර අදහස හා අරමුණු : ..................................................................................................
..................................................................................................................................................

2. ව්‍යාපාරයේ ස්වභාවය : ..........................................................................................................

3. තෝරාගත් ව්‍යාපාර සංවිධානයඃ ...........................................................................................

4. නිෂ්පාදිතය :.............................................................................................................................

5. මුදල් යොදවන ආකාරය :...........................................................................................................

6. අනෙකුත් තරගකරුවන්ගේ භාණ්ඩවලින් වෙනස්වීමට හේතුවන විශේෂ ගුණාංග හා සුවිශේෂතා :.............................................................................................................................
..............................................................................................................................

7. වෙළෙඳපොළ

I. අපේක්ෂිත පාරිභෝගික සංඛ්‍යාව :...........................................................................

II. මුළු ඉල්ලුමෙන් සැපයිය හැකි ප්‍රතිශතය :...........................................................
..

8. අපේක්ෂිත මුළු නිෂ්පාදන පිරිවැය හා ඒකක නිෂ්පාදන පිරිවැය :.................................
..................................................................................................................................................

9. අලෙවිකරණය :..........................................................................................................................

10. ලාභදායිත්වය :.........................................................................................................................

11. ව්‍යාපාර ආචාර ධර්ම හා නීතිරීති :..........................................................................................
..................................................................................................................................................

• ව්‍යාපාර අදහස හා අරමුණු

මෙහි දී පළමුව, ව්‍යාපාරයේ නම ද, දෙවනුව ගනුදෙනුකරුවන්ගේ අවශ්‍යතා හා වුවමනා ඉටු කිරීමට ඉදිරිපත් කිරීමට අපේක්ෂිත භාණ්ඩය හෝ සේවය ද සඳහන් කරමින් මෙම ව්‍යාපාරය තෝරා ගැනීමට තමා පෙළඹවූ හේතු හා අපේක්ෂිත අරමුණු සඳහන් කළ යුතු යි. එය සංක්ෂිප්ත කෙටි විස්තරයක් ලෙස ඉදිරිපත් කළ යුතු ය.

• ව්‍යාපාරයේ ස්වභාවය

නිෂ්පාදන හෝ අලෙවි හෝ සේවා වලින් කුමන වර්ගයකට අයත් භූමිකාවක් ඉටු කරන ව්‍යාපාරයක් ද යන්න මෙහි දී සඳහන් කළ යුතු යි. ඇතැම් ව්‍යාපාර නිෂ්පාදන කටයුතු පමණක් ද, ඇතැම් ව්‍යාපාර අලෙවි කටයුතු පමණක් ද තවත් ව්‍යාපාර නිෂ්පාදන, අලෙවි හා සේවා යන සියල්ලටම ද ව්‍යාපාරික කටයුතු සිදු කරනු ලබයි.

• තෝරාගත් ව්‍යාපාර සංවිධානය

ව්‍යාපාර සංවිධාන කටයුතු සිදු කරනු ලබන්නේ හිමිකාරත්වය යටතේ තනි පුද්ගලයකු විසින් ද හවුල්කරුවන් කිහිපදෙනෙකු විසින් ද කුඩා සමාගමක් වශයෙන් ද යන වග මෙහි දී සඳහන් කළ යුතු ය.

| | |
|---|---|
| ක්‍රියාකාරකම් :-<br><br>රූප සටහනේ දැක්වෙන සම්පත් ආධාර කරගෙන සපයා ඇති වගුවෙහි අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.<br> | 1. මතු කර ගත හැකි ව්‍යාපාර අවස්ථා<br>* ....................................<br>* ....................................<br>* ....................................<br>2. සාර්ථක කුඩා ව්‍යාපාරයකට සුදුසු ම ව්‍යාපාර අවස්ථාව ලෙස ඔබේ තේරීම කුමක්ද?<br>.........................................................<br>3. එහි ව්‍යාපාර අදහස හා අරමුණු<br>........................................................<br>4. ව්‍යාපාරයේ ස්වභාවය<br>........................................................<br>5. තෝරාගත් ව්‍යාපාර සංවිධානය<br>....................................................... |

• නිෂ්පාදිතය (product)

ඉදිරිපත් කරන භාණ්ඩයේ නිෂ්පාදිත සැලැස්මේ විස්තර මෙයින් දක්වේ. භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ දී භාවිත කරන යෙදවුම් කවරේ ද යන්නත් නිෂ්පාදන ක්‍රියාවලිය සිදු කරන ආකාරයත්, ඒ අතර භාවිත කරන නිෂ්පාදන ක්‍රම, යොදා ගන්නා තාක්ෂණය, අමු ද්‍රව්‍ය, ශ්‍රමය, තත්ත්ව පාලනය, ප්‍රමිති, ගුණාත්මක බව රැක ගැනීම සඳහා යොදා ගන්නා වැඩ පිළිවෙළ සැලසුම් කරන ආකාරය යනාදිය මෙයින් පෙන්නුම් කෙරේ.

මෙය සැපයුම් දමයකින් ද සැලසුම් කළ හැකි ය. ඔබ අධ්‍යයනය කර ඇති සැපයුම් දමය පිළිබඳ තොරතුරු අනුව ඉහත කරුණු සැලසුම් කරන අයුරු පිළිබඳ සිතා බලන්න.

• මුදල් යොදවන ආකාරය

හිමිකරුවා විසින් ප්‍රග්ධනය වශයෙන් ව්‍යාපාරයට යොදවන මුදල් ඵලදායී ලෙස යොදවන ආකාරය සැලසුම් කිරීම මින් සිදු වේ. මෙය මූල්‍ය සැලැස්ම ලෙස ද හැඳින්වේ. ඕනෑ ම ව්‍යාපාරයක් සඳහා මුදල් යෙදවීමේ දී අවශ්‍යතා 2ක් පිළිබඳ සැලකිලිමත් විය යුතුය.

- කාරක ප්‍රාග්ධන අවශ්‍යතා
- ස්ථාවර ප්‍රාග්ධන අවශ්‍යතා

කාරක ප්‍රාග්ධන අවශ්‍යතා යනු එදිනෙදා ව්‍යාපාර හෝ නිෂ්පාදන කටයුතු කර ගෙන යාමේ දී අවශ්‍ය වන මුදල් ය.

- විදුලි ගාස්තු, ජල ගාස්තු, වරිපනම් ගාස්තු, ගෙවල් කුලී හා වැටුප් වැනි වියදම් ගෙවීම සඳහා මුදල්
- පිටතින් ලබාගත් අමුද්‍රව්‍ය තොග හා සේවා යනාදිය සඳහා ගෙවිය යුතු මුදල්
- පිටතින් කුඩා ව්‍යාපාරිකයාට ලැබීමට තිබෙන මුදල්

ස්ථාවර ප්‍රාග්ධන අවශ්‍යතා යනු ව්‍යාපාරයේ කල් පවතින සම්පත් මිල දී ගැනීමට කරන වියදම් ය.

උදාහරණ :- ආපණ ශාලාවක් පවත්වා ගෙන යන ව්‍යාපාරිකයෙක් මිල දී ගන්නා වතුර උණුකරන බොයිලේරුව, ගෑස් ලිප, කෝප්ප, පිඟන් ආදිය ස්ථාවර ප්‍රාග්ධන අවශ්‍යතා වෙයි. ඔහුගේ කාරක ප්‍රාග්ධන අවශ්‍යතා වන්නේ සීනි, තේ කොළ, කෑම වර්ග, වැටුප් ගෙවීම් හා බිල්පත් ගෙවීම් වැනි වියදම් ය.

**ක්‍රියාකාරකම් 4.5**



කැවුම් නිෂ්පාදනය කර කුඩා රස කැවිලි ව්‍යාපාරයක් පවත්වා ගෙන යන කාන්තා ව්‍යවසායකයකුගේ කැවුම් නිෂ්පාදනය පිළිබඳ පහත සඳහන් සැලැසුම් සකස් කරන්න.

1. නිෂ්පාදන සැලැස්ම
2. මූල්‍ය සැලැස්ම

මූල්‍ය සැලැස්ම සකස් කිරීමේ දී පහත වගුව උපකාර කර ගන්න.

මූල්‍ය සැලැස්ම

| මුදල් යොදවන ආකාරය | | |
|---|---|---|
| | කාරක ප්‍රාග්ධන අවශ්‍යතා | ස්ථාවර ප්‍රාග්ධන අවශ්‍යතා |
| 1 | ........................................................ | ........................................................ |
| 2 | ........................................................ | ........................................................ |
| 3 | ........................................................ | ........................................................ |
| 4 | ........................................................ | ........................................................ |
| 5 | ........................................................ | ........................................................ |

- අනෙකුත් තරගකරුවන්ගේ භාණ්ඩවලින් වෙනස්වීමට හේතු වන විශේෂ ගුණාංග හා සුවිශේෂතා සැලසුම් කිරීම

මෙහිදී පහත දැක්වෙන සුවිශේෂතා හේතු දැක්විය හැකිය.

- අනෙකුත් ආදේශක භාණ්ඩවලට වඩා මිල අඩු වීම
- ගුණයෙන් උසස් සංයෝජන භාවිත කිරීම
- ප්‍රමිතිය උසස් වීම
- ආකර්ෂණීය වීම
- කල් පැවැත්ම
- ක්‍රියානුරූපී බව
- විකල්ප ප්‍රයෝජන ලබාගත හැකි වීම

- වෙළෙඳපොළ

මෙමගින් අදහස් වනුයේ භාණ්ඩ අලෙවි කිරීම සඳහා ඉලක්ක කරගත් පාරිභෝගික කොටස දළ වශයෙන් කොපමණ ද? එය මුළු වෙළෙඳපොළ ඉල්ලුමෙන් කිනම් ප්‍රතිශතයක් පමණ ද යන්න සැලසුම් කිරීම යි. පාසල මුළු වෙළෙඳපොළ ලෙසත් තෝරා ගෙන සැලසුම් කළ හොත් පන්තියක සිසුන් 40ක් සිටී නම් ඉන් තමන්ට සැපයිය හැකි ප්‍රතිශතය 75% ක් ද, 50%ක් ද යනා දී වශයෙන් සැලසුම් කළ හැකි වේ. සැලසුම් කිරීමෙන් ඉලක්ක පාරිභෝගික කොටස් අතිශය තෘප්තිමත් වන ආකාරයට භාණ්ඩ නිෂ්පාදනය කිරීමටත් ඉල්ලුමට සරිලන භාණ්ඩ ප්‍රමාණයක් පමණක් නිපදවීමටත්, එමගින් තොග ගොඩ ගසා ගැනීමෙන් හා යල් පැනීමෙන් සිදුවන හානි අවම කර ගැනීමටත් හැකි වේ.

- ඇස්තමේන්තුගත මුළු නිෂ්පාදන පිරිවැය හා ඒකක නිෂ්පාදන පිරිවැය

භාණ්ඩයක් නිෂ්පාදනය කිරීමේ දී අමු ද්‍රව්‍ය, ශ්‍රමය හා වෙනත් වියදම් සඳහා පිරිවැය දැරිය යුතුයි. එසේ වියදම් දැරීමට අපේක්ෂිත අමුද්‍රව්‍ය වියදම්, ශ්‍රම වියදම් හා පොදුවේ නිෂ්පාදන කටයුතු සඳහා දැරීමට අපේක්ෂිත වෙනත් වියදම් එකට එකතු කළ විට ඇස්තමේන්තු ගත මුළු නිෂ්පාදන පිරිවැය ලැබේ. එය නිෂ්පාදනය කළ ඒකක ගණනින් බෙදූ විට ඒකක නිෂ්පාදන පිරිවැය ලැබේ.

- වෙළෙඳ හෝ අලෙවිකරණ සැලැස්ම

නිෂ්පාදන අවස්ථාවේ සිට භාණ්ඩ හා සේවා පාරිභෝගිකයා අතට පත්වන තුරු විවිධ අලෙවිකරණ කාර්යයන් සිදු කළ යුතුය. ඒවා සැලසුම් කර ක්‍රියාත්මක කිරීමෙන් ව්‍යාපාරය සාර්ථක වේ. එවැනි කාර්යයන් කිහිපයක් පහත දැක්වේ.

- වෙළෙඳපොළ සමීක්ෂණ සැලසුම් සකස් කිරීම
- ඉලක්ක පාරිභෝගික පිරිස් හඳුනා ගැනීම සඳහා සුදුසු ක්‍රියාමාර්ග
- අපේක්ෂිත විකුණුම් ඒකක ප්‍රමාණය සැලසුම් කිරීම
- නිෂ්පාදන අංශයට පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා පිළිබඳව ඉදිරිපත් කළ යුතු නව අදහස් හා යෝජනා සැලසුම් කිරීම
- විකුණුම් මිල තීරණය කිරීම

- භාණ්ඩයේ ආකර්ෂණය හා ආරක්ෂාව සඳහා ඇසුරුමක් හා ලේබලයක් සැලසුම් කිරීම
- පාරිභෝගිකයා දැනුවත් කිරීමේ සුදුසු ප්‍රචාරණ මාධ්‍යයක් හා එය ක්‍රියාත්මක කළ යුතු ආකාරය සැලසුම් කිරීම
- පාරිභෝගික ඉල්ලුම ප්‍රවර්ධනය කර ගැනීම සඳහා වෙළෙඳ උපාය මාර්ග සැලසුම් කිරීම

ඉහත කටයුතු සැලැසුම් කිරීම අලෙවිකරණ සැලැස්මකින් සිදු වේ.

- ලාභදායිත්වය

වෙළෙඳපොළට නිෂ්පාදනය කළ භාණ්ඩය අලෙවි කිරීමට අපේක්ෂිත මිල හා අපේක්ෂිත නිෂ්පාදන පිරිවැය අතර වෙනස අපේක්ෂිත ලාභය යි. බොහෝ විට ව්‍යාපාරිකයන් ලාභදයිත්වය තීරණය කරනු ලබන්නේ දැරීම සිදු වන මුළු නිෂ්පාදන පිරිවැයේ ප්‍රතිශතයක් ලෙස ය.

උදාහරණ :-

මුළු නිෂ්පාදන පිරිවැයෙන් 25%ක් දළ ලාභය ලෙස සලකා භාණ්ඩයේ මිල නියම කරනු ඇත. ඒ අනුව භාණ්ඩයේ මුළු නිෂ්පාදන පිරිවැය රු 100/= ක් නම් ඉන් 25%ක් දළ ලාභය ලෙස සලකා නියම කරන විට මිල රු. 125/= ක් වේ. ලාභ ප්‍රතිශතය තීරණය කිරීම ව්‍යාපාරයෙන් ව්‍යාපාරයට වෙනස් වනු ඇත.

**ක්‍රියාකාරකම් 4.6**



ඔබේ සිතෙහි පහළවූ ව්‍යාපාර අදහසක් මුදුන් පමුණුවා ගැනීම සඳහා ව්‍යාපාරයක් ඇරඹීමට ඔබ පෙලඹුනේ නම් එහි අලෙවිකරණ කටයුතු සැලසුම් කරන ආකාරය පිළිබඳ කෙටි විස්තරයක් ඉදිරිපත් කරන්න.

## 11. ව්‍යාපාර ආචාර ධර්ම හා නීති රීති

කුඩා ව්‍යාපාරිකයා තම නිෂ්පාදන කටයුතු ආරම්භ කර, පවත්වා ගෙන යාමේ දී මුළු මහත් සමාජයට ම යහපතක් වන පරිදි එය සිදු කළ යුතුය. ඒ අනුව පවතින නිතිරීති අනුගමනය කරමින් අවංකව, සාධාරණව සත්‍යවාදිව හා අනෙකුත් තරගකරුවන්ට හෝ පරිසරයට හා ප්‍රජාවට හානි නොවන සේ පවත්වා ගෙන යාම සඳහා වැඩ පිළිවෙළ සැලසුම් කළ යුතුයි.

උදාහරණ :- ව්‍යාපාරයෙන් බැහැර කෙරෙන අපද්‍රව්‍ය අවට පරිසරයට සෘජුව ම මුදා නොහැර බැහැර කිරීම සඳහා පිළිගත් ක්‍රමවේදයක් සැලසුම් කර ක්‍රියාත්මක කිරීම

කුඩා ව්‍යාපාර සඳහා සරල නීතිරීති සමූහයකි. කුඩා ව්‍යාපාරය තමා නමින් පවත්වා ගෙන යන්නේ නම් **1918 අංක 06 දරණ ව්‍යාපාර නාම ආඥා පනත** අනුව පළාත් සභා ප්‍රඥප්තිය යටතේ පළාත් සභාව මගින් ලියා පදිංචි කළ බවට සහතිකය ව්‍යාපාර ස්ථානයේ ප්‍රදර්ශනය කළ යුතුයි. කිරුම් මිනුම් උපකරණ සහතික කරවා ගත යුතු ය. විකිණීමට ඇති භාණ්ඩවල මිල දර්ශනයක් ද එල්ලා තැබිය යුතුයි.

කුඩා පරිමාණ ව්‍යාපාරිකයන්ට වැදගත් වන ආයතන

- ප්‍රාදේශීය ලේකම් කාර්යාලය - ලියා පදිංචි කිරීම හා නීතිරීති දැන ගැනීම සඳහා
- නගර සභා හා ප්‍රාදේශීය සභා - යටිතල පහසුකම් ලබා ගැනීම සඳහා
- බැංකු හා මූල්‍ය ආයතන - ණය පහසුකම් ලබා ගැනීම හා වෙනත් ගනුදෙනු සඳහා
- වෘත්තීය පුහුණු අධිකාරිය - සේවක පුහුණුවීම් සිදු කිරීම සඳහා
- කාර්මික සංවර්ධන මණ්ඩලය - උපදෙස් ලබා ගැනීම සඳහා
- ජාතික මෝස්තර මධ්‍යස්ථානය- මෝස්තර නිර්මාණ තොරතුරු ලබාගැනීම සඳහා
- ජාතික ඇසුරුම් මධ්‍යස්ථානය - ඇසුරුම් පිළිබඳ තොරතුරු ලබා ගැනීම සඳහා
- දිස්ත්‍රික් ව්‍යාපාර සංවර්ධන දෙපාර්තමේන්තුව - උපදෙස් හා විවිධ සහන ලබා ගැනීම සඳහා

## කුඩා ව්‍යාපාරයක් සැලසුම් කිරීමේ දී සලකා බැලිය යුතු උපකාරක සේවා

කුඩා පරිමාණ ව්‍යාපාරිකයෙකුගේ ව්‍යාපාර කටයුතු සාර්ථක කර ගැනීම සඳහා සහාය වන විවිධ සේවා ඇත. ඒවා උපකාරක සේවා නමින් හැඳින්වේ. බැංකු සේවා, ප්‍රවාහනය, රක්ෂණය, සන්නිවේදනය හා ප්‍රචාරණය යන සේවා ඒ අතර ප්‍රධාන වේ.

### බැංකු සේවා

කුඩා ව්‍යාපාරවල ව්‍යාපාරික කටයුතු පහසු කර ගැනීම සඳහා බැංකු ඉමහත් සේවාවක් ඉටු කරනු ලබයි. ඒ අතර පහත දැක්වෙන සේවා සුවිශේෂී වේ.

- චෙක්පත් භාවිතයට හා ස්වයංක්‍රීය ටෙලර් යන්ත්‍ර භාවිතයට ඉඩ සලසා දීමෙන් ව්‍යාපාරිකයාගේ කාලය ඉතිරි කර දීම හා ගනුදෙනුවල ආරක්ෂාව සුරක්ෂිත කර දීම




- ව්‍යාපාර කටයුතු පවත්වා ගෙන යාමටත් ඉදිරි කටයුතු සංවර්ධනය කිරීමටත් අවශ්‍ය ණය මුදල් සපයා දීම

## ප්‍රවාහන මාධ්‍යය



කුඩා ව්‍යාපාර මගින් නිෂ්පාදනය කළ භාණ්ඩ පාරිභෝගිකයා වෙත ලබා දීම සඳහා සුදුසු ප්‍රවාහන මාධ්‍ය ලෙස පා පැදිය, යතුරුපැදිය, ත්‍රී රෝද රථ, කුඩා වෑන්, කුඩා ලොරි ආදිය දැක්විය හැකි ය. කුඩා ව්‍යාපාරිකයාගේ මූල්‍ය ශක්තිය අඩු බැවින් වාහනයක් මිල දී ගැනීමට ශක්තියක් නොමැති අවස්ථාවල කුලී පදනම මත යොදා ගත හැකි ප්‍රවාහන මාධ්‍යයක් තෝරා ගැනීම වාසිදායක මෙන් ම නැණවත් ක්‍රියාවක් ද වනු ඇත.

## රක්ෂණය



ව්‍යාපාරිකයන්ට විවිධ අවදානම්වලට මුහුණදීමට සිදු වේ. ගිනි උවදුරු, සොර සතුරු, හදිසි අනතුරු ඒ අතර ප්‍රධාන වේ. මේවා නිශ්චිත ව සිදුවන අවස්ථා කිව නොහැකි අතර එවැනි අනතුරුවලින් වැළකී සිටිම ද අපහසු ය. එම නිසා අවදානම අවම කිරීමේ ක්‍රමයක් ලෙස රක්ෂණය කුඩා ව්‍යාපාරිකයාට උපකාර වේ. ඔහුට සිදු විය හැකි අනතුරු වලින් වන අලාභය තුනී කර ගැනීමට රක්ෂණ ආයතන උපකාර වේ. මෙහි දී අලාභයට ලක් වන්නා වු දේපොළට මූල්‍යමය වශයෙන් වන්දියක් ගෙවනු ලැබේ. එම නිසා ව්‍යාපාරික දේපළ රක්ෂණය කිරීමට මැදිහත්ව සිටින ආයතනයක තම ව්‍යාපාරය රක්ෂණය කිරීම වැදගත් වේ.

## සන්නිවේදනය



ව්‍යාපාරික කටයුතු සන්නිවේදනය කිරීමට සුදුසු මාධ්‍යයක් තෝරා ගැනීම ද කුඩා ව්‍යාපාරයේ කටයුතු සාර්ථක කර ගැනීමට ඉවහල් වේ. වෙළෙඳ ව්‍යාපාරික කටයුතු ප්‍රචාරණය කර ගැනීමටත් ගනුදෙනුකරුවන් හා සේවකයන් අතර පණිවුඩ හුවමාරු කර ගැනීමටත්, උපකාරක සේවා සපයන ආයතන සමග සම්බන්ධතා පවත්වා ගැනීමටත් වඩාත් ලාභදායී සන්නිවේදන මාධ්‍යයක් තෝරා ගැනීම වැදගත් ය. මේ සඳහා වඩාත් පහසු ලාභදායි මාධ්‍යය වන්නේ දූරකථනය යි, ව්‍යාපාරයේ අභ්‍යන්තර සන්නිවේදන කටයුතු සඳහා රැස්වීම් පැවැත්වීම් හා දැන්වීම් පුවරුව භාවිත කළ හැකිය.

**ප්‍රචාරණය**




පාරිභෝගිකයන් දැනුවත් කිරීමට ප්‍රචාරණ මාධ්‍යයක් සහ අවශ්‍ය නම් ප්‍රචාරණ ආයතනයක් තෝරා ගැනීම පිළිබඳව ද කුඩා ව්‍යාපාරිකයා සැලසුම් කළ යුතු ය. කුඩා ව්‍යාපාරිකයන් විසින් වෙළෙඳපොළ තම ප්‍රදේශයට සීමාවන බැවින් ඔහු තෝරා ගත යුතු වන්නේ අඩු වියදම් සහිත අත් පත්‍රිකා පෝස්ටර්, බැනර්, ශබ්ද විකාශන යන්ත්‍ර හා කට වචනයෙන් ප්‍රචාරණය කරන ක්‍රමයන් ය. ප්‍රචාරණ වියදම භාණ්ඩයේ නිෂ්පාදන වියදමට එකතු වීම නිසා මිල වැඩි වීමෙන් තමාට සිදුවිය හැකි අවාසිදායක තත්ත්වය පිළිබඳව ග ැන ප්‍රචාරණ මාධ්‍යයක් තෝරා ගැනීමේ දී සිතා බැලිය යුතු ය.

**ගබඩාකරණය**

කුඩා ව්‍යාපාරිකයන්ගේ කටයුතු සාර්ථක කර ගැනීම සඳහා ගබඩාකරණ වැඩපිළිවෙළක් ද සැලසුම් කළ යුතු ය. අලෙවියට නොතබන අතිරික්ත භාණ්ඩ ගබඩා කර තැබීම සඳහා සුදුසු ක්‍රමවේදයක් අනුගමනය කළ යුතු ය. එමගින් සැලසෙන වාසි පහත දැක්වේ.

- සොර සතුරන්ගෙන්, පළිබෝධවලින් හා අහිතකර කාලගුණික තත්ත්ව මගින් සිදු විය හැකි හානි අවම කිරීම
- තම නිෂ්පාදන කටයුතු අඛණ්ඩව පවත්වා ගෙන යාමට හැකි වීම
- පාරිභෝගික අප්‍රසාදයට ලක් නොවී ඔවුන්ගේ ඇණවුම් නියමිත කාලයට ලබා දීමට හැකි වීම

**කුඩා ව්‍යාපාරයක් සාර්ථකව පවත්වාගෙන යාම හා එහි වැඩි දියුණුව සඳහා සිදු කළ හැකි ක්‍රියාකාරකම්**

- ව්‍යාපාර සංවර්ධනය සඳහා අවශ්‍ය මූල්‍ය මාර්ග සොයා බලා ඒවා ලබා ගැනීමට කටයුතු කිරීම
- ක්‍රමවත් ව්‍යාපාර සැලසුමකට අනුව ව්‍යාපාරය පවත්වා ගෙන යාම
- යටිතල පහසුකම් හොඳින් සැපයෙන ස්ථානයක ව්‍යාපාරය ස්ථානගත කිරීම
  යටිතල පහසුකම් අඩු වන විට නිෂ්පාදන හා සෙසු පිරිවැය වැඩි වී මිල ඉහළ යාම නිසා අලෙවිකරණ ගැටළු ඇති වේ.
- නව දැනුම ලබා ගැනීමට කටයුතු කිරීම
  කුඩා ව්‍යාපාරිකයන් බොහෝමයක් තරගකාරී වෙළෙඳපොළ කටයුතු කිරීමට අවශ්‍ය කරන දැනුම හා හැකියාව නොමැති අය වේ. භාණ්ඩ විශේෂීකරණය, අලෙවිය වැඩිකර ගැනීමේ ප්‍රවර්ධන උපාය මාර්ග හා බෙදා හැරීමේ උපාය මාර්ග පිළිබඳ අවශ්‍ය දැනුම ලබා ගැනීමෙන් කුඩා ව්‍යාපාර සඳහා පුළුල් වෙළෙඳපොළක් ඇතිකර ගත හැකි ය. කාර්මික සංවර්ධන මණ්ඩලය, කාර්මික තාක්ෂණ ආයතන වැනි ආයතන වෙත යොමු වී නව තාක්ෂණ දැනුම ලබා ගැනීම ව්‍යාපාරවල ප්‍රගතියට විශාල පිටිවහලක් වේ.

- ආර්ථික, තාක්ෂණික, සමාජයීය හා සංස්කෘතික ආදි විවිධ අංශයන්හි සිදුවන වෙනස්වීම් හඳුනා ගෙන එම තත්ත්වවලට මුහුණ දීම සඳහා තම ශක්තීන් දියුණු කර ගැනීමට කටයුතු කිරීම
  කුඩා ව්‍යාපාරිකයා පරිසරයේ සිදුවන වෙනස්වීම් පිළිබඳ නිතර අවදියෙන් සිටිය යුතු ය. වෙනස් වීම් සමග පරිසරයෙන් ඇතිවන තර්ජන පිළිබඳව ද අවධානයෙන් යුතුව කටයුතු කිරීමෙන් ව්‍යාපාරය සාර්ථක කර ගත හැකි ය.

## කුඩා ව්‍යාපාරවල ගිණුම් කටයුතු පවත්වා ගෙන යාම

කුඩා ව්‍යාපාරවල ගිණුම් කටයුතු ක්‍රමවත් වාර්තා කර තැබීම ඉදිරි ප්‍රයෝජනය සඳහා ඉතා වැදගත් වේ. මුදල් ලැබීම හා ගෙවීම් වාර්තා කිරීමට මුදල් ලේඛනයක් ද ආදායම් හා වියදම් ප්‍රකාශයක් ද පවත්වාගෙන යාම කුඩා ව්‍යාපාරිකයකුට ප්‍රමාණවත් ය.

- **මුදල් ලේඛනය (ලැබීම් හා ගෙවීම් වාර්තා)**

ව්‍යාපාරයට ලැබෙන මුදල් හා ව්‍යාපාරයෙන් පිටතට ගෙවන මුදල් සටහන් කරන ලේඛනය මුදල් ලේඛනය වේ. ලැබුණු මුදල් හා ගෙවූ මුදල් අතර වෙනස ව්‍යාපාරිකයාගේ අත ඉතිරි මුදල යි. මුදල් ලේඛනයක් සැකසීම සඳහා කිසියම් නිශ්චිත කාල සීමාවක් පදනම් කර ගනී. ඒ ඒ ව්‍යාපාරයේ ව්‍යාපාරික ගනුදෙනුවල ස්වභාවය හා පරිමාව අනුව කාලය තීරණය කරනු ඇත. එය මාසිකව, ත්‍රෛමාසිකව, අර්ධ වාර්ෂිකව හෝ වාර්ෂිකව පිළියෙල කර ගැනීමෙන් ඉතිරි මුදල් ශේෂය ගණනය කරයි. එයින් ඉදිරි කටයුතු අරපිරිමැස්මෙන් කිරීමට මුදල් යොදවා ගැනීමට අවස්ථා සැලසේ.

ආදර්ශ මුදල් ලේඛනයක ආකෘතියක් පහත දැක්වේ. ව්‍යාපාරයකට මුදල් ලැබෙන ප්‍රභවයන් ලැබීම් තීරුවේ ද ව්‍යාපාරයෙන් සිදු කරන ගෙවීම්, ගෙවීම් තීරුවේ ද දැක්වේ.

ගෝතමී ව්‍යාපාරය

2016 - 12- 3 දිනෙන් අවසන් වර්ෂය සඳහා මුදල් ලේඛනය

| දිනය | විස්තරය | රුපියල් | රුපියල් |
|---|---|---|---|
| | මුදල් ලැබීම් | | |
| | ප්‍රාග්ධනය වශයෙන් ව්‍යාපාරයට යෙදූ මුදල් | X X X X X | |
| | භාණ්ඩ විකිණීමෙන් ලද මුදල් | X X X X X | |
| | බැංකු තැන්පත් පොලී ලැබීම් | X X X | |
| | | | X X X X X X |
| | මුදල් ගෙවීම් | | |
| | අමු ද්‍රව්‍ය/ තොග මිල දී ගැනීම් | X X X X X | |
| | වත්කම් මිල දී ගැනීම් | X X X X | |
| | ප්‍රචාරණ වියදම් | X X X | |
| | ගෙවල් කුලී | X X X | |
| | විදුලිය ගාස්තු | X X X | |
| | ඇසුරුම් ගාස්තු | X X X | |
| | රක්ෂණ ගාස්තු | X X X | X X X X X |
| | අත ඉතිරි මුදල් ශේෂය | | X X X X |

- **ආදායම් හා වියදම් පිළිබඳ ගිණුම් වාර්තා**

තම ව්‍යාපාරික කටයුතු සාර්ථකව ඉදිරියට ගෙන යාමට කැමැත්තක් දක්වන නැණවත් ව්‍යාපාරිකයෝ නිශ්චිත කාලයක් පදනම් කර ගනිමින් එහි ප්‍රගතිය මැන බලති. ඒ සඳහා තම ව්‍යාපාරික ආදායම් හා වියදම්වලට අදාළ ගනුදෙනු ආදයම් ප්‍රකාශනයක වාර්තා කර ගැළපීම සිදු කල යුතුය.

- **ආදයම් ප්‍රකාශනය**

ආදයම් ප්‍රකාශනයක අඩංගු වන මූලිකාංග දෙකකි.

1. යම් කාල සීමාවක් තුළ දී ව්‍යාපාරයට ලැබුණු ආදයම්
2. එම කාල සීමාව තුළ දී ව්‍යාපාරය මෙහෙයුම් කටයුතු සඳහා සිදු කළ වියදම්

මෙම ආදයම් හා වියදම් දෙක අතර වෙනස ව්‍යාපාරිකයා එම කාලය තුළ දී ඉපැයූ ලාභය හෝ අලාභය යි.

**ක්‍රියාකාරකම් 4.7**



කුඩා ව්‍යාපාරිකයකු සැලකිල්ලට ගනිමින් ඔබ මුදල් ගනුදෙනු (ලැබීම් හා ගෙවීම් දෙකම ඇතුළත් වන සේ) 10ක් ද ආදායම් හා වියදම් අයිතම 10ක් ද ලියා මුදල් ලේඛනයක් හා ආදයම් ප්‍රකාශනයක් සාදන්න.

පහත සඳහන් තොරතුරු පිළිබඳ ඔබේ අවධානය යොමු කරන්න.

කුඩා ව්‍යාපාරිකයෙකු වන අමර පාසල් නිල ඇඳුම් මැසීමේ කුඩා ව්‍යාපාරයක් පවත්වාගෙන යයි. 2016 දෙසැම්බර් මස ඔහුගේ ව්‍යාපාරික කටයුතු පිළිබඳ තොරතුරු පහත දැක්වේ. එහි ආදයම් හා වියදම් පදනම් කර ගෙන ආදායම් ප්‍රකාශනයක් පිළියෙල කරන්න.

| | |
|---|---|
| ඇඳුම් මැසීමෙන් ලද මුදල් | රු. 38200 |
| ඇඳුම් මැසීම සඳහා දරූ නිෂ්පාදන පිරිවැය | රු. 12500 |
| සේවක වැටුප් | රු. 3500 |
| ගෙවල් කුලිය | රු. 1000 |
| විදුලි ගාස්තු | රු. 350 |
| දූරකථන ගාස්තු | රු. 400 |
| වෙනත් වියදම් | රු. 600 |
| ඉතිරි වූ රෙදි කැබලි විකුණා ලැබූ මුදල් | රු. 200 |

මෙම ගනුදෙනු පදනම් කර ගෙන ආදායම් ප්‍රකාශනයක් සාදන අයුරු දැන් විමසා බලමු.

අමර' ව්‍යාපාරය

2016 දෙසැම්බර් මස සඳහා ආදායම් ප්‍රකාශනය

| විස්තරය | රුපියල් | රුපියල් |
|---|---|---|
| ආදායම් :- | | |
| ඇඳුම් මැසීමෙන් ලද මුදල් | 38200 | |
| ඉතිරි රෙදි කැබලි විකිණීමෙන් ලද මුදල් | 200 | 38400 |
| වියදම් :- | | |
| සේවක වැටුප් | 3500 | |
| ගෙවල් කුලිය | 1000 | |
| විදුලි ගාස්තු | 350 | |
| දුරකථන ගාස්තු | 400 | |
| වෙනත් වියදම් | 600 | 5850 |
| ආදායම/ශුද්ධ ලාභය | | 22550 |

අමරගේ ව්‍යාපාරයේ 2016 දෙසැම්බර් මාසය සඳහා ලැබූ ශුද්ධ ලාභය රු. 22550කි.

- **ආයෝජනය කළ හැකි විකල්ප මාර්ග**

- බැංකු හා වෙනත් මූල්‍ය ආයතනවල ගිණුම්වල තැන්පත් කිරීම

ඉතිරි කිරීමේ ගිණුම් හා ස්ථාවර තැන්පත් ගිණුම් ආරම්භ කර මුදල් තැන්පත් කිරීමෙන් ආදායමක් හා තම මුදලට සුරක්ෂිතතාවක් ලබා ගැනීමට කුඩා ව්‍යාපාරිකයන්ට හැකි වේ. ඉතිරි කිරීමේ ගිණුම් සඳහා පොලී ආදායම අඩු වන අතර ස්ථාවර තැන්පත් සඳහා පොලී ආදායම වැඩි ය.

- භාණ්ඩාගාර බිල්පත් හා භාණ්ඩාගාර බැඳුම්කරවල ආයෝජනය කිරීම

කුඩා පරිමාණ ව්‍යාපාරිකයන්ගේ ඉතිරි කිරීම් භාණ්ඩාගාර බිල්පත්වල හා බැඳුම්කරවල ද ආයෝජනය කළ හැකි ය. මේ සඳහා දිවයින පුරා ලංකා බැංකු ශාඛාවලින් සේවා සපයයි. රජයට කෙටිකාලීන අරමුදල් සපයා ගැනීම සඳහා භාණ්ඩාගාර බිල්පත් නිකුත් කරන අතර ඒ සඳහා ආයෝජකයාට ඉහළ පොලියක් හා සුරක්ෂිතතාවක් ලබා දේ, භාණ්ඩාගාර බැඳුම්කර නිකුත් කරනු ලබන්නේ දිගු කාලීන ණය අවශ්‍යතා සඳහා ය. මේ මගින් ද ආයෝජකයාට ඉහළ පොලියක් හා සුරක්ෂිතතාවක් ලබා දේ.

- කොටස් වෙළෙඳපොළෙහි ආයෝජනය කිරීම

ලියාපදිංචි වූ ලේඛනගත සමාගම්වල කොටස් හා ණයකර ආදි සුරකුම්පත් මිල දී ගැනීමේ හා විකිණීමේ කටයුතු කරනු ලබන ස්ථානය කොටස් වෙළෙඳපොළ යි. වෙළෙඳපොළේ සමාගම්වල කොටස් මිල අඩු වන විට කොටස් මිල දී ගැනීමෙනුත් කොටස් මිල වැඩි වන විට කොටස් විකිණීමෙනුත් ලැබෙන ලාභාංශවලට අමතරව ලාභ ලබා ගත හැකිය. කුඩා ව්‍යාපාරිකයන්ට තමා ඉතිරි කරගත් මුදල් තම ප්‍රදේශයේ කොටස් වෙළෙඳපොළ ශාඛාවක තැරැව්කරුවකු හමු වී උපදෙස් ලබාගෙන ආයෝජනය කළ හැකි වේ.

## ව්‍යාපෘතියක් ඇසුරෙන් කුඩා ව්‍යාපාරයක් ආරම්භ කර සාර්ථකව පවත්වා ගෙන යන ආකාරය පිළිබඳව අධ්‍යයනය කරමු

නවාංගයක් එකතු කරමින් වටිනාකමක් එක් කළ හැකි භාණ්ඩයක් නිෂ්පාදනය කිරීම සඳහා තෝරා ගන්න. එය විකුණා ලාභ ලැබිය හැකි කුඩා ව්‍යාපාරයක් මතු කර ගන්න.

ව්‍යාපාරය පිහිටුවීමේ සිට භාණ්ඩය පාරිභෝගිකයා අතට පත්වන තුරු ක්‍රියාදමය තුළ සිදුවන පවතින සියලු ව්‍යාපාරික කටයුතු නව්‍යතා ප්‍රදර්ශනය වන ආකාරයෙන් කිරීමත්, ගනුදෙනු වාර්තා කරමින් පාරිභෝගික ප්‍රතිචාර ලබා ගෙන ප්‍රගතිය මැන බලා අවශ්‍ය ප්‍රතිපෝෂණ යෝජනා ඉදිරිපත් කරන ආකාරයත් ව්‍යාපෘති ක්‍රියාකාරකම් තුළින් ප්‍රදර්ශනය කරන්න.

මෙම ව්‍යාපෘතිය කිරීමේ දී ඔබ විසින් අනුගමනය කළ යුතු ක්‍රියා පිළිවෙළ පහත දැක්වේ. මැටි ආශ්‍රිත නිෂ්පාදනයක් ඇසුරින් මෙම උදාහරණය දැක්වේ.

### A - සැලසුම් කිරීම

පහත සඳහන් ආකාරයෙන් කාර්යයන් සැලසුම් කරන්න.

- සාර්ථක විසිතුරු මැටි නිෂ්පාදන ව්‍යාපාරයක් පිහිටුවා පවත්වාගෙන යාම පිළිබඳ කුඩා ව්‍යාපාර සැලැස්මක් සැලසුම් කරන්න.
- ඒ සඳහා අදාළ කර ගත හැකි ව්‍යාපාර සාධක පිළිබඳ තොරතුරු රැස් කරන්න.
- නවාංග එකතු කිරීමට සුදුසු වෙළෙඳපොළේ ඉල්ලුමක් පවතින මැටි භාණ්ඩ පිළිබඳ විස්තර තොරතුරු රැස් කරන්න.
- ව්‍යාපාරය පිහිටුවීමට අපේක්ෂිත ව්‍යාපාර සංවිධානය හා ඊට අදාළ නීතිරීති පිළිබඳ තොරතුරු සපයා ගන්න.
- මැටි නිෂ්පාදන සැපයුම්කරුවන්, පාර්ශවකරුවන් හා තරගකරුවන් පිළිබඳ තොරතුරු ලබා ගන්න.
- ව්‍යාපාරික මෙහෙයුම් කටයුතු සිදු කෙරෙන ආකාර හා ඒ ඒ අංශවල අදාළ භූමිකාවන් හා වගකීම් පිළිබඳ තොරතුරු රැස් කරන්න.
- ව්‍යාපාරය ආරම්භයේ සිට භාණ්ඩය පාරිභෝගිකයා අතට පත්වන තුරු ක්‍රියාදාමය පිළිබඳ
  සැපයුම්දමයක් සැලසුම් කරන්න.
- පවත්වාගෙන යා යුතු ව්‍යාපාර ආචාර ධර්ම සහ වැඩ පිළිවෙළ පිළිබඳ තොරතුරු රැස් කරන්න.
- ක්‍රියාකාරී සැලැස්මක් මගින් ලැබී ඇති නිශ්චිත කාලය භාවිතයට ගනිමින් කාර්යයන් ඉටු කරන ආකාරය පහත ආදර්ශයේ දැක්වෙන අයුරින් සැලසුම් කරන්න.

## ක්‍රියාකාරී සැලැස්ම

| කාර්ය අංකය | කාර්යයය | කාල රාමුව | | |
|---|---|---|---|---|
| | | සතිය (1) | සතිය (2) | සතිය (3) |
| | | 1 2 3 4 5 6 7 | 1 2 3 4 5 6 7 | 1 2 3 4 5 6 7 |
| 01 | ව්‍යාපාර සැලැස්මක් සෑදීම | | | |
| 02 | අංශ බෙදා වැඩ පැවරීම | | | |
| ....... | එකතු කළ යුතු නවාංග එකතු කිරීම | | | |
| ....... | නිෂ්පාදන ක්‍රම හා ශිල්පීය ඥානය යොදා ගනිමින් මැටි භාණ්ඩ විසිත්ත ගැන්වීම හා වටිනාකම් එකතු කිරීම හා නිමි භාණ්ඩ නිෂ්පාදනය කිරීම | | | |
| ....... | ................................................................ | | | |
| ....... | ................................................................ | | | |
| ....... | ප්‍රමිතිය, ගුණාත්මකභාවය, තත්ත්ව පාලනය මැන බැලීම | | | |
| ....... | අලෙවි කිරීම | | | |
| ....... | ව්‍යාපාර ගනුදෙනු ක්‍රමවත් ව තබා ගැනීම හා ප්‍රගතිය මැන බැලීම | | | |
| ....... | ප්‍රතිපෝෂණ යෝජනා ඉදිරිපත් කිරීම | | | |

## B - තීරණ ගැනීම

සාර්ථක කුඩා මැටි නිෂ්පාදන ව්‍යාපාරයක් පිහිටුවීම හා පවත්වාගෙන යාම පිළිබඳ තොරතුරු විශ්ලේෂණය කර පහත සඳහන් තීරණ ගන්න.

- ව්‍යාපාරයට අදාළ අරමුණු, පරිමාණය, පිහිටුවිය යුතු සංවිධානය, ව්‍යාපාරයේ ස්වභාවය හා ඉලක්ක වෙළෙඳපොළ කුමක් ද යන්න තීරණය කරන්න.
- නිමි භාණ්ඩයක් ලෙස වෙළෙඳපොළට ඉදිරිපත් කරන මැටි භාණ්ඩ වර්ග (සෙල්ලම් වළං, මල් පෝච්චි හා අලංකාර බඳුන්) තීරණය කරන්න.
- ව්‍යාපාරයට එකතු කළ යුතු නවාංග මොනවා ද යන්න තීරණය කරන්න. (පිහිටුවීමේ දී නිෂ්පාදනය කිරීමේ දී හා අලෙවිකරණයේ දී)

  උදාහරණ ලෙස පාරිභෝගිකයන් ආකර්ෂණය කර ගත හැකි වෙළෙඳ ස්ථානයක් නිර්මාණය කිරීමේ දී හා අලෙවිකරණයේ දී එය නවාංග සහිතව සිදු කිරීමට අවශ්‍ය ක්‍රියාමාර්ග තීරණය කරන්න. මෙහි දී පාරිභෝගිකයන් ව්‍යාපාරයට සමීප කර ගැනීමට සමත් වන්නා වූ ආකර්ෂණීය පෙනුමැති වෙළෙඳ ස්ථානයක් නිර්මාණය කිරීම, නව තාක්ෂණය යොදා ගැනීම, සම්පත් නාස්තිය අවම කර ගැනීම නිෂ්පාදනයේ කල් පැවැත්ම ආරක්ෂාව, සුදුසු ඇසුරුම්, පාරිභෝගික අවශ්‍යතාවනට අනුව විවිධ මාදිලියේ විසිතුරු මැටි භාණ්ඩ සුවිශේෂීකරණය කර ඉදිරිපත් කරන ආකාරය යනාදිය තීරණය කරන්න.

- තරගකාරී වෙළෙඳුන්ගේ භාණ්ඩ , මිල ගණන්, ප්‍රමිති හා ගුණාත්මක භාවය, යොදා ගෙන ඇති අලෙවිය ප්‍රවර්ධනය කළ හැකි උපාය මාර්ග, ප්‍රචාරණ මාධ්‍ය පාරිභෝගිකයා වෙත භාණ්ඩ බෙදා හරින ක්‍රම, සම්පත් කළමනාකරණය කරන අන්දම ආදිය සලකා බලා තම ව්‍යාපාරයට සුදුසු තීරණ ගැනීමට යොමුවන්න.

තීරණ ගැනීමෙන් අනතුරුව ව්‍යාපාරය පිහිටුවා පවත්වා ගෙන යාමට අවශ්‍ය කටයුතු ක්‍රියාත්මක කරන්නේ කෙසේ දැයි විමසා බලමු.

C - **ක්‍රියාත්මක කිරීම**

- සකස් කළ කාල රාමුවට අනුව ක්‍රියාවලියට අදාළ කාර්යයන් පෙළ ගස්වා ගන්න.

- මැටි නිෂ්පාදන සිදු කර අලෙවි කෙරෙන කුඩා ව්‍යාපාරයක් පිළිබඳ සරල ව්‍යාපාර සැලැස්මක් සකස් කරන්න.

- ව්‍යාපාරය පිහිටුවීමට යෝග්‍ය යයි සලකා තීරණය කරගත් සාධක යොදා ගනිමින් ව්‍යාපාරය පිහිටුවන්න.

- සුදුසු ව්‍යාපාර සංවිධානයක් තෝරා ගන්න.
  තනි පුද්ගල, හවුල් හෝ කුඩා සමාගමක් ලෙස සංවිධානය වන්නේ ද යන්න තීරණය කරන්න.

- ව්‍යාපෘතිය ක්‍රියාත්මක කිරීමේ පහසුව සඳහා ව්‍යාපාරයේ කටයුතු පහත සඳහන් පරිදි ක්‍රියාකාරි අංශ 4කට බෙදා ගන්න.

  - නිෂ්පාදන අංශය
  - මුදල් හා ගිණුම් කටයුතු අංශය
  - අලෙවිකරණ අංශය
  - මානව සම්පත් කළමනාකරණ හා තොරතුරු සැපයීමේ අංශය

මෙම අංශවල විවිධ භූමිකා හඳුනාගෙන සැලසුම් කළ පරිදි ක්‍රියාවේ යෙදෙන්න.

- අංශ තුළ වෙන් වෙන්ව කටයුතු කළත් සියලු දෙනා විසින් ක්‍රියාත්මක කරනු ලබන්නේ එකම ව්‍යාපාරයක් බැවින් සියලු අංශ අවශ්‍යතා පරිදි සහයෝගයෙන් එක් ව වැඩ කරන්න.

● පහත පෙනෙන පරිදි සැපයුම් දමයක් සකස් කර ක්‍රියාවේ යොදවන්න.




සැපයුම් දමය **supply chain**

මෙහි දී පාසලේ සියළු පාසල් සිසුන් වෙළෙඳපොළ ලෙසත් 10 ශ්‍රේණියෙන් ඉහළ සිසුන් ඉලක්ක පාරිභෝගිකයන් ලෙසත් සලකා ඔබට කැමති සේ නිෂ්පාදන ඒකක ප්‍රමාණය තීරණය කරන්න. සිල්ලර වෙළෙන්ඳුන් ලෙස 9 ශ්‍රේණිවල නියෝජිතයන් පත් කර ගන්න. එදිනෙදාට අලෙවි නොවන ඉතිරි භාණ්ඩ රැස්කර ගබඩා කර තැබීමට සුදුසු ස්ථානයක් තෝරා ගෙන භාණ්ඩ සුරක්ෂිත ව තබන්න.

● ව්‍යාපාරය පිළිබඳ පාරිභෝගිකයන් දැනුවත් කිරීම සඳහා කුඩා ව්‍යාපාරිකයන්ට සුදුසු අඩු වියදම් සහිත පෝස්ටර් හා දැන්වීම් ප්‍රචාරණ මාධ්‍යයක් ලෙස යොදා ගන්න.
මේවා ප්‍රදර්ශනය කිරීම සඳහා පාසල් භූමිය යොදා ගන්න.
● විකුණුම් වැඩි කර ගැනීම සඳහා උපාය මාර්ග ලෙස මිල අඩු කර විකිණීම, විශේෂ සහන ලබා දීම හා ත්‍යාග ලබා දීම් වැනි ක්‍රියාමාර්ග ක්‍රියාවේ යොදවන්න.
● ව්‍යාපාරයේ සිදුවන මුදල් කටයුතු ක්‍රමවත්ව තබා ගනිමින් ඉදිරි ව්‍යාපාරික කටයුතු සඳහා අවශ්‍ය මුදල් සපයා ගැනීමට පියවර ගන්න.
● ආදායම් ප්‍රකාශයක් පිළියෙළ කර ලාභය හෝ අලාභය ගණනය කරන්න.
● සෑම ව්‍යාපාරික කටයුත්තක දී ම පාරිභෝගිකයන්ට මෙන් ම සමාජයේ සෑම පාර්ශවයන්ට යහපතක් වන සේ අවංකව, සාධාරණත්ව, සත්‍යවාදීව කටයුතු කිරීමට පියවර ගන්න.
● අවසාන පාරිභෝගිකයා පාරිභෝජනයෙන් පසුව වුව ද අතිශය තෘප්තිමත් වන ආකාරයට ඔබේ මෙහෙවර ඉටු කරන්න.
● සෑම අංශයක ම කටයුතු නිරීක්ෂණය කර නවෝත්පාදන හැකියාවන් ලබා දීමට අපොහොසත් වූ තැන් හඳුනාගෙන දියුණුවට අවශ්‍ය පියවර ගන්න.

D - පසු විපරම

නිශ්චිත කාලයක් පදනම් කර ගනිමින් සමස්ත ව්‍යාපාරයේ සාර්ථකත්වය විමසා බලන්න. මේ සඳහා අලෙවිකරණ කටයුතු සිදු කර අවසන් සතියේ දින 5 යොදා ගන්න. එක් එක් දින ලැබූ ආදායම් හා එදින වියදම් අතර වෙනස සොයා ලාභය ගණනය කරන්න.

සාර්ථකත්වය මැනීමේ මිණුම් දණ්ඩක් ලෙස ලාභය පදනම් කර ගනිමින් ස්තම්භ ප්‍රස්තාරයක් අඳින්න.

කුඩා ව්‍යාපාරයක් පවත්වාගෙන යන පුද්ගලයෙකුගේ ආසන්න දින 5ක ලාභය පහත දක්වා ඇත.

| දිනය | ලාභය |
|---|---|
| 1 | 800 |
| 2 | 1500 |
| 3 | 1800 |
| 4 | 2000 |
| 5 | 2200 |

මෙම දත්ත පදනම් කර ගෙන ස්තම්භ ප්‍රස්තාරයක් අඳිමු.




මෙම උදාහරණයට අනුව ව්‍යාපාරය ක්‍රමයෙන් සාර්ථකත්වය කරා ගමන් කරමින් සිටින බව පැහැදිලි වේ. ඔබගේ ව්‍යාපාරයේ දියුණුව මැනීම සඳහා ද මෙවැනි ස්තම්භ ප්‍රස්තාරයක් නිර්මාණය කරන්න.

- නිෂ්පාදන, අලෙවිකරණ, මුදල් හා ගිණුම් කටයුතු, මානව සම්පත් කළමනාකරණ හා තොරතුරු සැපයීමේ අංශයන් තම තමන්ගේ භූමිකාවන් කොපමණ දුරට නවෝත්පාදන හැකියා ප්‍රදර්ශනය වන අයුරින් ඉටු කළේ දැයි විමර්ශනය කරන්න.
- ව්‍යාපාරයේ සෑම අංශයක ම ඒ ඒ කාර්යයන්ට නායකත්වය දුන් සාමාජිකයන් තම ව්‍යවසායික ගති ලක්ෂණ පෙන්නුම් කළ අවස්ථා ලැයිස්තුගත කරන්න.

- තම ව්‍යාපාරික කටයුතුවලින් ලාභ ඉපැයූ ආකාරය, මුදල් ඉතිරි කළ ප්‍රමාණ සහ ඒවා අතිරේක ආයෝජන මාර්ගවල යෙදවීමට ඇති අවස්ථා පිළිබඳ සාකච්ඡා මගින් හඳුනා ගෙන ඉදිරිපත් කරන්න. ඒ පිළිබඳ කුඩා වාර්තාවක් සකස් කරන්න.
- නිශ්චිත කාලයක් තුළ පවත්වා ගෙන ගිය ව්‍යාපාරික කටයුතුවල ප්‍රගතිය මැන අවශ්‍ය ප්‍රතිපෝෂණ යෝජනා පිළිබඳ සාකච්ඡා කරන්න. සියලු සාමාජිකයන්ගේ අදහස්වලට අනුව ස්වනිර්මාණ සංග්‍රහය ඉදිරිපත් කරන්න.

1. නිෂ්පාදන අංශය

ව්‍යාපාර සැලැස්මට අනුව නවාංග එකතු කිරීමට අපේක්ෂිත භාණ්ඩවල සැලසුම් චිත්‍ර ඇඳීම

අවශ්‍ය සම්පත් ලැයිස්තු ගත කිරීම

වැටුප් හා වෙනත් වියදම් ඇස්තමේන්තු කිරීම

මුළු නිෂ්පාදන පිරිවැය
ඒකක නිෂ්පාදන පිරිවැය
පිරිවැය - ලාභ දායකත්වය තීරණය කිරීම

ආචාර ධර්ම හා ව්‍යාපාර නීතිරීති පිළිපදිමින් පරිසර හිතකාමී ලෙස නිෂ්පාදන කටයුතු සිදු කිරීම



පිරිවිතර තීරණය කිරීම

නිෂ්පාදන ක්‍රියාවලිය සැලසුම් කිරීම

සැපයුම්දාමය හඳුනා ගැනීම

විසිත්ත ගැන්වීමට අපේක්ෂිත මැටි භාණ්ඩ, වර්ණ ආලේපන හා උපකරණ සැපයුම්කරුවන්ගෙන් විවිධ මිල ගණන් කැඳවීම

වාසිදායක ලෙස අවශ්‍ය අමුද්‍රව්‍ය හා සම්පත් මිල දී ගැනීම

තෝරාගත් මැටි භාණ්ඩ අකාර්ශනීය ලෙස පින්තාරු කිරීම, කැටයම් යෙදීම හා විවිධ හැඩ ගැන්වීම් කිරීම

පාරිභෝගික අවශ්‍යතා පරිදි නිෂ්පාදිත භාණ්ඩ අලෙවිකරණ අංශයට ලබා දීම

2. අලෙවිකරණ අංශය

වෙළෙඳපොළ සමීක්ෂණයක් කර අවශ්‍ය තොරතුරු නිෂ්පාදන අංශයට ලබාදීම

නවාංග එකතු කළ විසිතුරු මැටි භාණ්ඩ අලෙවි කිරීම

භාණ්ඩ ප්‍රවාහනය රක්ෂණය, සන්නිවේදනය වැනි උපකාරක සේවාවල සහාය ලබා ගැනීම

සුදුසු ප්‍රචාරණ මාධ්‍යයක් තෝරාගෙන පාරිභෝගිකයන් දැනුවත් කිරීම

නිෂ්පාදන අංශයට ප්‍රතියෝජනා ඉදිරිපත් කිරීම

පාරිභෝගිකයාට භාණ්ඩ ලබා දෙන බෙදාහැරීමේ ක්‍රමයක් ක්‍රියාත්මක කිරීම



ඉලක්ක වෙළෙඳපොළ හඳුනා ගැනීම

වෙළෙඳපොළ ඛණ්ඩනය කිරීම
- ගෙවල් විසිතුරු කරන්නන්ට අවශ්‍ය භාණ්ඩ
- මල් වවන්නන්ට අවශ්‍ය භාණ්ඩ
- ගෘහණියන්ට අවශ්‍ය භාණ්ඩ
- හෝටල් අලංකරණයට අවශ්‍ය භාණ්ඩ
- කුඩා ළමුන්ගේ සෙල්ලම් මැටි භාණ්ඩ

භාණ්ඩවල විකුණුම් මිල තීරණය කිරීම

අලෙවි ප්‍රවර්ධන උපාය මාර්ග තීරණය කිරීම හා ක්‍රියාත්මක කිරීම

### 3. මුදල් හා ගිණුම් කටයුතු අංශය

අවශ්‍ය අවස්ථාවල දී ණය මුදල් සපයා ගැනීම

ආදායම් වියදම් දැක්වෙන ආදායම් ප්‍රකාශනයක් පිළියෙල කර ලාභය හෝ අලාභය සෙවීම

මුදල් ලැබීම් හා මුදල් ගෙවීම් සම්බන්ධ මුදල් ලේඛනයක් පවත්වාගෙන යාම



ලාභය අනුව ව්‍යාපාරයේ ප්‍රගතිය මැන බැලීම හා ප්‍රතිපෝෂණ යෝජනා ඉදිරිපත් කිරීම

සියලු ගනුදෙනු ක්‍රමවත්ව ලියා තැබීම

බැංකුවේ මුදල් තැන්පත් කිරීම් හා ආපසු ලබා ගැනීම් වැනි කාර්යයන් ඉටු කිරීම

### 4. මානව සම්පත් කළමනාකරණ හා තොරතුරු සැපයීමේ අංශය

විසිතුරු මැටි කර්මාන්තය සඳහා ලබාගත හැකි උපකාරක සේවා ලබාගත හැකි ආයතන, සංවිධාන හා පුද්ගලයින් හඳුනා ගැනීම

බාහිර පරිසරයෙන් උද්ගතවන තර්ජන, රජයේ දැඩි නීතිරීති, පුහුණු ශ්‍රමය නොමැතිකම වැනි ගැටලුවලට විසඳුම් ලබා ගැනීමට තොරතුරු රැස් කිරීම

මැටි කර්මාන්තය ආශ්‍රිත ගැටලුවලට විසඳුම් ලබා ගැනීමට උපදෙස් ලබා ගත හැකි ආයතන හා පුද්ගලයින්ගේ සහාය ලබා ගැනීම හා ඒවා අදාළ අංශ වෙත යොමු කිරීම



අවශ්‍ය උපකාරක සේවා අවශ්‍යතා අනුව අංශවලට ලබාදීම

සේවක ප්‍රශ්නවලට විසඳුම් ලබා දීම

ව්‍යාපාර නීතිරීති රාජ්‍ය ප්‍රතිපත්ති ආචාර ධර්ම පිළිබඳ තොරතුරු සැපයීම

සියලු අංශවල කටයුතු සම්බන්ධීකරණය කිරීමට අවශ්‍ය තොරතුරු සැපයීම

මෙම පොතෙහි ඇතුළත් කර ඇති සියළුම පින්තූර අන්තර්ජාලය ඇසුරෙන් ලබා ගෙන ඇත.